# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)

අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ

අතිගරු දයා ෂෙල්ටන් වැලිකඩආරච්චි පියතුමා

**සංස්කාරක මණ්ඩලය**

අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා - ජාතික අධ්‍යක්ෂ, කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය, කොළඹ 08

ගරු එම්.ජී.එල්. ප්‍රනාන්දු පියතුමා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,
ආගමික හා සාරධර්ම අංශය,
අධ්‍යාපන අමාත්‍යාංශය

ගරු ඩී.එම්.ඩී.ඒ. ජූඩ් සී. දසනායක පියතුමා - බාහිර කථිකාචාර්ය, වයඹ ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය, බිංගිරිය

ගරු කාල්ටන් ද සිල්වා පියතුමා - කථිකාචාර්ය, ආගමික හා සාරධර්ම අංශය
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

ගරු එස්. අන්ද්‍රයාස් ඒබ්‍රහම් ප්‍රනාන්දු පියතුමා - සහකාර කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

**ලේඛක මණ්ඩලය**

ගරු මේරි නිමල්කා පැවිදි සොයුරිය - ගුරු වෘත්තිය, සාන්ත ජෝශප් පිරිමි විදුහල, නුගේගොඩ

එස්.ජී.කේ.ඩී.එල්.සී. ප්‍රසාද් - ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, හෝමාගම

කේ. පද්මිණී එස්තර් පෙරේරා - ගුරු උපදේශිකා, කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, කැලණිය

ඩබ්.කේ.එම්.අයි.එස්.කේ. ප්‍රනාන්දු - ගුරු උපදේශිකා (විශ්‍රාමික)

එම්.එස්. රේණුකා ප්‍රනාන්දු - ගුරු වෘත්තිය, බෝලවලාන නිමල මරිය මහා විදුහල, මීගමුව

බී. අයි. ජෝසප් - ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මීගමුව

ජේ. ෆිලෝමීන් - ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මඩකලපුව

ගරු ජසින්තා ප්‍රනාන්දු පැවිදි සොයුරිය - විදුහල්පති (විශ්‍රාමික)

ටී. අයි. රංගනායගම් - ගුරු වෘත්තිය, සාන්ත අනිතෝනි බාලිකා මහා විදුහල, කොල්ලුපිටිය

### භාෂා සංස්කාරක

අචින්ත්‍ය බණ්ඩාර - සහකාර කථිකාචාර්ය, සිංහල අංශය කොළඹ විශ්වවිද්‍යාලය

### සෝදුපත් කියවීම

ගරු මේරියස් ක්‍රිසාන්ත ප්‍රනාන්දු පියතුමා - විදුහල්පති, නායකකන්ද අගරදගුරු ම.වි හැඳල, වත්තල

### පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය

එල්.ඒ සඳුනි තිලංකා පත්මසිරි - පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

### පිටකවරය

සජිත් ඉෂාන් හෙට්ටිආරච්චි

# පටුන

පිටු අංකය

# හැඳින්වීම

කතෝලික ධර්මය ශුද්ධ බයිබලය සහ සභා සම්ප්‍රදාය මත පදනම් වී ඇත. එනම් ශුද්ධ බයිබලය සහ සභා ඉගැන්වීම් එහි අත්තිවාරම ය. මෙම පෙළපොත සම්පාදනය කිරීමේ දී ශුද්ධ බයිබලය සහ කතෝලික සභා ධර්මෝපදේශය පදනම් කොටගෙන ඇත. කතෝලික සභා ධර්මෝපදේශය තුළ සම්ප්‍රදායයෙන් එන ශු. සභාවේ නිල ඉගැන්වීම් ආවරණය කර ඇත.

මෙම පෙළපොතේ තේමා පහක් මත පාඩම් 25ක් අඩංගු වී ඇත. පළමු තේමාවෙන් ශුද්ධ බයිබලය පිළිබඳ අවබෝධය ද දෙවන තේමාවෙන් දේව අනාවරණයට ප්‍රතිචාර දක්වමින් විශ්වාසයේ ජීවිතයක් ගත කිරීම ද, තුන්වන තේමාවෙන් දේව ප්‍රසාද නිධාන මගින් ක්‍රිස්තුන් වහන්සේට සම්බන්ධ වී නව ජීවිතයකට සාක්ෂි දැරීම ද හතරවන තේමාව මගින් දේව පනත් පිළිපදිමින් ප්‍රේමයේ ජීවිතයක් ගත කිරීම ද පස්වන තේමාව මගින් යාච්ඤාවෙන් පෝෂණය ලබා දෙවියන් වහන්සේ සමග ද මනුෂ්‍යා සමග ද ගැඹුරු සම්බන්ධතාවක් ගොඩ නගා ගැනීම පිළිබඳ ව ද සාරවත් කරුණු විස්තර කර ඇත.

ඔබේ ප්‍රසාද ස්නාපනීය කැඳවීම තුළ ආරම්භ කළ විශ්වාසයේ ජීවිතයට සාක්ෂි දරන්නට ආධ්‍යාත්මික පෝෂණය ලැබෙන ඉගෙනුම් ඉගැන්වීමකට ඔබ යොමු වේවා! යි ප්‍රාර්ථනා කරමි. රටට දැයට වැඩදායි ගුණ ගරුක යහපත් කිතුනුවකු, ධර්මිෂ්ඨ මනුෂ්‍යයකු ඔබ තුළින් බිහිවේවා!

ජේසු පිහිටයි!
අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා
ධර්මෝපදේශය සහ බයිබල් සේවා ජාතික අධ්‍යක්ෂ

# 1 පුරාණ ගිවිසුමේ පොත් වර්ගීකරණය




1.1 රූපය - ශුද්ධ බයිබලය

දේව අනාවරණයේ ලිඛිත මූලාශ්‍රය වන ශුද්ධ බයිබලය කිතුනුවන්ගේ අති පූජනීය ග්‍රන්ථය යි. එය එක් පොතක් නොව පොත් සමූහයකින් සමන්විත පුස්තකාලයකි. එහි ඇති පොත් හැත්තෑතුන ම ලියවී ඇත්තේ දේවානුභාවයෙනි.

ශුද්ධ බයිබලයෙහි ප්‍රධාන කර්තෘ දෙවියන් වහන්සේ වන අතර උපකාරක කර්තෘ මිනිසා වේ. ක්‍රි.පූ. 950-ක්‍රි.ව. 100 අතර කාලය තුළ ශුද්ධ බයිබලය ලේඛන ගත ව ඇති බව සාමාන්‍ය පිළිගැනීම යි. ශුද්ධ බයිබලය ප්‍රධාන කොටස් දෙකකට බෙදිය හැකි ය. එනම්, පුරාණ ගිවිසුම හා නව ගිවිසුම යි. පුරාණ ගිවිසුමේ පොත් 46ක් ඇති අතර ඒවා කොටස් 5කට බෙදිය හැකි ය.

**පුරාණ ගිවිසුම (පොත් 46)**

**පංච පුස්තකය**
1. උත්පත්ති
2. නික්මයාම
3. ලෙවී ව්‍යවස්ථාව
4. ගණන් කථාව
5. ද්විතීය නීති සංග්‍රහය

**ඉතිහාස පොත්**
1. ජෝෂුවා
2. විනිශ්චයකාරයෝ
3. රූත් කථාව
4. 1 සාමුවෙල්
5. 2 සාමුවෙල්
6. 1 රාජාවලිය
7. 2 රාජාවලිය
8. 1 වංශාවලිය
9. 2 වංශාවලිය
10. එස්රා
11. නෙහෙමියා
12. තෝබිත්
13. ජුඩිත්
14. එස්තර්
15. 1 මකබි
16. 2 මකබි

**ප්‍රඥා සාහිත්‍යය**
1. ජෝබ්
2. ගීතාවලිය
3. හිතෝපදේශය
4. ධර්මදේශකයා
5. ප්‍රේම ගී
6. ප්‍රඥාව
7. සිරාක්

**දිවැසිවර ග්‍රන්ථ**
1. යෙසායා
2. ජෙරමියා
3. විලාප ගී
4. බාරුක්
5. එසකියෙල්
6. හොසියා
7. ජෝවෙල්
8. ආමොස්
9. ඔබදියා
10. ජෝනා
11. මීකා
12. නාහුම්
13. හබක්කුක්
14. ශෙපනියා
15. හග්ගායි
16. සෙකරියා
17. මලාකි

**එළිදරව් සාහිත්‍යය**
1. දනියෙල්

## ශුද්ධ බයිබලයේ ඉතිහාස පොත්

පුරාණ ගිවිසුම තුළ අඩංගු වන්නේ, ගැලවීමේ ඉතිහාසය යි. ගැලවීමේ ඉතිහාසය යනු ඓතිහාසික සිදුවීම්, කාල වකවානු, පුද්ගල චරිත යනාදිය පිළිබඳ හුදු වාර්තාකරණයක් නොවේ. ඉශ්‍රායෙල් ජනතාවගේ අත්දැකීම්, සිද්ධීන් යනාදිය විශ්වාසයේ ඇසින් අර්ථකථනය කිරීමකි. ඒ මන්ද යත් එහි පරමාර්ථය දේව විශ්වාසය වර්ධනය කිරීම යි. විවිධ සිද්ධීන් තුළ ඉශ්‍රායෙල් ජාතිය දෙවියන් වහන්සේ අත්දුටු ආකාරය මෙහි අඩංගු ය. මෙහි ඉතිහාස පොත් 16කි. ඒවා ඉහත සටහනින් හඳුනා ගන්න.

ජෝෂුවා සිට 2 රාජාවලිය දක්වා පොත් අධ්‍යයනයේ දී පැහැදිලි වන කරුණක් වනුයේ සීනයි ගිවිසුමට (දස පනතට) පක්ෂපාතී ව කටයුතු කරන තරමට නායකයකුගේ හෝ ඉශ්‍රායෙල් ජාතියේ නැගීම හෝ වැටීම සිදු වූ බව යි. එනම්, ගිවිසුමට පක්ෂපාතී වීම දේව ආශිර්වාදය ලැබීමට හේතු වන අතර, එයට පිටුපෑම පුද්ගලයාගේ හෝ ජාතියේ වැටීමට හේතු වන බව ය. එහෙයින් සීනයි ගිවිසුමට හෙවත් දස පනතට අනුව ජීවත් වන තරමට අපට ද දේව ආශිර්වාදය හිමි වේ.

රූත් කථාව හා එස්තර්, ජනප්‍රිය ඓතිහාසික කෘතින් 2කි. ඒවායෙහි පුද්ගලයින් හෝ ජනතාවගේ ගැටලු හා ඒවාට විසඳුම් දේව වේදීය දෘෂ්ටි කෝණයකින් ඉදිරිපත් කර ඇත.

එස්රා හා නෙහෙමියා පොත්වල මූලික ව ම සඳහන් වන්නේ, බබිලෝනියානු විප්‍රවාසයෙන් පසු ජුදා ජාතියේ සමාජයීය හා ආගමික ප්‍රතිස්ථාපනය පිළිබඳ කරුණු ය.

මේ අනුව බලන කල, පුරාණ ගිවිසුමේ ඉතිහාස පොත් දේව වේදීය ඉතිහාස කතා ලෙස හැඳින්විය හැකි අතර, ඒවායින් සනාථ වන්නේ, මිනිස් ඉතිහාසය තුළ දෙවියන් වහන්සේ ක්‍රියාකාරී වන බව ය.

## ශුද්ධ බයිබලය හා ජීවන සභා සම්ප්‍රදාය

කතෝලික ධර්මය දේව වචනය මත පදනම් වූවකි. දෙවියන් වහන්සේ ලෝකය මවා වදාළේ ද දේව වචනයේ බලයෙනි. මෙම දේව වචනය පරම්පරාවෙන් පරම්පරාවට දයාද කරන ලද්දේ වාචික සම්ප්‍රදාය තුළිනි. උදහරණයක් ලෙස, නව ගිවිසුමේ පළමු සුබාරංචි ග්‍රන්ථය වන්නේ මාක් සුබාරංචිය ය. එය ලේඛන ගත වූයේ ක්‍රි.ව. 64-66 කාලයේ දී ය. එතෙක් ක්‍රිස්තුන් වහන්සේ වදාළ කිසි ම වචනයක් සුබාරංචියකට ගොනු වී නොතිබිණි. එතැන් සිට ක්‍රිස්තුන් වහන්සේ කළ කී දේ සුබාරංචි හතරකට ගොනු වුව ද එලෙස ලේඛන ගත වූයේ උන්වහන්සේ කළ කී දේවලින් අතලොස්සක් පමණි. එයට ජොහන් සුබාරංචිය මෙලෙස සාක්ෂි දරයිඃ "මේ පොතෙහි ලියා නැති වෙනත් බොහෝ හාස්කම් ජේසුස් වහන්සේ සිය ශ්‍රාවකයන් ඉදිරියෙහි සිදු කළ සේක"(ජොහන් 20:30). "ජේසුස් වහන්සේ කළ තවත් බොහෝ දේ ඇත. ඒවා එකින් එක ලීවොත් ලියවෙන ඒ පොත්වලට මුළු ලෝකය වුවත් ඉඩ මදි යයි සිතමි"(ජොහන් 21:25).

මේ අනුව ලේඛන ගත වී නැති ජේසුස් වහන්සේ කළ කී දේ බොහෝ ඇති බව පැහැදිලි ය. ඒවා ශු. සභා මාතාව විසින් අපට "ජීවන සභා සම්ප්‍රදාය" ඔස්සේ දනය කරන්නී ය.

ජීවන සභා සම්ප්‍රදය තුළ අඩංගු ඉගැන්වීම් ද දේව වචනය වන්නේ ය. එම දේව වචනය ද සදහට ම පවතී. එය ශුද්ධ වූ පේදුරු තුමාගේ වචනවලින් පැහැදිලි වේ. "ස්වාමීන් වහන්සේගේ වචනය සදහට ම පවතියි. මේ වචනය නම් ඔබට "දේශනා කරන ලද" සුබ අස්න ය (1 පේදුරු 1:25).

මේ අනුව දේව වචනයේ (අනාවරණයේ) මූලාශ්‍ර දෙකකි.

1. ශුද්ධ බයිබලය
2. ජීවන සභා සම්ප්‍රදය (Living Tradition of the Church)

ජීවන සභා සම්ප්‍රදය තුළ අපෝස්තුලුවරුන්ගේ සිට පැවත එන ඉගැන්වීම් අන්තර්ගත වේ. මෙය කතෝලික සභාවේ අනන්‍යතාව මැනවින් විදහා දක්වයි. මන්ද යත් අන් සැම කිතුනු සභාවක් ම පසු ව ආරම්භ වුව ද කතෝලික සභාව අපෝස්තුලුවරුන්ගේ සිට පැවත එන අතර අපෝසතුලුවරුන්ගේ සිට පැවත එන සභා සම්ප්‍රදයයන් ද කතෝලික සභාව සතු බැවිනි. එබැවින් එම සම්ප්‍රදයන් පිළිපදිමින් ඒවා තුළ අන්තර්ගත ඉගැන්වීම් හා වත්පිළිවෙත් කතෝලික සභාව අනුගමනය කරන්නේ ය. ශුද්ධ බයිබලයේ අන්තර් ගත නොවන යමක් ශුද්ධ වූ කතෝලික සභාව අනුගමනය කරන්නේ ද ඒවා ජීවන සභා සම්ප්‍රදයයෙන් ලැබී ඇති අතර ශුද්ධාත්මයාණන් වහන්සේගේ ආලෝකය තුළ තව දුරටත් ඒවා පෝෂණය වී ඇත්තේ ය.

### ක්‍රියාකාරකම

1. දේව අනාවරණයේ ප්‍රධාන මූලාශ්‍ර දෙක නම් කරන්න.
2. ශුද්ධ බයිබලයේ අඩංගු නොවන නමුත් කතෝලික සභාව අනුගමනය කරන හා උගන්වන කරුණු ලැබී ඇත්තේ කුමන මූලාශ්‍රයකින් ද?
3. පුරාණ ගිවිසුමේ පොත් වර්ගීකරණය අනුව නික්මයාම, ජෝෂුවා, ගීතාවලිය, ජෙරමියා හා දනියෙල් පොත් අයත් පොත් කාණ්ඩ වෙන වෙන ම නම් කරන්න.
4. ආගමික ඉතිහාසයක් යනු කුමක් ද?
5. ඔබගේ ජීවිතය තුළ දෙවියන් වහන්සේ අත්දුටු අවස්ථාවක් ලියන්න.

*ජීවිතය සඳහා*

- *එදිනෙදා ජීවිත ප්‍රශ්නවලට පිළිතුරු ශුද්ධ බයිබලයෙන් සොයමු.*
- *අප ජීවිත තුළ ක්‍රියා කරන දෙවියන් වහන්සේ ව හඳුනා ගනිමු.*
- *දස පනත අනුසාර කරමින් දැහැමි ජීවිතයකට යොමු වෙමු.*
- *ජීවිත සංසිද්ධීන් දෙස විශ්වාසයේ ඇසින් බලමු*
- *දුක් කම්කටොලු බාධක ප්‍රශ්න හමුවේ විකල්ප මාර්ග කරා යොමු නොවී, විශ්වාසයට සාක්ෂි දරමු.*

# 2 නව ගිවිසුමේ පොත් වර්ගීකරණය

නව ගිවිසුම

ශුභාරංචි හා අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත (5)

1. මතෙව් ශුභාරංචිය
2. මාක් ශුභාරංචිය
3. ලූක් ශුභාරංචිය
4. ජොහන් ශුභාරංචිය
5. අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත

හසුන් (21)

ශු. පාවුලු තුමාගේ ලිපි (13)

1. රෝම
2. 1 කොරින්ති
3. 2 කොරින්ති
4. ගලාති
5. එපීස
6. පිලිප්පි
7. කොලොස්සි
8. 1 තෙසලෝනික
9. 2 තෙසලෝනික
10. 1 තිමති
11. 2 තිමති
12. තීතස්
13. පිලමොන්

වෙනත් ලිපි (8)

1. හෙබ්‍රෙව්
2. ජාකොබ්
3. 1 පේදුරු
4. 2 පේදුරු
5. 1 ජොහන්
6. 2 ජොහන්
7. 3 ජොහන්
8. ජුද්

එළිදරව් සාහිත්‍යය (1)

1 එළිදරව් පොත

දහම් පාසලේ ප්‍රධාන දහම් ගුරුතුමිය වෙත දහවන ශ්‍රේණියේ ළමුන්ගෙන් අලුත් යෝජනාවක් ඉදිරිපත් විණි. ඒ දහම් පාසලේ අකුරු කියවීමට හා ලිවීමට අපහසු ළමුන් එකතු කර ඔවුන්ට ඉගැන්වීම යි. ඉහත යෝජනාව මීසම් සේවක පියතුමාගේ අවසරය ඇති ව ක්‍රියාත්මක වූ අතර දහවන ශ්‍රේණියේ සිසුන් ඉගැන්වීමේ ක්‍රියාවලියෙහි උනන්දුවෙන් නිරත වූහ. ළමුන්ගේ උනන්දුව හා උත්සාහය ගැන පැහැදුණු මීසම්වාසීන් ද ඔවුන්ට ආහාරපාන, ලිපි ද්‍රව්‍ය ආදියෙන් සහයෝගය දැක්වූහ.

මේ පිළිබඳ ආරංචිය ලැබූ ගමේ අනෙකුත් දරුවන් ද ආගම් හා ජාති භේදයකින් තොර ව වැඩසටහනට සහභාගි වූ අතර ළමුන්ගේ මේ ප්‍රයත්නයට ප්‍රසාදය පළ කළ පියතුමා හා මීසම්වාසීහු ඔවුන් ව තව තවත් ධෛර්යවත් කළහ.

මේ ආකාරයට කටයුතු කිරීමේ දී අපෝස්තලික සභාව අපට අනගි ආදර්ශයක් සපයන අතර ඒ පිළිබඳ ව අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොතේ සඳහන් වේ.

## අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත

අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොතෙහි කතුවරයා ලූක් ශුභාරංචිය ලියූ ශු. ලූක් තුමා ය. ක්‍රියා පොත, ලූක් ශුභාරංචියේ දෙවන කාණ්ඩය ලෙස සලකනු ලැබේ. මෙම පොත් දෙක ම පිළිගන්වා ඇත්තේ, "තියෝපිලස්" නමැති උසස් නිලයක් දරූ තැනැත්තකුට ය (ලූක් 1:1-4, ක්‍රියා 1:1). එම නමෙහි අර්ථය වන්නේ, "දෙවියන් වහන්සේගේ මිත්‍රයා" යන්න යි.

ශු. ලූක් තුමා ඉතිහාසඥයෙකි; චිත්‍ර ශිල්පියෙකි; වෛද්‍යවරයෙකි. ශු. පාවුලු තුමාගේ දෙවන හා තෙවන ධර්මදූත චාරිකාවලට එතුමා සම්බන්ධ වී ඇත.

අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත රචනා වී ඇත්තේ, ග්‍රීසියේ "අක්කායා" නම් ස්ථානයේ ක්‍රි.ව. 80-90 අතර කාලයේ විය හැකි ය.

ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පරිපූර්ණ වූ අපෝස්තුලුවරු ජෙරුසලමෙන් හා ජුදයාවෙන් සුබ අස්න දේශනා කිරීමට පටන් ගෙන සමාරියන් හා අන්‍ය ජාතීන් වෙතටත් අවසානයේ පොළොවේ සීමාන්තයන් දක්වාත් සුබ අස්න දේශනා කිරීම මෙහි අන්තර්ගත වේ (ක්‍රියා 1:8). එම නිසා දෙවියන් වහන්සේගේ මිතුරකු වී, ජේසුස් වහන්සේ පිළිබඳ සුබාරංචිය අන් අය වෙත ගෙන යාමට උත්සාහ කළ යුතු ය.

### අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොතෙහි සැකැස්ම

i. ධර්මදූත සේවයට සූදානම (ක්‍රියා 1)
ii. ජෙරුසලමෙහි සාක්ෂි දැරීම (ක්‍රියා 2-7)
iii. ජුදයේ හා සමාරියේ සාක්ෂි දැරීම (ක්‍රියා 8-12)
iv. ශුද්ධ වූ පාවුලු තුමාගේ ධර්මදූත සේවය (ක්‍රියා 13-28)

## ක්‍රියාකාරකම

| | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| කො | රි | න් | ති | අ | හෙ | බෙ | ච් | ල | එ |
| ති | මා | රා | ජෝ | කො | ලො | ස් | සි | පී | ක |
| ලූ | ක් | ටු | හ | ප | ග | තෙ | ස | ලෝ | නි |
| ඩූ | නී | රෝ | න් | වි | ට | පි | ල | මො | න් |
| එ | ජ | ම | තෙ | ව් | තී | ලු | ලි | වා | හේ |
| ළි | පේ | රේ | ග | කූ | ත | ජො | තූ | ප් | ත |
| ද | දු | අ | ක් | ලා | ස් | හ | ඨ | ද | පි |
| ර | රු | සේ | ජා | මා | ති | න් | න | ජු | ත |
| ච් | ල | කො | ව | රෝ | ම | ලි | ග | ද් | යා |
| ව | බ් | ඉ | ප | පේ | ති | පි | ජ | ක්‍රි | ඩ |

1. ඉහත සඳහන් වගුවෙහි නව ගිවිසුමෙහි පොත් සැඟ ව ඇත. ඒවා තෝරා ලකුණු කරන්න.
2. මුල් කිතුනු සභාවේ ලක්ෂණ **හතර** ලියන්න.
3. දෙවියන් වහන්සේගේ මිතුරකු වීමට ඔබට කළ හැකි කාර්ය **හතරක්** ලියන්න.
4. අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත පිළිබඳ නිර්මාණයක් කර, ළමා ප්‍රදීපයට යවන්න.

*ජීවිතය සඳහා*

- *නිවස තුළ දිනපතා යාච්ඤාවේ දී අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොතෙන් කොටසක් කියවන්න.*
- *මුල් කිතුනු සංඝය තුළ වූ ගුණාංග ඔබේ නිවස තුළ පුහුණුවීමට මූලිකත්වය ගන්න.*
- *ඔබේ පන්ති කාමරය තුළ බෙදා හදා ගෙන සහයෝගයෙන් වැඩ කරන්න.*
- *ඔබගේ ජීවිත ආදර්ශයෙන් සුබ අස්න පතල කරන ධර්මදූතයකු වන්න.*

# 3 සංදේශ වර්ගීකරණය

**හෂේන් :** අම්මේ, මේ බලන්න.

**අම්මා :** මොනවද පුතා?

**හෂේන් :** මගේ ලිපිය පත්තරේ පළ වෙලා.

**අම්මා :** ඇත්ත නේන්නම්. "සුබවාදී ව ජීවත්වීම අභියෝගයක් ද?" මට හරි ආඩම්බරයි පුතා ගැන. ඔයා පුංචි කාලෙ ඉඳල ම ලියන්න දක්ෂ යි.

**හෂේන් :** මටත් හරි සතුටුයි අම්මේ, මගේ ලිපිය ගොඩක් දෙනා කියවයි. පන්තියේ ටීචත් මට කීවා, කාලය තියන හැම වෙලාවක ම ලියන්න කියලා.

**අම්මා :** ඒක තමයි පුතා, ඔයා හොඳ ලේඛකයෙක් වෙන්න ඕනෑ. ලේඛකයකුට සමාජයට විශාල සේවයක් කරන්න පුළුවන්. ඒ වගේ අය කොච්චර ඉන්නව ද? පුතා දන්නවානේ නව ගිවිසුමේ අපට වැදගත් වන සුවිශේෂී ලේඛකයෙක් තමයි ශුද්ධ වූ පාවුලු තුමා.

**හෂේන් :** ශුද්ධ වූ පාවුලු තුමා මුල් කිතුනු සංසයට ලේඛකයෙක් ලෙස වැඩි සේවයක් ඉටු කළා. එතුමා තමා නව ගිවිසුමේ වැඩි ම පොත් ගණනක් ලිව්වේ, මටත් ආසයි ඒ වගේ වෙන්න.

අපෝස්තලික යුගයේ දී ශුද්ධ වූ සභාවට මහඟු සේවයක් කළ විශිෂ්ඨ පුද්ගලයකු ලෙස ශුද්ධ වූ පාවුලු තුමා හැඳින්විය හැකි ය. නව ගිවිසුමේ හසුන් විසිඑකෙන් දහතුනක ම කර්තෘත්වය ශුද්ධ වූ පාවුලු තුමාට හිමි වේ. එතුමා මෙම ලිපි ලියා ඇත්තේ, විවිධ සංසවලට හා පුද්ගලයින්ට ය. කිතුනු සංසවලට උපදෙස් දීම සඳහා ලියූ එම ලිපිවලින් එතුමාගේ නායකත්වයත් විවිධ සංස සමග එතුමා සබඳතා පැවැත් වූ ආකාරයත් පැහැදිලි ය.

## ශු. පාවුලු තුමා ලිපි (හසුන්) ලිවීමේ පරමාර්ථ

### 1. කාර්ය බහුලත්වය නිසා කිතුනු සංස බැහැදකීමට යාමේ අපහසුව

ශුද්ධ වූ පාවුලු තුමාට යම් කිතුනු සංසයක් පෞද්ගලික ව හමුවිය නොහැකි අවස්ථාවල ලිපි මාර්ගයෙන් මඟ පෙන්වී ය. එමගින් ඒ ඒ කිතුනු සංසවල ගැටලු නිරාකරණය කිරීමට අමතර ව අවවාද අනුශාසනා දුන් බවත්, ඔවුන්ගේ විශ්වාසය ස්ථිර කළ බවත් පැහැදිලි ය. තව ද දේව ධාර්මික හා එඬේරික උපදෙස් ඒවායේ අන්තර්ගත වේ.

## 2. සිරගත ව සිටීම නිසා කිතුනු සංඝ බැහැදකීමට යාමේ නොහැකියාව

සිරගත ව සිටීම නිසා කිතුනු සංඝ බැහැදකීමට යාමේ නොහැකියාව නිසා ද ශුද්ධ වූ පාවුලු තුමා ලිපි ලීවේ ය. උදහරණ :-

1. කොලොස්සි නුවර බොරු ගුරුවරුන් වැරදි ඉගැන්වීම් කර තිබූ නිසා ඒවා නිවැරදි කිරීමට ශුද්ධ වූ පාවුලු තුමා සිර මැදිරියේ සිට ම කොලොස්සි ලිපිය ලියා ඇත.
2. ශුද්ධ වූ පාවුලු තුමා සිරගත ව සිටින විට ක්‍රිස්තු භක්තිකයින් විශ්වාසයේ ස්ථිර ව සිටින ලෙස දන්වා පිලිප්පි ලිපිය ලියා ඇත.
3. ශුද්ධ වූ පාවුලු තුමා පිලෙමොන් නමැති කිතුනු බැතිමතෙකුට ලියන ලද පෞද්ගලික ලිපිය ලියන ලද්දේ ද සිරගත ව සිටින අවස්ථාවක දී ය.

# ශුද්ධ වූ පාවුලු තුමාගේ හසුන් වර්ගීකරණය

## 1. ශුද්ධ වූ පාවුලු තුමා විසින් ම ලියන ලද සංදේශ

ශුද්ධ වූ පාවුලු තුමා විසින් ම ලියන ලද සංදේශ 7 කි. ඒවා නම් රෝම, 1 කොරින්ති, 2 කොරින්ති, ගලාති, පිලිප්පි, 1 තෙසලෝනික හා පිලෙමොන් ය.

## 2. ද්විතීය පාවුලු සංදේශ

ශුද්ධ වූ පාවුලු තුමාගේ අදහස් වෙනත් අය විසින් රචනා කර ඇති සංදේශ ද්විතීය පාවුලු සංදේශ වේ. ද්විතීය පාවුලු සංදේශ 3 කි. ඒවා නම්, එපීස, කොලොස්සි හා 2 තෙසලෝනික වේ.

## 3. ආරූඪ කර්තෘත්වය

ආරූඪ කර්තෘත්වයෙන් යුතු හසුන් 3කි. එනම්, 1 තිමති, 2 තිමති හා තීතස් වේ.

## වෙනත් හසුන්

ශුද්ධ වූ පාවුලු තුමාගේ හසුන්වලට අමතර ව වෙනත් සංදේශ 8ක් ද නව ගිවිසුමෙහි ඇත. මේවායින් හෙබ්‍රෙව්වරුන්ට යොමුවුණු හසුන හැර සෙසු කෘතීන් හත ම කිතු සමිඳුන්ගේ අපෝස්තුලුවරුන් වූ පේදුරු, ජොහන්, ජුද් හා ජාකොබ් තුමන්ලා විසින් ලියා ඇත. මේවා (කතෝලික සංදේශ, විශ්ව සංදේශ) හෝ සමාන්‍ය හසුන් ලෙස ද හඳුන්වනු ලැබේ.

## සංදේශ වර්ගීකරණය

- ශු. පාවුලු තුමාගේ සංදේශ (13)
  - ශු. පාවුලු තුමා විසින් ම ලියන ලද සංදේශ (7)
    1. රෝම
    2. 1 කොරින්ති
    3. 2 කොරින්ති
    4. ගලාති
    5. පිලිප්පි
    6. 1 තෙසලෝනික
    7. පිලෙමොන්
  - ද්විතීය පාවුලු සංදේශ (3)
    1. එපීස
    2. කොලොස්සි
    3. 2 තෙසලෝනික
  - ආරූඪ කතෘත්වය (3)
    1. 1 තිමති
    2. 2 තිමති
    3. තීතස්
- වෙනත් සංදේශ (8)
  1. හෙබ්‍රව්
  2. ජාකොබ්
  3. 1 පේදුරු
  4. 2 පේදුරු
  5. 1 ජොහන්
  6. 2 ජොහන්
  7. 3 ජොහන්
  8. ජූද්

### ක්‍රියාකාරකම

1. ශුද්ධ වූ පාවුලු තුමා විසින් ම රචිත සංදේශ 7 නම් කරන්න.
2. "ශුභාරංචිය පතළ කිරීමට කතෝලික ලේඛකයකුගේ දායකත්වය" යන මැයෙන් ශු. පාවුලු තුමාගේ සංදේශ පිළිබඳ කෙටි රචනාවක් ලියන්න.
3. ඉරුදින දිව්‍ය පූජාවේ දෙවන කියවීම සඳහා බොහෝ විට ශුද්ධ වූ පාවුලු තුමාගේ සංදේශ භාවිත කරයි. අද සිට මාස තුනක පමණ කාලයක් තුළ දී දෙවන කියවීම සඳහා ගනු ලබන ශුද්ධ වූ පාවුලු තුමාගේ සංදේශ මොනවාදැයි ඔබේ සටහන් පොතෙහි වගුගත කරන්න.

*ජීවිතය සඳහා*

- *දිනපතා ඔබේ යාච්ඤාවේ දී ශුද්ධ වූ පාවුලුතුමාගේ ලිපියකින් කොටසක් කියවා මෙනෙහි කරන්න.*
- *දිව්‍ය පූජාවේ දී කියවන කියවීම්වලට සාවදාන ව ඇහුම්කන් දෙන්න.*
- *පුවත්පත් සඟරා ආදියෙන් ශුද්ධ වූ පාවුලු තුමා පිළිබඳ විස්තර සොයාගෙන කියවා දැනුවත් වන්න.*

# 4 එළිදරව් සාහිත්‍යය

ලිකිරි ලිකිරි ලිකිරි ටියා
අලෙත් කුරන් ගිඳට ලියා
වඳ ලිට කර ගොබර කුයා
කකුල කාපි බය දිරියා

මෙම පද පේළිවලින් අදහස් වන පණිවිඩය ඔබට හඳුනා ගත හැකි ද? බැලූ බැල්මට එසේ කළ නොහැකි වුවත්, මෙහි ඇති පද පෙරළියෙන් ඔබට හුරු පුරුදු කවි පෙළක් හඳුනා ගත හැකි වේ.

සංකේත භාවිතයෙන් ලියා ඇති කෘතීන් දෙකක් ශුද්ධ බයිබලයෙහි ද ඇත. මේවා එළිදරව්වාදී ග්‍රන්ථ ලෙස හැඳින්වේ. ඒවා නම්;

1. පුරාණ ගිවිසුමෙහි දානියෙල් පොත
2. නව ගිවිසුමෙහි එළිදරව්ව පොත

අපට හුරුපුරුදු සංකේත කිහිපයක් විමසා බලමු.



4.1 රූපය - පදිකයින් මාරුවන ස්ථානයක්

මෙම සංකේතය හඳුනා ගැනීම හා ඒ අනුව ක්‍රියා කිරීම අනතුරුවලින් ආරක්ෂාවීමටත් ඒවා වළක්වා ගැනීමටත් උපකාරී වේ.



4.2 රූපය - ගිනිගත් නොදැවෙන පඳුර

මෙම රූපය මගින් දෙවියන් වහන්සේගේ වැඩ සිටීම සංකේතවත් කෙරේ.



4.3 රූපය - කුරුසිය

දේව ආදරයේ හා ක්‍රිස්තුන් වහන්සේගේ කීකරුකමේ සංකේතය කුරුසිය යි (රෝම 5:8, පිලිප්පි 2:8). කුරුසිය අපගේ ගැලවීමේ සලකුණ යි. කුරුසිය අපට ආභරණයක් නොව පූජනීය වූත් ශුද්ධ වූත් වස්තුවකි. කුරුසියට අමතර ව කිතුනු අපට ම ආවේනික ආගමික සලකුණු ඇති අතර අපි ඒවා ගෞරවයෙන් යුතු ව පරිහරණය කළ යුත්තෙමු.

මෙයින් පැහැදිලි වනුයේ;

- ⋆ සන්නිවේදන ක්‍රියාවලියේ දී සංකේත වැදගත් වන බවත්
- ⋆ සෑම සංකේතයකට ම විශේෂිත වූ අර්ථයක් ඇති බවත්
- ⋆ සංකේතයක අර්ථය නොදන්නා විට එහි පණිවිඩය තේරුම් ගත නොහැකි අතර එයට ප්‍රතිචාර දැක්වීමට ද නොහැකි බවත් ය.

## එළිදරව් සාහිත්‍යය බිහි වූ පරිසරය හා පරමාර්ථ

එළිදරව්ව සඳහා යෙදෙන ග්‍රීක වචනයේ අර්ථය, "සැඟ ව තිබූ යමක් ප්‍රකාශ වීම හෝ අනාවරණය වීම" යි. ඉශ්‍රායෙල් දිවැසිවරුන් ක්‍රමයෙන් අතුරුදහන් වන යුගයක බිහි වූ එළිදරව් සාහිත්‍යය, පීඩන යුගයක සතුරන්ගේ තර්ජනවලට ලක් වූ සැදැහවතුන් දිරි ගැන්වීමට ප්‍රයත්න දරා ඇත. උදහරණ : දානියෙල් පොත




### 1. ද්විත්වවාදය

යහපත් හා අයහපත් බලවේග අතර ගැටුමක් පෙන්නුම් කරයි.

### 2. යුගාන්තවාදය

පරම යහපත හා පරම අයහපත අතර ගැටුමෙන්, අනාගත දිනයක දී පරම යහපත ජයග්‍රහණය කර, සියලු නපුරු බලවේග විනාශ වී, ඇදහිලිවන්තයින් උදෙසා සෞභාග්‍යවත් කාලයක් උදවන බව අඟවයි. එම නිසා වර්තමානයේ කරදර, දුක්පීඩා

ඉවසා දරා ගැනීමට ආරාධනා කරයි. පීඩාකාරී බලය නියත ලෙස පරාජය වන බව යුගාන්තවාදය පෙන්නුම් කරයි. අප ජීවිතයෙහි හමුවන බාධක ගැටලුවලට ඉවසීමෙන් මුහුණදිය හැකි නම්, අවසානයේ ස්වර්ගීය සැපත ලබා ගත හැකි බව අපි මතකයේ තබා ගත යුත්තෙමු.

## 3. සංකේත භාවිතය

සංකේත භාවිතයෙහි පරමාර්ථ දෙකකි:

i සංකේතවල ඇති "ගුප්තභාවය" හෙවත් අභිරහස්මයබව නිසා එම ග්‍රන්ථ විරුද්ධවාදීන් අතට පත් වුව ද බිය විය යුතු නැත. මන්ද ඒවායේ ගැබ් ව ඇති තොරතුරු වටහා ගැනීමට සතුරන්ට නොහැකි වනු ඇත.

ii විරුද්ධවාදීන් අතට මෙවැනි කෘතින් පත් වුවත් ඒවා ඔවුනට තේරුම් ගත නොහැකි නිසා යහපත් අයගේ ආරක්ෂාව එමගින් සැලසෙයි.

මෙම සංකේත එක් අවස්ථාවක සරල බවක් පෙන්නුම් කරන අතර තවත් අවස්ථාවක සංකීර්ණ බවක් පෙන්නුම් කරයි.

### එළිදරව් සාහිත්‍යයේ එන සංකේත කිහිපයක් හඳුනා ගනිමු



4.4 රූපය - බැටළුවා



4.5 රූපය - මකරා

බැටළුවා - ක්‍රිස්තුන් වහන්සේ (එළිදරව්ව 5 පරිච්ඡේදය)

මකරා/මෘගයා - යක්ෂයා/පීඩාකාරී බලවේග (එළිදරව්ව 12 හා 13 පරිච්ඡේද)

**වර්ණ සංකේත**

| | |
|---|---|
| | සුදු - ජයග්‍රහණය (එළිදරව්ව 6:2) |
| | රතු - යුද්ධය ලේ වැගිරීම් (එළිදරව්ව 6:4) |
| | කළු - සාගතය (එළිදරව්ව 6:5) |
| | සුදුමැලි - මරණය (එළිදරව්ව 6:7) |

**සංඛ්‍යා සංකේත**

| | |
|---|---|
| 4 | විශ්වය (දානියෙල් 7:2) |
| 7 | පූර්ණත්වය (එළිදරව්ව 13:1) |
| 10 | පරිපූර්ණත්වය (එළිදරව්ව 17:3) |
| 12 | ඉශ්‍රායෙලය/දේව ජනතාව (එළිදරව්ව 21:1214) |

## 4. ආරූඪ නාමයකින් ඉදිරිපත් කර තිබීම

මෙමගින් කතුවරයාගේ ආරක්ෂාව සැලසීමට මෙන් ම ග්‍රන්ථයෙහි පණිවිඩය පාඨකයාගේ පිළිගැනීමට ලක් කිරීමට උපකාරී වේ. කතුවරයා ලෙස ප්‍රසිද්ධ ගත්කතුවරයකු හෝ ශ්‍රේෂ්ඨයකු හෝ සඳහන් කළ විට පණිවිඩයේ වටිනාකම තහවුරු කිරීමටත් එය පහසුවෙන් ප්‍රචලිත කිරීමටත් උපකාරී වේ. උදාහරණ :-

1. දානියෙල් ග්‍රන්ථය ක්‍රි.පූ. 167-164 පමණ සිරියානු අධිරාජ්‍යයේ iv ඇන්ටිඕකස් යටතේ ජුදා ජාතිකයින් දරුණු පීඩනයකට ලක් ව සිටි සමයක දී ලියවී ඇති නමුත්, ක්‍රි.පූ. 580 පමණ ජීවත් වූ දානියෙල් නමින් ඉදිරිපත් කර ඇත.
2. එළිදරව් පොත ක්‍රි.ව. 80-96 අතර කාලය තුළ ඩොමිෂියන් නම් රෝම අධිරාජ්‍යයා යටතේ වූ දරුණු පීඩන සමයක දී විශ්වාසයේ ස්ථිර ව පැවතීම සඳහා කිතුනුවන් ධෛර්යවත් කරනු පිණිස ලියවී ඇති බව පිළිගැනේ. එකල කිතුනු බැතිමතුන් රෝම අධිරාජ්‍යයා දේවත්වයෙහිලා වැඳුම් පිදුම් නොකිරීම ඔවුන් හිංසා පීඩාවන්ට භාජනය

වීමට මූලික හේතුවක් විය. එළිදරව්ව පොතෙහි කර්තෘත්වය ජොහන් අපෝස්තුලුතුමාට ආරූඪ කර ඇත.

### ක්‍රියාකාරකම

1. එළිදරව් සාහිත්‍යයේ ලක්ෂණ **හතර** නම් කරන්න.
2. එම ලක්ෂණ **හතර** කෙටියෙන් විස්තර කරන්න.

*ජීවිතය සඳහා*

★ *පවුලේ සියලු දෙනා ආශිර්වාද කරන ලද කුරුසියක් හෝ බොරලික්කමක් පළඳින්න.*

★ *ආගමික සංකේත මෝස්තර සඳහා යොදා ගන්නා සමාජයක එලෙස නොකරන්නට වග බලා ගන්න.*

# 5 ප්‍රඥා සාහිත්‍යය

නිමල් හා කමල් එක ම පාසලේ අධ්‍යාපනය ලැබූ යහළුවන් දෙදෙනෙකි. ඉගෙනීමෙන් පසු ඉක්මනින් පොහොසත් වීමට සිතූ නිමල්, වැරදි මාර්ගවලින් මුදල් ඉපයීමට වෙහෙස වූ අතර, ඔහු ඉතා ඉක්මනින් මහා ධනවතෙක් විය. කමල් තමන්ට ලැබුණු රැකියාවෙන් සෑහීමකට පත් ව සාමකාමී ජීවිතයක් ගත කළේ ය. සියලු සැප සම්පත් ලැබ සිටියත් තමන්ගේ ජීවිතයෙහි සතුට නැති බව නිමල් දිනක් කමල්ට පැවසුවේ දැඩි සංවේගයෙනි.

ප්‍රඥා සහගත ව සාමකමී නිවැරදි මාර්ගය තෝරා ගත් නිසා කමල්ට දැහැමි ජීවිතයක් ගත කිරීමට අවස්ථාව ලැබුණු බව අපට පැහැදිලි ය. ඔහුගේ ජීවිතයට සතුට ළඟා වූයේ ද ජීවිතය සාර්ථක වූයේ ද නිවැරදි මාර්ගය තෝරා ගත් නිසා ය. යහපතින් අයහපත වෙන්කර හඳුනා ගෙන, යහපත කිරීම ප්‍රඥාව යි.

ගිබියොන්හි ප්‍රධාන කඳු මත පූජාස්ථානය වූ බැවින් පූජා ඔප්පු කරනු පිණිස සලමොන් රජ එතැනට ගියේ ය. සලමොන් රජතුමා ඒ පූජාසනය පිට දවන යාග පූජා දහසක් පුද කළේ ය. ගිබියොන්හි දී දෙවි සමිඳාණෝ රාත්‍රියේ ස්වප්නයකින් සලමොන් රජතුමාට දර්ශනය වූ සේක.

| | | |
|---|---|---|
| **දෙවියන් වහන්සේ** | : | මා නුඹට දිය යුතු දෙය ඉල්ලන්න. |
| **සලමොන් රජතුමා** | : | ඔබේ දාසයා වූ මගේ පිය වූ දාවිත් ඔබ ඉදිරියෙහි සත්‍යවාදී ව ද ධර්මිෂ්ඨකමින් ද ඔබ සමඟ සිතේ අවංකකමින් ද හැසිරුණු පරිද්දෙන් ඔබ ඔහුට මහා කරුණාවක් පෙන් වූ සේක. තව ද අද තිබෙන හැටියට ඔහුගේ සිංහාසනය අරා හිඳින්න ඔහුට පුත්‍රයකු දීමෙන් මේ මහා කරුණාව නොනවත්වා පෙන්වූ සේක. දෙනුදු මාගේ දෙවි සමිඳුනි, ඔබ මාගේ පිය වූ දාවිත් වෙනුවට ඔබේ දාසයා රජ කොට පත් කළ සේක. මම ළා බාල කෙනෙක්මි. රට පාලනයේ දක්ෂකමක් මට නැත. ගණන් කළ නොහැකි අසංඛ්‍ය සමූහයක් වන ඔබ විසින් තෝරාගනු ලැබූ ඔබේ සෙනඟ මැද ඔබේ දාසයා සිටියි. එබැවින් ඔබේ මේ සෙනඟ විනිශ්චය කරන පිණිස, හොඳ නරක දැනගන්න පුළුවන් වන ලෙස ඥානවන්ත සිතක් ඔබේ දාසයාට දුන මැනව. මන්ද, ඔබේ මේ මහා සෙනඟ විනිශ්චය කරන්න කවරකුට පුළුවන් ද? |
| **දෙවියන් වහන්සේ** | : | නුඹ දීර්ඝායුෂ ඉල්ලන්නේවත් ධන සම්පත් ඉල්ලන්නේවත් නුඹේ සතුරන්ගේ ජීවිතය ඉල්ලන්නේවත් නැති ව විනිශ්චය තේරුම් ගැනීමට ඥානය ඉල්ලූ බැවින්, බලන්න, මම නුඹේ ඉල්ලීම එලෙස ඉටු කරමි. |

නුඹට සමාන කෙනකු නුඹට පළමුවෙන් සිටියේවත් නුඹට පසු ව සිටින්නේවත් නැතිවන ලෙස තියුණු නැණනුවණ නුඹට දෙමි. ඇරත් නුඹේ මුළු කාලයේ දී රජවරුන් අතරේ නුඹට සමාන කෙනකු නොවන ලෙස ධනය ද ගෞරවය ද යන නුඹ නොඉල්ලූ දේත් නුඹට දෙමි. තව ද, නුඹේ පිය වූ දාවිත් හැසිරුණු පරිදි නුඹ මගේ ආඥා ද පනත් ද රක්ෂා කරමින් මාගේ මාර්ගවල හැසිරෙන්නෙහි නම්, නුඹේ ආයුෂ ද වැඩි කරන්නෙමි.

(1 රාජාවලිය 3:4-14)

සලමොන් රජතුමා ලෞකික සැපසම්පත් නොව ප්‍රඥාව පමණක් ඉල්ලා යාච්ඤා කළ බැවින් දෙවියන් වහන්සේ ඔහුට සියලු යස ඉසුරු දුන් බව ශුද්ධ ලියවිල්ල පැහැදිලි කරයි. ප්‍රඥාව යනු බුද්ධිය හෝ විභාග සමත් වීම නොව යහපත හා අයහපත හඳුනාගෙන යහපත තම ජීවිතය තුළ ක්‍රියාත්මක කරමින්, දෙවියන් වහන්සේට ප්‍රසන්න දැහැමි ජීවිතයක් ගත කිරීම යි. ප්‍රඥාව ශුද්ධාත්ම දීමනාවකි. ඒ සඳහා අපි දිනපතා යාච්ඤා කරමු.

## ප්‍රඥාව

පැරණි ගිවිසුම තුළ ප්‍රඥාව සඳහා යෙදෙන හෙබ්‍රෙව් වචනය වන්නේ "හොක්මා" ය. එහි අර්ථය වන්නේ, සාර්ථක ව හා ධර්මිෂ්ඨ ව ජීවත්වීමේ හැකියාව යි.




### පවුල හා ගෝත්‍රික ප්‍රඥාව

පවුල හා ගෝත්‍රය සංරක්ෂණය වීම සඳහා වූ සම්ප්‍රදායයන්, උපදේශ හා නීතිරීති මෙයට අයත් වේ. මෙම ප්‍රඥාව පවුල හා ගෝත්‍රය සුරැකෙන පිණිස වූ මඟපෙන්වීමකි. (සිරාක් 3 පරිච්ඡේදය)

### රාජ්‍ය සභා ප්‍රඥාව

රාජ්‍ය පාලනය හා අනෙකුත් පරිපාලන ක්ෂේත්‍රයන් ඉලක්ක කරගෙන යෞවනයන් පුහුණු කිරීම මෙහි අරමුණ යි. මෙය බොහෝ දුරට සමාජයේ ප්‍රභූ පන්තිය සඳහා වූවකි (සලමොන්ගේ ප්‍රඥාව 6:1-11).

### අභිධාර්මික ප්‍රඥාව

ජීවිත හරය, එහි ගැටලු, විනිශ්චය පිළිබඳ සංකල්පනා ආශ්‍රිත ව කෙරෙන විග්‍රහයකි (ජෝබ්, ධර්මදේශකයා).

### එදිනෙදා ජීවිතය සම්බන්ධ ප්‍රඥාව

කෙනකු එදිනෙද ජීවිතයේ මුහුණ දෙන අවස්ථා පිළිබඳ ව උපදේශන මෙයට ඇතුළත් වේ (හිතෝපදේශය 6 හා 25).

### ප්‍රඥා සාහිත්‍යයට අයත් ග්‍රන්ථ හතකි:

1. ජෝබ්
2. ගීතාවලිය
3. හිතෝපදේශය
4. ධර්මදේශකයා
5. ප්‍රේම ගී
6. ප්‍රඥාව
7. සිරාක් හෙවත් උපදේශකයා

## ප්‍රඥාව ඉදිරිපත් කර ඇති සාහිත්‍යමය ස්වරූප

පුරාණ ගිවිසුම තුළ ප්‍රඥාව ඉදිරිපත් කිරීමේ දී විවිධත්වයක් දක්නට ලැබේ. එනම්, ප්‍රස්ථාව පිරුළු (හිතෝපදේශය), උපදේශ (උපදේශකයා හෙවත් සිරාක්), කථාන්දර (ජෝබ්), සංකල්පනා (ධර්මදේශකයා), ගීත (ප්‍රේම ගී) ආදිය එයින් සමහරකි. ප්‍රඥා සාහිත්‍යය තුළ මෙවැනි අගනා සාහිත්‍ය අංග දක්නට ලැබේ.

## ප්‍රඥා සාහිත්‍යයේ අරමුණු හා එහි ආධ්‍යාත්මිකත්වය

ප්‍රඥා සාහිත්‍යයේ ප්‍රධාන අරමුණ වූයේ, බුද්ධිමය ව්‍යායාමයකට වඩා, ධර්මිෂ්ඨ හා නිවැරදි ලෙස දිවිගෙවීමට දේව ජනතාව උනන්දු කොට, දෙවියන් වහන්සේට ප්‍රියමනාප දිවියක් ගත කිරීමට යොමු කිරීම යි. මෙහි දී සමාජ පරිපාලනය මෙන් ම ජීවිතයේ අරුත හා සීමාවන් ද අවබෝධ කර දෙයි. මෙම කරුණු දෙවිඳුන්ට ප්‍රසන්න අරුත්බර ජීවිතයක් ගත කිරීමට පිටුවහලක් වූ බව නොඅනුමාන ය.

එහෙයින් ප්‍රඥාවන්ත ව කටයුතු කිරීම යනු එදිනෙද ජීවිතය තුළ යහපත පමණක් තෝරාගෙන කටයුතු කිරීම යි. දේව මැදිහත්වීම තුළ පමණක් එසේ කිරීමට හැකි නිසා දිනපතා ඒ සඳහා දෙවිඳුන් යදිමු.

"හුදෙක් නුඹේ ම නුවණෙහි නොපිහිටා, මුළු හිතින් හිමි තුම කෙරෙහි විශ්වාසය තබන්න. හැම දෙයක දී ම සමිඳුන් සිහි කරන්න; එතුමා ඔබට හරි මඟ පෙන්වනු ඇත."

(හිතෝපදේශය 3:5-6)

## ක්‍රියාකාරකම

1. ප්‍රඥා සාහිත්‍යයට අයත් ග්‍රන්ථ **හත** නම් කරන්න.
2. ප්‍රඥාවේ ප්‍රභේද **හතර** ලියන්න.
3. ඔබේ ජීවිතයේ ප්‍රඥාවන්ත ව කටයුතු කළ අවස්ථා **පහක්** ලියන්න.
4. හිතෝපදේශය 3:5:-6 කටපාඩම් කරන්න.

*ජීවිතය සඳහා*

- *දිනපතා යැදුමේ දී ප්‍රඥාව පතා දෙවියන් වහන්සේට පවුලක් ලෙස යාච්ඤා කරන්න.*
- *ඔබ යමක් පැවසීමට, ක්‍රියාවට නැංවීමට පෙර හොඳින් සිතා බැලීමට පුරුදු වන්න.*
- *එදිනෙද ජීවිතයේ තීරණ ගන්නා විට ප්‍රඥාවන්ත ව කටයුතු කරන්න.*
- *දවස අවසානයේ දී ඔබ කළ කී දෑ මෙනෙහි කර, වැරදුණු තැන් නිවැරදි කර ගැනීමට උත්සාහ කරන්න.*

# 6 පාස්කු අභිරහස

## ජේසුස් වහන්සේගේ දුක්ප්‍රාප්තිය (ලූක් 22:54-23:25)



6.1 රූපය - ජේසුස් වහන්සේගේ දුක්ප්‍රාප්තිය

ජුදයින් අතට පාවා දීමෙන් අනතුරු ව ජේසුස් වහන්සේ ව රැගෙන යන්නේ උත්තම පූජකයාගේ මැඳුර වෙත ය. ඒ අවස්ථාවේ අපෝස්තුලුවරුන් වික්ෂිප්ත ව පළා ගියත්, පේදුරු තුමා ජේසුස් වහන්සේ පසුපසින් උත්තම පූජකයාගේ මැඳුර දක්වා ම ගියේ ය. පැය කිහිපයකට පෙර පේදුරු තුමා පිළිබඳ ව, ජේසුස් වහන්සේ කළ ප්‍රකාශය සැබෑ වූයේ එහි දී ය.

තුන්වන වතාවට ජේසුස් වහන්සේ ව නාඳුනන බව පේදුරු තුමා ප්‍රකාශ කරන විට ජේසුස් වහන්සේ ඔහු දෙස හැරී බැලූ සේක. ඔවුන් වහන්සේගේ බැල්ම තුළ තිබුණේ ප්‍රබල, නිහඬ පණිවිඩයකි. එය දරාගත නොහැකි වූ පේදුරු තුමා තම වරද ගැන බෙහෙවින් මනස්තාප වී, පිටතට ගොස් දුකින් හැඬුවේ ය.

මේ වන විට ජේසුස් වහන්සේ සමග සිටි අය ඔවුන් වහන්සේට කවටකම් කරමින් පහර දීමට පටන් ගත්හ. පසුදා පහන් වන විට ජේසුස් වහන්සේ ව ජුද ශ්‍රේෂ්ඨාධිකරණය ඉදිරියට ගෙන යන ලදි. ඔවුන්ගේ ප්‍රධාන ප්‍රශ්නය වූයේ "ඔබ ක්‍රිස්තුස් ද?" යන්න යි. එයට පිළිතුරු වූයේ, "මෙතැන් පටන් මනුෂ්‍ය පුත්‍රයාණන් දෙවියන් වහන්සේගේ බලපරාක්‍රමයේ දකුණු පස වැඩහිඳිනු ඇත" යන්න යි. මේ පිළිතුරෙන් කුපිත වූ ඔව්හු ජේසුස් වහන්සේ ව ආණ්ඩුකාර පිලාත් වෙත ගෙන ගියහ.

එහි දී ඔව්හු ඔවුන් වහන්සේට චෝදනා කරන්නට පටන් ගෙන, "මොහු අපේ ජාතිය කැරළිගැසීමට පොළඹවන බවත්, අධිරාජයාට අයබදු දීම තහනම් කරන බවත්, තමා "ක්‍රිස්තුස්" නම් රජෙක් යයි

කියා ගන්නා බවත් අපි දැනගතිමු" යි කීහ. ප්‍රශ්න කිරීමෙන් අනතුරු ව, පිලාත් ආණ්ඩුකාරයා ජේසුස් වහන්සේ නිදොස් බව පැවසුවත් සෙනඟ තව තවත් ඔවුන් වහන්සේ ගැන චෝදනා කළහ.

ජේසුස් වහන්සේ, හෙරෝද් ඇන්ටිපස්ගේ පාලන ප්‍රදේශය වන ගලීලයට අයිති බව දැනගත් පිලාත්, හෙරෝද් ඒ දිනවල ජෙරුසලමේ සිටි බැවින් ඔවුන් වහන්සේ ව ඔහු වෙත යැවී ය. එහි දී ද හෙරෝද්ගේ කිසිදු ප්‍රශ්නයකට ජේසුස් වහන්සේ උත්තර නොදී නිහඬ ව සිටි සේක. එබැවින් හෙරොද් ඔවුන් වහන්සේ සරදමට ලක්කොට, විචිත්‍ර වස්ත්‍ර හඳවා, නැවත පිලාත් වෙත ආපසු යැවී ය. ජේසුස් වහන්සේ කිසි ම චෝදනාවකට වරදකරු නොවන බව පිලාත් ජනතාවට පැහැදිලි කළේ ය. එහෙත් ජනතාවගේ ඉල්ලීම මත "බරබ්බාස්" නමැති සිරකරුවා මුදා හැර ඒ වෙනුවට ජේසුස් වහන්සේ ව කුරුසියේ ඇණ ගැසීමට තීන්දු කළේ ය.

## ජේසුස් වහන්සේගේ උකුත් වීම (ලූක් 23:26-56)



6.2 රූපය - ජේසුස් වහන්සේගේ උකුත් වීම

ජේසුස් වහන්සේගේ කර පිට තැබූ කුරුසිය උසුලා ගෙන යාමට සහාය වන්නේ සිරේනියේ සීමොන් ය. විශාල ජනකායක් ඔවුන් වහන්සේ පසුපස ගියහ. කපාල පිටිය නම් ස්ථානයට පැමිණි විට සෙබළු ජේසුස් වහන්සේ ව ද ඔවුන් වහන්සේ දෙපසින් සොරුන් දෙදෙනකු ද කුරුසියේ ඇණ ගැසූහ. එම අවස්ථාවේ ඔවුන් වහන්සේ, "පියාණෙනි, ඔවුන්ට කමා වුව මැනව; ඔවුන් කරන දෙය ඔව්හු නොදනිති යි" වදාළ සේක. කුරුසියේ එල්ලා සිටි අවස්ථාවේ ඔවුන් වහන්සේට සරදම් කිරීම, කාඩි පිළිගැන්වීම, වස්ත්‍ර බෙදා ගැනීමට දාදු දැමීම, "ජේසු නසරේනු ජුදයන්ගේ රජ" (INRI) යනුවෙන් දක්වමින් ලියූ පුවරුව කුරුසියට ඉහළින් තැබීම යනාදිය සිදු විය.

ජේසුස් වහන්සේ දෙපසින් සිටි එක් වරදකරුවෙක් ඔවුන් වහන්සේට අපහාස

කළ අතර අනික් වරදකරු, "ජේසුස් වහන්ස, ඔබ රාජශ්‍රීයෙන් වඩනා කල මා සිහි කළ මැනව"යි කීය. "ඇත්තෙන් ම මම ඔබට කියමි. ඔබ මා සමග අද ම පාරාදීසයෙහි සිටින්නෙහි ය" යන ප්‍රබල පිළිතුර ජේසුස් වහන්සේගෙන් ඔහුට ලැබිණි. අවසානයේ, "පියාණෙනි, ඔබගේ හස්තයට මාගේ ආත්මය භාර දෙමි"යි පවසමින් ඔවුන් වහන්සේ උකුත් වූ සේක. මේ අවස්ථාවේ හිරු අඳුරු විය. රට පුරා අන්ධකාරයක් පහළ විය. දේව මාලිගාවේ තිරය දෙකඩ වී ඉරී ගියේ ය.

ජේසුස් වහන්සේගේ මෘත ශරීරය කුරුසියෙන් බා, භූමදාන කටයුතු සිදු කිරීමට ඉදිරිපත් වන්නේ අරමාතියේ ජෝසෙප් ය. ඔහු පිලාත් වෙත ගොස් මෘත දේහය ඉල්ලා, සියලු කටයුතු සූදානම් කර තැන්පත් කළේ ය.

## ජේසුස් වහන්සේගේ උත්ථානය (ජොහන් 20:1-18)



6.3 රූපය - ජේසුස් වහන්සේගේ උත්ථානය

ජේසුස් වහන්සේ තම උකුත් වීමෙන් දින තුනකට පසු මළවුන් කෙරෙන් නැගිට වදළ සේක. මෙයින් ආදම් ඒවගේ පාපයෙන් පසු, දෙවියන් වහන්සේ විසින් පොරොන්දු වන ලද "ගැලවීම" මානව සංහතියට හිමි විය. සතියේ පළමු වන දා හිමිදිරි උදෑසන ජේසුස් වහන්සේ තැන්පත් කළ සොහොන් ගෙය ළඟට ගිය "මග්දලාහි මරියා" ජේසුස් වහන්සේගේ උත්ථානයේ ප්‍රථම සාක්ෂිකාරිය වූවා ය.

## ශ්‍රාවකයන්ට දර්ශනය වීම (ජොහන් 20:19-29, ලූක් 24:15-35)

- ⋆ පාස්කු ඉරුදින ගෝලයන් දෙදෙනෙක් ජෙරුසලමේ සිට "එම්මාවුස්" නම් ගමට යමින් සිටිය දී ජේසුස් වහන්සේ දර්ශනය වූ සේක. අතර මග දී ඔවුනට ඔවුන් වහන්සේ පිළිබඳ ශුද්ධ ලියවිල්ලේ සඳහන් ව ඇති දේ පැහැදිලි කළත් ඔව්හු ජේසුස් වහන්සේ ව හඳුනා නොගත්හ. එහෙත් කෑමට හිඳගත් කල රොටී ආශිර්වාද කර පූප කඩන විට ඔව්හු ඔවුන් වහන්සේ ව හඳුනා ගත්හ.
- ⋆ ජේසුස් වහන්සේ පාස්කු ඉරුදින සවස අපෝස්තුලුවරුන් වෙත වැඩම කර, "ඔබට ශාන්තිය වේවා!"යි පවසමින් ඔවුන් ශක්තිමත් කළ සේක. ඒ අවස්ථාවේ දී ඔවුන් මත

හුස්ම හෙළා, ශුද්ධාත්ම වරම් දී "පව් කමා කිරීමේ බලය" ඔවුනට දානය කළ සේක.

★ එම අවස්ථාවේ එහි නොසිටි තෝමස් අපෝස්තුලුවරයාට ජේසුස් වහන්සේගේ දර්ශනය වීම දැන ගැනීමට ලැබිණි. ඔහු එය අවිශ්වාස කළේ ය. දින අටකට පසු නැවතත් දර්ශනය වූ ජේසුස් වහන්සේ තෝමස් තුමාගේ අවිශ්වාසය දුරු කළ සේක. එවිට, " මාගේ ස්වාමීනි, මාගේ දෙවියනි" පවසමින් තෝමස් තුමා තම විශ්වාසය ප්‍රබල ලෙස ප්‍රකාශ කළේ ය.

## නව අහස හා නව පොළොව

| උත්පත්ති 1:1 | එළිදරව්ව 21:1 | එළිදරව්ව 22:13 |
|---|---|---|
| "ආරම්භයේ දී දෙවියන් වහන්සේ අහසත් පොළොවත් මැවූ සේක." | "ඉන්පසු මම අලුත් අහසක් ද අලුත් පොළොවක් ද දුටිමි. පළමු අහසත් පළමු පොළොවත් පහ ව ගියේ ය." | "මම අල්පා සහ ඔමෙගා ය. මම පළමුවැන්නා හා අන්තිමයා ය. ආරම්භය හා අවසානය ය. |

විශ්වය ආරම්භයේ දී දෙවියන් වහන්සේ අහසත් පොළොවත් මැවූ සේක. දෙවියන් වහන්සේ මනහර ලෙස ඒ සියල්ලක් ම මවා වදාළේ මනුෂ්‍ය වාසයට සුදුසු වන ලෙස ය. එම අහස හා පොළොව මත යහපත් ලෙස ජීවත් වන මනුෂ්‍යයාට දෙවියන් වහන්සේ ස්වර්ගීය ජීවිතය නමැති නව අහස හා නව පොළොව සූදානම් කර ඇත. ඒ සඳහා පෙර නිමිත්ත වන්නේ, ජේසුස් වහන්සේගේ උත්ථානය යි. එම නිසා ජේසුස් වහන්සේ මෙන් ශුද්ධවන්ත ව ජීවත් වෙමින් එම සදාතන ජීවිතය උරුම කර ගැනීමට අප සූදානම් විය යුතු ය.

සකල මහිමයෙන් පිරි ස්වර්ග රාජ්‍යයේ දී උත්ථාන වූ ජේසුස් වහන්සේ දැකීමට අපි වාසනාවන්තයෝ වෙමු. පාපි ක්‍රියා අතහැර යාච්ඤාවෙන් හා පරිත්‍යාගයෙන් ජීවත් වෙමින්, දේව ප්‍රසාද නිධාන ලබා, එම "නව අහස හා නව පොළොවට" ඇතුළු වීමට සුදුස්සෝ වෙමු.

### ක්‍රියාකාරකම

1. පාද නමස්කාරයේ දී ජේසුස් වහන්සේගේ දුක්විඳීම, උකුත් වීම හා උත්ථානය සිහිපත් කරන ස්ථාන ලියා දක්වන්න.
2. "නව අහසක් හා නව පොළවක්" තුළ නව ජීවිතයක් ලබා ගැනීමට පාසල් දරුවකු ලෙස කළ හැකි යහපත් ක්‍රියා **පහක්** ලියන්න.
3. "තම වැරදිවලට" කමාව යදිමින්, යාච්ඤාවක් ලියන්න.



***ජීවිතය සඳහා***

*කිතුනු දරුවකු ලෙස හැකි සෑම විට ම දිව්‍ය පූජා යාගයට සහභාගි වී දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගනිමින් සදාතන ජීවිතය උරුම කර ගැනීමට උත්සාහ කරමි.*

# 7 මුල් කිතුනු සභාව



7.1 රූපය - මරිය තුමිය හා ශ්‍රාවක පිරිස වෙත ශුද්ධාත්මයාණන් වහන්සේගේ ආගමනය

## පෙන්තකොස්තය (ක්‍රියා 2:1-13)

පාස්කුවෙන් පසු ජුදා ආගමිකයන්ගේ ප්‍රධාන මංගල්‍යය වූයේ 'පණහ' යන අරුත ඇති "පෙන්තකොස්ත" මංගල්‍යය යි. මෙය දෙවියන් වහන්සේට තුති දීමේ මංගල්‍යයකි. මෙම මංගල්‍යයේ දී ජුදෙව්වෝ තිරිඟු අස්වැන්න නෙළා, නැඹුල් එල ඔප්පු කරමින්, දෙවියන් වහන්සේට තුති පිදූ අතර ඔවුන්ට සීනයි කඳු මුදුනේ දී දස පනත ලැබීම ද සිහිපත් කළහ. මෙම මංගල්‍යයට සහභාගි වීමට විවිධ ප්‍රදේශවල සිටි ජුදෙව්වරු ජෙරුසලම් දේව මාලිගයට වන්දනා ගමන් ගියහ.

ජේසුස් වහන්සේ මෙලොවින් සමු ගැනීමට පෙර ඔවුන් වහන්සේගෙන් පසු ශුද්ධාත්මයාණන් වහන්සේ එවීමට පොරොන්දු වූ සේක. එය බලාපොරොත්තුවෙන් මරිය තුමිය ඇතුළු ශ්‍රාවක පිරිස ජේසුස් වහන්සේගේ ස්වර්ගාරෝහණයේ සිට දින 10ක් යාච්ඤා කරමින් කල් ගත කළහ. පෙන්තකොස්ත දිනයේ දී මෙලෙස යාච්ඤා කරමින් සිටින තැනට "සැඩ සුළඟක් හමන්නාක් වැනි හඬක් හදිසියේ පැමිණියේ ය. ගිනි දලු වැනි දිව් බෙදී ගොස් ඔවුහු එකිනෙකා මත පිහිටිය හ" (ක්‍රියා 2:1-8). එයින් සංකේතවත් කළේ ජේසුස් වහන්සේ එවීමට පොරොන්දු වූ ශුද්ධාත්මයාණන් වහන්සේගේ ආගමනය යි. ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වූ ශ්‍රාවකයන්, ආත්මයාණන් ඔවුන්ට දුන් කථා ශක්තිය අනුව අන්‍ය භාෂා කථා කරන්නට පටන් ගත්හ. මේ අවස්ථාවේ දී ප්‍රබල ව ශ්‍රාවකයින්ගේ ජීවිත වෙනස් වන්නට විය. එඩිතර වී දේව වචනයේ සාක්ෂිකරුවෝ වූහ.

### පෙන්තකොස්ත දින පේදුරු තුමාගේ දේශනාව හා එහි ප්‍රතිඵල (ක්‍රියා 2:14-41)

පෙන්තකොස්ත දින ජෙරුසලම් චතුරස්‍රයේ දී පේදුරු තුමා අන්‍ය භාෂා කථා කරනු අසා, සියල්ලෝ පුදුමයට පත් වූහ. මන්ද ඔහු නූගත් යැයි සම්මත වූ ගලීල වැසියකු වූ බැවිනි. එනමුත් මෙදින ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වූ අපෝස්තුලුවරු පරිණත කිතුනුවන් ලෙස නිර්භීත ව තම දූත සේවාව ආරම්භ කළෝ ය. පෙන්තකොස්ත දිනයේ පේදුරු තුමා තම කථාවෙන් නිර්භය ව ප්‍රකාශ කළේ ජේසුස් වහන්සේ, දෙවියන් වහන්සේගේ පුත්‍රයා බවත් ඉශ්‍රායෙල් ජනතාව ජේසුස් වහන්සේ ව කුරුසපත් කළ නමුත්, දෙවියන් වහන්සේ ඔවුන් වහන්සේ ව උත්ථාන කළ බවත් දෙවියන් වහන්සේගේ දකුණු පසෙහි ජේසුස් වහන්සේ වැඩ සිටින බවත් ය.

පේදුරු තුමාගේ මේ ඉදිරිපත් වීම අද සමාජයේ ක්‍රිස්තුන් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීමට පසුබට වන අයට මහත් අභියෝගයකි. ශුද්ධාත්ම වරම් ලැබූ තැනැත්තකු හමුදා භටයකුට සමාන කළ හැකි ය. හමුදා භටයා මනා සුදානමකින් හා පුහුණුවකින් යුතු ව ආයුධවලින් සන්නද්ධ වී සිටින්නා සේ ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වූ කිතුනුවා ද විශ්වාසයට එරෙහි ව පැමිණෙන අභියෝග ජය ගැනීමට මනා සුදානමකින් හා ආයුධ සන්නද්ධ ව සිටිය යුතු ය.

පේදුරු තුමාගේ දේශනයෙන් පසු මනස්ථාපනය වී බෞතිස්මය ලැබූ ගණන 3000ක් පමණ විය. එබැවින් "පෙන්තකොස්ත දිනය" ශු. සභාවේ උපන් දිනය ලෙස දක්වේ. ශුද්ධාත්ම මෙහෙය වීමෙන් පේදුරු තුමා ඉතාලි භට හමුදාවේ ශතාධිපතියෙකු වූ විජාතික කොර්නේලියස් ඇතුළු පවුලේ අයට ජේසුස් වහන්සේ පිළිබඳ සුබ අස්න දේශනා කළේ ය. ඔව්හු අදහා ගෙන බෞතිස්මය ලැබුවෝ ය (ක්‍රියා 10:1-8, 44-48).

## මුල් කිතුනු සභාවේ ලක්ෂණ (ක්‍රියා 2:42-47, ක්‍රියා 4:32-37)

මේ අයුරින් ශුද්ධාත්මයාණන් වහන්සේ කරණ කොට ගෙන වැඩි වර්ධනය වූ මුල් කිතුනු සභාවේ පහත සුවිශේෂී ලක්ෂණ තිබිණි.

1. ප්‍රේරිතයන්ගේ ඉගැන්වීම
2. සහභාගිකම
3. රොටී කැඩීම (දිව්‍ය පූජාව)
4. යාච්ඤාව

මෙම ලක්ෂණ නිසා ශු. සභාවට එකතු වන පිරිස තවත් වැඩි වර්ධනය විය. මේ අතරතුර මුල් කිතුනු සභාවේ "සහනාධාර බෙදීම" සම්බන්ධයෙන් ගැටලුවක් උද්ගත විය. එය නිරාකරණය කිරීමට "උපස්ථායකයන්" පත්කිරීම ඉතාමත් කාලෝචිත වූ අතර (ක්‍රියා 6:1-7) ඔවුන් පහත සඳහන් ගුණාංගවලින් යුක්ත විය.

- යහපත් දිවි පෙවෙතක් ගත කිරීම
- ශුද්ධාත්මයාණන්ගෙන් පූර්ණ වීම
- ප්‍රඥාවෙන් පූර්ණ වීම.

ඔවුන් මත අත් තබා යාච්ඤා කිරීමෙන් අපෝස්තුලුවරු ඔවුන්ට වගකීම් පැවරූහ. විශේෂයෙන් සහනාධාර බෙදීම උපස්ථායකයනට පවරා අපෝස්තුලුවරු සුබ අස්න දෙසීම බාධාවකින් තොර ව කළෝ ය.

## ශුද්ධ වූ ස්තේපන් තුමාගේ සාක්ෂිය (ක්‍රියා 6:8-15, ක්‍රියා 7:54-60)

ශුද්ධ වූ ස්තේපන් තුමා උපස්ථාදායකයකු ලෙස කටයුතු කළා පමණක් නොව සුබ අස්න ද දේශනා කළේ ය. එතුමාට ගල් ගසා මරා දමූ අතර එතුමා ශුද්ධ වූ සභාවේ පළමු ප්‍රාණ පරිත්‍යාගිවරයා ය.

## ශුද්ධ වූ මහා ජාකොබ් තුමා (ක්‍රියා 12:1-2)

අපෝස්තුලුවරුන් දොළොස්දෙනා අතරින් පළමු ප්‍රාණපරිත්‍යාගිවරයා වන්නේ ශු. මහා ජාකොබ් හෙවත් සන්තියාගෝ මුනිතුමා ය. හෙරොද් (අග්‍රිපා i) විසින් ඔහු ව හිස ගසා මරා දමන ලදි.

මෙලෙස ඔවුනට ප්‍රාණපරිත්‍යාගි වීමට ශක්තිය ලැබුණේ ඔවුන් ශුද්ධාත්ම වරමින් පූර්ණ වී පරිණත කිතුනුවන් ලෙස, සැබෑ ක්‍රිස්තු සෙබලුන් වූ නිසා ය. අභිවෘද්ධි ආලේපය ලබන අවස්ථාවේ දී අප ද එලෙස ම ශුද්ධාත්ම වරමින් පූර්ණ කර ඇත්තේ අභියෝග හමුවේ විශ්වාසයට සාක්ෂි දැරීමට ය.

### ක්‍රියාකාරකම

1. පේදුරු තුමාගේ ප්‍රථම දේශනයේ අඩංගු කරුණු **තුනක්** ලියන්න.
2. ශුද්ධාත්ම ආගමන දිනයේ දී සිදු වූ විශේෂතා පිළිවෙළින් ලියන්න.
3. "පෙන්තකොස්ත" යන වචනයේ අර්ථය ලියන්න.
4. මුල් ක්‍රිස්තියානි සභාවේ ලක්ෂණ වගු ගත කරන්න.
5. අපෝස්තුලුවරු උපස්ථායකයන් පත් කළේ ඇයි?
6. ශුද්ධාත්ම බලය ලැබූ ඔබ විශ්වාසය වෙනුවෙන් සාක්ෂි දැරූ අවස්ථාවක් ලියන්න.

*ජීවිතය සඳහා*

- ★ *ක්‍රිස්තුන් වහන්සේගේ සේනා භටයින් ලෙස, ලෝකයා ඉදිරියේ ඔවුන් වහන්සේට සාක්ෂි දරමු.*
- ★ *පරාර්ථකාමී ව ජනයාගේ සුබ සිද්ධිය උදෙසා වැඩ කරමු.*
- ★ *අප සතු ව ඇති දේවල් නැති බැරි අය සමග බෙදා ගනිමු.*

# 8 ශුද්ධ වූ පාවුලු තුමා

1. ඔබේ අත් දිගු කරලා
   මගෙ අත් මත තියලා
   ජේසුනි මගෙ දෑත
   ඔබේ සේවෙට ගන්න

2. ඔබේ අත් දිගු කරලා
   මගෙ දෙපා මත තියලා
   ජේසුනි මගේ දෙපා
   ඔබේ සේවෙට ගන්න

3. ඔබේ අත් දිගු කරලා
   මගෙ නෙත් මත තියලා
   ජේසුනි මගෙ දෙනෙත
   ඔබේ සේවෙට ගන්න



8.1 රූපය - ශුද්ධ වූ පාවුලු තුමා

4. ඔබේ අත් දිගු කරලා
   මගෙ දෙතොලට තියලා
   ජේසුනි මගෙ වචන
   ඔබේ සේවෙට ගන්න

5. ඔබේ අත් දිගු කරලා
   මගෙ හිස මත තියලා
   ජේසුනි මගෙ නුවණ
   ඔබේ සේවෙට ගන්න

6. ඔබේ අත් දිගු කරලා
   මගෙ පපුවට තියලා
   ජේසුනි මගෙ හුස්ම
   ඔබේ සේවෙට ගන්න

දෙවියන් වහන්සේ විවිධ පුද්ගලයින්ට විවිධ කැඳවීම් දානය කරමින් දේව සැලැස්ම ක්‍රියාත්මක කරන සේක. එලෙස කැඳවීමක් ලද ශුද්ධ වූ පාවුලු තුමා (සාවුල්) ඉහත ගායනයේ සඳහන් ආකාරයට තම මුළු ජීවිතය ම දේව සේවය වෙනුවෙන් කැප කළේ ය. බෙන්ජමින්ගේ ගෝත්‍රයට අයත් ව තාර්සස්හි උපත ලැබූ එතුමා තම පියාගේ රෝම පුරවැසිභාවය කරණ කොට ගෙන විශේෂ වරප්‍රසාදවලට හිමිකරුවකු විය. ජෙරුසලමේ ප්‍රධාන ගුරුවරයකු වූ "ගමාලියෙල්" යටතේ මෙතුමා අධ්‍යාපනය ලැබුවේ ය. ඔහුට ජුදා දහම, නීතිය හා ව්‍යවස්ථාව පිළිබඳ ව ගැඹුරු ඥානයක් තිබිණි. කැඳවීමට පෙර පාවුලු තුමා ජුදා දහමට බෙහෙවින් ඇලුම් කර, එය රැක ගැනීමට ක්‍රිස්තු අනුගාමිකයන්ට පීඩා කළේ ය. ශුද්ධ වූ ස්තේපන් තුමාට ගල්ගසා මරා දැමූ විට, සාවුල් ද සතුට ප්‍රකාශ කළ බව ක්‍රියා 8:1-3හි සඳහන් වේ. ඒ වන විට පාවුලු තුමා ජීවමාන ක්‍රිස්තුන් වහන්සේ හඳුනා ගෙන තිබුණේ නැත.

දිනක්, නායක පූජකයන්ගෙන් අවසර පතක් ලබා ගෙන ඔහු "දමස්කස්" නගරය කරා ගියේ කිතුනුවන් අත්අඩංගුවට ගැනීමට ය. ඒ යන අතර මග බලාපොරොත්තු නොවූ ආලෝකයක් එල්ල වීමෙන් ඔහු බිම ඇද වැටිණි. නැවත නැගිටින විට පාවුලු තුමාගේ දෑස් අන්ධ වී තිබිණි. එවිට උත්ථාන වූ ක්‍රිස්තුන් වහන්සේ ඔහුට කථා කරමින් ජීවිත වෙනසකට ඔහු යොමු කළ සේක. දමස්කස් නගරයේ සිටි "අනනියස්" මගින් සාවුල්ට ප්‍රසාද ස්නාපනය දෙන ලදුව, පෙනීම ලැබී ය (ක්‍රියා 9:1-19). එතැන් සිට දේව අනාවරණයට නතු වූ පාවුලු තුමා, අසහාය ධර්මදූතයකු විය. ශුද්ධ වූ සභාව පැතිර වීමට සුළු ආසියාවේ සිට

ග්‍රීසිය හා රෝමය දක්වා ගමන් කර, දුෂ්කර සේවාවක නිරත වී "අන්‍ය ජාතීන්ගේ අපෝස්තුලුවරයා" යන ගෞරව නාමය ලැබී ය.

ධර්මදූත චාරිකාවල දී නොයෙකුත් බාධා අභියෝග හා දුක්කම්කටොළුවලට එතුමාට මුහුණ දීමට සිදු විය. සිරකරනු ලැබීම ගල්ගසා නගරයෙන් පිටතට ඇද දැමීම ජුදයන්ගේ විරෝධයනට ලක්වීම ආදියේ දී පාවුලු තුමා ශුද්ධාත්මයාණන්ගේ මග පෙන්වීම තුළ සියල්ලට ම මුහුණ දී ඒවා ජය ගත්තේ ය. කිසි ම අවස්ථාවක දී පාවුලු තුමා පසුබට වූයේ නැත.

ශුද්ධ වූ පාවුලු තුමා ස්ථාපිත කළ සභාවන්හි විවිධ ගැටලු නිරාකරණය කිරීමට, කිතුනු ඇදහිල්ල හා යුතුකම් පෙන්වා දීමට, ක්‍රිස්තුන් වහන්සේ තුළ නව ජීවනය පවත්වා ගැනීමට, ක්‍රිස්තුන් වහන්සේගේ පුනරාගමනය පිළිබඳ ගැටලුවලට පිළිතුරු දීමට "සංදේශ" ලියා යවන ලදි.

## ශුද්ධ වූ පාවුලු තුමාගේ ධර්මදූත චාරිකා

### පළමුවන ධර්ම දූත ගමන




(ක්‍රියා 13:4-14:28)

ක්‍රි.ව 47 දී පමණ ශුද්ධ වූ පාවුලු තුමා සමග බර්ණබස්, ජොහන් තුමා හා මාක් තුමා මෙම ගමනට සහභාගි විය.

සිරියාවේ අන්තියෝකිය ⟶ සිලුකිය ⟶ සලමිසය ⟶ පාපස් ⟶ පර්ගා

පිසිදියේ අන්තියෝකිය ⟶ ඉකෝනිය ⟶ ලුස්ත්‍රාව ⟶ දර්බය

මේ සෑම නගරයකට ම ගොස් දේශනා කරමින් කිතුනු සංඝ ස්ථාපිත කර, නායකයන් පත් කළේ ය.

## දෙවන ධර්ම දූත ගමන




(ක්‍රියා 15:36-18:23)

ක්‍රි.ව. 50-52 අතර පාවුලු තුමා සීලස් සමග මෙම චාරිකාව අරඹයි. පසු ව තිමෝතියස් තුමා හා ලූක් තුමා ද මෙයට එක් විය.

සිරියාවේ අන්තියෝකිය → තාර්සස් → දර්බය → ලුස්ත්‍රාව → ඉකෝනිය →
පිසීදියේ අන්තියෝකිය → ත්‍රෝවසය → පිලිප්පිය → තෙසලෝනිකය →
බෙරියාව → ඇතැන්ස් → කොරින්තිය → එපීසය → ජෙරුසලම

## තුන්වන ධර්ම දූත ගමන



(ක්‍රියා 18:24-21:17) ක්‍රි.ව. 53-57 අතර

සිරියාවේ අන්තියෝකය → දර්බය → ලුස්ත්‍රාව → ඉකෝනිය → එපීසය → මසිදෝනිය → ග්‍රීසිය → ත්‍රෝවසය → මිලේතසය → එපීසය → ජෙරුසලම

## ශු. පාවුලු තුමාගේ ජීවිතයේ අවසාන කාලය

තුන්වන ධර්මදූත චාරිකාවෙන් පසු පාවුලු තුමා ජෙරුසලම් නගරයේ නැවතී සිටියේ ය. ආසියාවෙන් පැමිණ සිටි ජුදෙව්වරුන් කළ චෝදනා මත එතුමා දේව මාලිගයේ දී අත්අඩංගුවට ගත්තේ ය. ජේසුස් වහන්සේ මෙන් ම පාවුලු තුමා ද කිහිප දෙනකුගේ විනිශ්චයට ලක්විය. අවසානයේ රෝමයේ සුබාරංචිය දේශනා කිරීමේ අරමුණින් පාවුලු තුමා තම රෝම පුරවැසිභාවය පදනම් කර ගෙන රෝම අධිරාජ්‍යයාගේ විනිශ්චය ඉල්ලූ නිසා ඔහු ව සිරකරුවකු සේ රෝමයට ගෙන යන ලදි. තම රෝම ගමනේ ප්‍රතිඵල නෙලා ගනිමින් පාවුලු තුමා රෝමයේ නිවාස අඩස්සියේ සිටිය දී ශුභ අස්න නොඅසා සිටි රෝමයේ ජනතාවට ධර්මය දේශනා කළේ ය.

ශුද්ධ වූ පාවුලු තුමා රෝම අධිරාජ්‍යය පුරා ම කිතුනු දහම ව්‍යාප්ත කළේ ය. පැමිණි සියලු පීඩාවන්ට හා අභියෝගයන්ට මුහුණ දී ජය ගත්තේ ය. අවසානයේ රෝමයේ නීරෝ අධිරාජ්‍යයාගේ පීඩන සමයේ දී (ක්‍රි.ව. 68) හිස ගසා මරා දමනු ලැබිණි.

### ක්‍රියාකාරකම

1. ශු. පාවුලු තුමා පිළිබඳ රචනයක් ලියන්න.
2. ශ්‍රී ලංකාවේ දහම් සේවයේ නියුතු විශ්වාසිකයනට, ශුද්ධ වූ පාවුලු තුමාගෙන් ලබා ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.

*ජීවිතය සඳහා*

*පැවරෙන ඉතා සුළු කාර්ය පවා සැලකිල්ලෙන් හා අවධානයෙන් ඉටු කරමු.*

# 9 ශුද්ධ වූ පේදුරු තුමා

## ශුද්ධ වූ පේදුරු තුමාගේ කැඳවීම. (ලුක් 5:1-11)



9.1 රූපය - ශුද්ධ වූ පේදුරු තුමා

දිනක් ජේසුස් වහන්සේ ගෙනෙසරෙත් විල අසල, පේදුරු තුමාගේ ඔරුවට නැගී සෙනඟට දහම් පණිවුඩය දේශනා කළ සේක. එය නිම වූ පසු මුහුදට ගොස් දැල හෙළන්නැයි ඔවුන් වහන්සේ පේදුරු තුමාට වදාළ සේක. පෙර දින රාත්‍රියේ මසුන් ඇල්ලීමට බෙහෙවින් වෙහෙස වුණු ඔහුට එක ම මාළුවකුවත් අල්ලා ගැනීමට නොහැකි වූ බව ජේසුස් වහන්සේට පැවසූ ඔහු, "එහෙත් ඔබ කියන සේක් නම් දැල් හෙළමි"යි පවසමින් ඔවුන් වහන්සේගේ අණට කීකරු විය. ඔරුවේ සිටි පේදුරු තුමා හා ඔහුගේ සොහොයුරු ඇන්ඩෘ තුමා පුදුමයට පත් කරමින් මසුන් රාශියක් අල්ලා ගත හැකි විය. අවට තිබූ ඔරුවට ද කථා කර ඔවුන්ගේ උපකාරය ඇතිව එම මසුන් ඔරුවට පුරවා ගත්හ. මසුන් හසු වී විස්මිත ව සිටි ඒ අවස්ථාවේ දී පේදුරු තුමා ජේසුස් වහන්සේ අබියස දණින් වැටී ඔහුගේ පව්කාර බව පිළිගත්තේ ය. "බිය නොවන්න මෙතැන් සිට ඔබ මිනිසුන් දිනනු ඇතැ"යි පවසමින් ජේසුස් වහන්සේ ඒ මොහොතේ දී ම තමා අනුගාමී වන්නට පේදුරු තුමාට ආරාධනා කළ සේක. ඔහු සියල්ල අත හැර, ඔවුන් වහන්සේ අනුගාමී විය. පේදුරු තුමාගේ සොයුරු ඇන්ඩෘ ද තවත් සොහොයුරන් දෙදෙනකු වූ සෙබදිගේ පුතුන් වන ජොහන් හා ජාකොබ් ද ඔවුන් වහන්සේ අනුගාමී වූහ.

### පේදුරු තුමාගේ මහා ප්‍රකාශය (මතෙව් 16:13-16)

පිලිප්පි කයිසාරිය නම් පෙදෙසට ගිය අවස්ථාවක දී ජේසුස් වහන්සේ, "මනුෂ්‍ය පුත්‍රයාණෝ කවරෙක් ය කියා මිනිසුන් කියත් දැ"යි සිය ශ්‍රාවකයන්ගෙන් ඇසූ සේක. ඔවුහු විවිධ පිළිතුරු දුන්හ. ඉන්පසු ඔවුන් වහන්සේ, "ඔබ මා කවරකු කියා කියන්නාහු දැ"යි ඔවුන්ගෙන් ඇසීය. ජේසුස් වහන්සේගේ ප්‍රශ්නයට එඩිතර ව පිළිතුරු දුන් පේදුරු තුමා "ඔබ ක්‍රිස්තුවරයාණෝ ය, ජීවමාන දෙවියන් වහන්සේගේ පුත්‍රයාණෝ"යි ප්‍රකාශ කළේ ය. එවිට ජේසුස් වහන්සේ මෙසේ වදාළ සේක.

ජෝනාගේ පුත් සීමොන්, ඔබ ඉතා භාග්‍යවන්ත ය. මන්ද, ස්වර්ගයෙහි වැඩවසන මාගේ පියාණන් වහන්සේ විසින් මිස මනුෂ්‍ය මගකින් මෙය ඔබට එළිදරව් නොකරන ලද්දේ ය. මම ඔබට කියමි. ඔබ පේදුරු ය. මේ පර්වතය පිට මාගේ සභාව ගොඩනගන්නෙමි. මරණයේ බලයට වුව ද එය පරාජය කළ නොහැකි ය. ස්වර්ග රාජ්‍යයේ යතුර ඔබට දෙන්නෙමි. ඔබ පොළොවෙහි දී යමක් බඳින්නෙහි ද, එය ස්වර්ගයෙහි දීත් බඳිනු ලබන්නේ ය. ඔබ පොළොවෙහි දී යමක් මුදන්නෙහි ද එය ස්වර්ගයෙහි දී මුදනු ලබන්නේ ය.

(ශු. මතෙව් 16:17-19)

ජේසුස් වහන්සේ, "ඔබ ඉතා භාග්‍යවන්ත ය" යි පවසන ලද්දේ පේදුරු තුමාට ය. " සීමොන්" යන නාමය වෙනුවට "පර්වතය" යන අර්ථය ඇති 'පේදුරු' යන්න දෙන ලදී. ශුද්ධ වූ සභාවේ අත්තිවාරම මේ පර්වතය ය. එනම් පේදුරු තුමා ය. එසේම "ස්වර්ගයෙහි යතුර" බාර දෙන ලද්දේ ද පේදුරු තුමාට ය. බලයලත් තැනැත්තා යතුර හිමිකාරයා ය. බැඳීමට ද මිදීමට ද විශේෂ බලය පේදුරු තුමාට හිමි විණි. ඒ අනුව පව් කමා කිරීමටත් විශ්වාසය හා සදාචාරය පිළිබඳ ව ඉගැන්වීමටත් බලය එතුමාට හිමි වේ. මෙලෙස ජේසුස් ස්වාමීන් වහන්සේ, පේදුරු තුමා ව, ශුද්ධ වූ සභා නායකත්වයට පත් කරන ලදි.

## ජේසුස් වහන්සේ පේදුරු තුමාට පැවරූ තුන් ප්‍රකාර කාර්යභාරය (ජොහන් 21:15-19)

| ජේසුස් වහන්සේ | පේදුරු තුමා | ජේසුස් වහන්සේ |
|---|---|---|
| ජොහන්ගේ පුත්‍ර වූ සීමොන් මොවුනට වඩා ඔබ මට ප්‍රේම කරන්නෙහි ද? → | "එසේය ස්වාමිනි, මා ඔබට ප්‍රේම කරන බව ඔබ දන්නා සේක." → | "මාගේ බැටළු පැටවුන් පෝෂණය කරන්න." |
| ජොහන්ගේ පුත්‍ර වූ සීමොන්, ඔබ මට ප්‍රේම කරන්නෙහි ද? → | "එසේය ස්වාමිනි, මා ඔබට ප්‍රේම කරන බව ඔබ දන්නා සේක." → | "මාගේ බැටළුවන්ගේ එඬේරා වන්න." |
| ජොහන්ගේ පුත්‍ර වූ සීමොන් ඔබ මට ප්‍රේම කරන්නෙහි ද? → | "ස්වාමීනි ඔබ සියල්ල දන්නා සේක; මා ඔබ වහන්සේට ප්‍රේම කරන බව ඔබ වහන්සේ දන්නා සේක. → | "මාගේ බැටළුවන් පෝෂණය කරන්න." |

මෙලෙස පේදුරු තුමා, ජේසුස් වහන්සේ වෙත, තම ප්‍රේමය තුන්වරක් ම ස්ථිර ලෙස ප්‍රකාශ කළේ ය. ඔවුන් වහන්සේගේ බැටළුවන්ගේ එඬේරා වෙමින් ශුද්ධ වූ සභාව නමැති බැටළු රැළ පෝෂණය කිරීමේ වගකීම එතුමාට භාර දුන් සේක. අපෝස්තුලුවරුන්ගේ නායකයා වූ පේදුරු තුමාගේ තැනට ශුද්ධෝත්තම පියතුමා පත් වේ. ශුද්ධ වූ සභාවේ දෘශ්‍යමාන නායකයා වූ එතුමා ව "ශුද්ධෝත්තම පියතුමා", "පාප් වහන්සේ" යන නම්වලින් ද හඳුන්වනු ලැබේ.

ශුද්ධ වූ පේදුරු තුමාගෙන් පසු ව අඛණ්ඩ ව එම තනතුරට ශුද්ධෝත්තම පියවරු තේරී පත් වෙති. ශුද්ධෝත්තම පියතුමා බලයෙන් ද ගෞරවයෙන් ද අන් සියලු රාජගුරු ප්‍රසාදිවරුනට වඩා උසස් වෙයි. ශුද්ධෝත්තම පියතුමකු පත් කරනු ලැබූ විට අභිනව නාමයක් ගැනීම සිරිතකි. එතුමාණන් මෙලෝ කිසි ම ලෞකික බලයකට යටත් නොවේ. කතෝලියකයන් ලෙස අපි සැම ශුද්ධ වූ කතෝලික සභාවේ නීති රීති හා සම්ප්‍රදායයන් පිළිපදිමු. ශුද්ධ වූ සභා ශ්‍රේෂ්ඨයන්ට ගරු කරමු කීකරු වෙමු.



9.2 රූපය - අති උතුම් ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම පියතුමා

## අති උතුම් ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම පියතුමා

ආර්ජන්ටිනාවේ අගනුවර වන බුවනෝර්ස් අයර්ස්හි දී ඉතාලි සංක්‍රමිකයන් වන දුම්රිය කම්කරු මාරියෝ හෝස් බර්ගෝලියෝ හා රෙජිනා මරියා යුවලට දව 1936 දෙසැම්බර් 17වන දා පුතෙක් උපන්නේ ය.. ඔහු ජොර්ජ් මාරියෝ බර්ගෝලියෝ විය.

පාසල් අධ්‍යාපනයෙන් පසු බුවනෝර්ස් අයර්ස් විශ්ව විද්‍යාලයෙන් රසායන විද්‍යාව පිළිබඳ පශ්චාත් උපාධිය ලබා ගත්තේ ය. 1958 මාර්තු 11වන දා ජේසු නිකායට බැඳී දර්ශනය හා දේව ධර්මය හදාරා 1969 දෙසැම්බර් 13වන දින පූජකවරය ලැබී ය. පසු ව දේව ධර්මය පිළිබඳ මහාචාර්යවරයකු ලෙස සේවය කළේ ය.

ජන්මයෙන් ලබා තිබූ නායකත්ව ගුණාංග හේතුවෙන් 1973 දි ආර්ජන්ටිනාවේ ජේසු නිකායික ප්‍රාදේශාධිපති තනතුරට පත්

ව 1979 දක්වා එම තනතුරෙහි කටයුතු කර, 1980-1986 දක්වා ශුද්ධ වූ මිගෙල් දෙව්සත්හලේ අධ්‍යක්ෂ ලෙස තම වගකීම් නිසි ලෙස ඉටු කළේ ය. 1992 සහායක රදගුරුතුමකු ලෙස ද 1998 බුවනෝර්ස් අයර්ස්හි අගරදගුරු තුමා ලෙස ද පත් විය. එතුමාණන් 2001 පෙබරවාරි 21වන දින ශු. ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමන් විසින් කාදිනල් තනතුරට ඔසවන ලදි. එම ධුරය යටතේ වගකීම් රාශියක් දැරූ එතුමා සමාජ සාධාරණය උදෙසා ඇපකැප වෙමින් සරල හා චාම් ජීවිතයක් ගත කළේ ය. 1982 සිට ග්‍රන්ථ ගණනාවක් රචනා කර ඇති මෙතුමා ආගමික කරුණු විෂයයේ පමණක් නොව සමාජ, ආර්ථික, දේශපාලනික ගැටලු සම්බන්ධයෙන් ද අභීත ව සිය මත ප්‍රකාශ කළේ ය. මෙතුමාණන් 2013 මාර්තු මස 13වන දින ශුද්ධ වූ කතෝලික සභාවේ 266 වන ශුද්ධෝත්තම පියාණන් ලෙස තෝරා පත් කරනු ලැබිණි.

### ක්‍රියාකාරකම

1. ශුද්ධ වූ සභාවේ නායකත්වයට පේදුරු තුමන් පත් කරනු ලැබූ ස්ථානය නම් කරන්න.
2. "පේදුරු" යන්නෙහි අර්ථය ලියන්න.
3. පේදුරු තුමාගේ "මහා ප්‍රකාශය" උපුටා දක්වන්න.
4. ජේසුස් ස්වාමින් වහන්සේ විසින් පේදුරු තුමාව "භාග්‍යවන්තයෙක්" බව ප්‍රකාශ කිරීමට හේතුව ලියන්න.
5. "එඬේරා" හා "බැටළු රැළ" යන යෙදුම්වල අරුත් ලියන්න.

*ජීවිතය සඳහා*

***මිනිසුන් ඔබේ යහපත් ක්‍රියා දැක, ස්වර්ගයෙහි වැඩ වසන ඔබේ පියාණන් වහන්සේට ප්‍රශංසා කරන පිණිස, ඔබේ ආලෝකය ඔවුන් ඉදිරියෙහි බබළවන්න.***

# 10 ශුද්ධ වූ සභාවේ ලක්ෂණ

ඉරුදින දිව්‍ය පූජාව අවස්ථාවේ "විශ්වාස ලක්ෂණය" උච්චාරණය කරන විට "අපෝස්තුලුවරුන්ගෙන් පැවත එන එක ම ශුද්ධ වූ කතෝලික සභාව කෙරෙහි මම විශ්වාස කරමි" යනුවෙන් අපි පවසමු. මෙම විශ්වාසයේ වගන්තිය, ශුද්ධ වූ සභාව තුළ පැවතිය යුතු අනිවාර්ය ලක්ෂණ හතරක් ගෙනහැර දක්වයි.
ඒවා නම් :

1. ඒකත්වය
2. ශුද්ධත්වය
3. කතෝලිකත්වය
4. අපෝස්තලිකත්වය

## 1. ඒකත්වය

ඒකත්වය යනුවෙන් අදහස් කරන්නේ ශුද්ධ වූ සභාවේ එකමුතුකම යි. ශුද්ධ වූ සභාවේ එකමුතුකමේ පදනම ශුද්ධ වූ ත්‍රිත්වය යි. ශුද්ධ වූ සභාවට සියලු සාමාජිකයන් කැඳවා ඇත්තේ පියාණන් වහන්සේ ය. මේ සියලු දෙනා අයත් වන්නේ පුත්‍රයාණන් වහන්සේට ය. එසේ ම සියලු දෙනා ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පරිපූර්ණ කර ඇත. මෙය ශුද්ධාත්ම ක්‍රිස්තු දේහය නමැති සංකල්පය තුළින් ද පැහැදිලි කළ හැකි ය. එනම් ජේසුස් වහන්සේ ශුද්ධ වූ සභාවේ හිස වන සේක. ප්‍රසාද ස්නාපනය ලැබූ අය ජේසුස් වහන්සේගේ පරම ශුද්ධාත්මික ක්‍රිස්තු දේහයේ අවයවයෝ වෙති. ශරීරය හිසින් හෝ අවයව ශරීරයෙන් ඉවත් වුවහොත් ශුද්ධාත්මික ක්‍රිස්තු දේහය විකෘති වේ; අංග විකල වේ (1කොරින්ති 12:13).

ඒකත්වයට එරෙහි වූ බාධා එදත් අදත් පවතියි. පාපය ඇති තැන බෙදීම් වෙදභේද හා ආරවුල් ඇති වේ. ඒවා නිරාකරණය කර ගැනීමට කටයුතු කිරීම ශුද්ධ වූ සභාවේ සැමගේ වගකීමකි. පළමු ව ශුද්ධ වූ සභාවේ ඒකත්වය වෙනුවෙන් සියලු දෙනා යාච්ඤා කළ යුතු ය. ජේසුස් වහන්සේ ද ශුද්ධ වූ සභාවේ එකමුතුකම වෙනුවෙන් යාච්ඤා කළ සේක.

"මොවුන් (ශ්‍රාවකයන්) ගැන පමණක් නොව මොවුන්ගේ වචනය කරණ කොට ගෙන මා අදහා ගන්නා අය (අනාගත ශුද්ධ වූ සභාව) ගැනත් යාච්ඤා කරමි. පියාණෙනි, මා මෙසේ කරන්නේ ඔබ මා තුළ ද මා ඔබ තුළ ද සිටින්නාක් මෙන්, ඔවුන් ද අප තුළ ඒකත්වයක් වන පිණිසත් ඔබ මා එවා වදාළ බව ලෝකයා විශ්වාස කරන පිණිසත් ය."

(ජොහන් 17:20-21)

තව ද මීසම් සංසයේ සියලු දෙනා සමගි ව කටයුතු කරන අතර අන් කිතුනු සභා (ප්‍රධාන කිතුනු සභා) සමග සමගියෙන් හා සහයෝගයෙන් කටයුතු කළ යුතු වෙමු.

## 2. ශුද්ධත්වය

යමක් හෝ යමෙක්, දෙවියන් වහන්සේට ඇති සම්බන්ධතාව මත "ශුද්ධවන්ත" වේ. උදා: ශුද්ධ වූ දේශය, ශුද්ධ වූ බයිබලය, ශුද්ධ වූ ලේන්සු හා ශුද්ධ වූ පින්තූර. ශුද්ධ වූ සභාව ද ශුද්ධවත් වන්නේ  එය ශුද්ධ වූ ත්‍රිත්වයට ඇති සම්බන්ධතාව මත ය.




ශුද්ධ වූ සභාව ශුද්ධ වූ ත්‍රිත්වයට ඇති මෙම සබඳතාව මත එය ශුද්ධවන්ත වේ. ශුද්ධ වූ සභාවේ එම ගුණාත්වය කිසි දිනක නැතිවිය නොහැකි ය. එහෙත් ශුද්ධ වූ සභාවේ සාමාජිකයන් වන අප පව් කරයි. ශුද්ධ වූ සභාව පව්කරුවන් පවා තම තුරුළට ගනිමින් පාපී මාර්ගවලින් හැරී දෙවියන් වහන්සේ වෙතට ගමන් කිරීමට ඔවුන් ව යොමු කරවයි. එබැවින් අපගේ පව්වලට දුක් මනස්ථාප වෙමින්, අපගේ පව්වලට සමාව ලබා ශුද්ධවන්ත ජීවිතයක් ගත කිරීම අපගේ ද යුතුකම වන්නේ ය.

## 3. කතෝලිකත්වය (සාධාරණත්වය)

"කතෝලිකත්වය" යනුවෙන් අදහස් කරනුයේ ශුද්ධ වූ සභාවේ විශ්වීය බව යි. එනම් එය එක ජාතියකට, එක දේශයකට, එක ප්‍රදේශයකට සීමා වී නැත. ශුද්ධ වූ සභාවේ කතෝලිකත්වය දෙවැදෑරුම් ලෙස විස්තර වේ.

1. ශුද්ධ වූ සභාව "කතෝලික" වනුයේ ක්‍රිස්තුන් වහන්සේ ඇය තුළ විද්‍යාමාන වන  නිසා ය.
2. ශුද්ධ වූ සභාව "කතෝලික" වනුයේ, ඇය ව සකල මිනිස් වර්ගයා වෙත ම දූත මෙහෙවර සඳහා ක්‍රිස්තුන් වහන්සේ විසින් යවා ඇති නිසා ය. එම නිසා ශුද්ධ වූ සභාව ධර්මදූතයේ යෙදෙයි.

ශුද්ධ වූ සභාවේ විශ්වීය බව වර්ධනය වන්නේ සුබාරංචිය සියලු දෙනා වෙත ගමන් කළ පමණට ය. එබැවින් ශු. සභාව ධර්මදූතයේ යෙදෙමින් එම විශ්වීය බව ව්‍යාප්ත කරන්නී ය. අප අන් අයට හැකි අයුරින් දේව වචනය කියා දිය යුතු ය. එවිට දේව වචනය ගැන පැහැදී ඒ අය ද සුබාරංචිය විශ්වාස කරනු ඇත. එය ශුද්ධ වූ සභාවේ කතෝලිකත්වය වැඩි කිරීමට හේතු වේ.

## 4. අපෝස්තලිකත්වය

අපෝස්තලිකත්වය යනුවෙන් අදහස් වන්නේ අපෝස්තුලුවරුන් හා වත්මන් ශුද්ධ වූ සභාව අතර වන දූත කාර්යයේ අනන්‍යතාව යි. අපෝස්තුලුවරයා යනු යවනු ලැබූ තැනැත්තා ය. ශුද්ධ වූ සභාව අපෝස්තුලුවරුන්ගේ විශ්වාස, ජීවිතය හා සේවාව නොකඩවා ස්ථිර ව පවත්වා ගෙන යන විට ශුද්ධ වූ සභාව අපෝස්තලික වේ. අපෝස්තලික ඉගැන්වීම අනුව මුල් කිතුනුවෝ තම ජීවිත සකස් කර ගත්හ (ක්‍රියා 2:42). එලෙස ම සැම කල්හි ම සැම කිතුනුවෙක් ම අපෝස්තුලුවරුන්ගෙන් ලැබී ඇති සියල්ල කෙරෙහි විශ්වාසවන්ත ව කටයුතු කිරීමට බැඳී ඇත්තේ ය. තව ද ශුද්ධ වූ සභාව අපෝස්තුලුවරුන්ගේ අත්තිවාරම මත ඉදිකර ඇත.

අපගේ විශ්වාසය අනුව ප්‍රකාශ කරන "එක ම, ශුද්ධ වූ, කතෝලික හා අපෝස්තලික සභාව" පේදුරුතුමාගේ අනුප්‍රාප්තිකයන් හා රදගුරුතුමන්ලා විසින් පාලනය කරනු ලබන කතෝලික සභාව තුළ පවතින බව දෙවන වතිකානු මන්ත්‍රණ සභාවේ ශුද්ධ වූ සභාව පිළිබඳ ප්‍රකාශයේ අංක 8හි සඳහන් වේ. එය අපගේ විශ්වාසය වන්නාසේ ම එම විශ්වාසයට පක්ෂපාතී ව ජීවත් වීමට වෙර දරමු.

### ක්‍රියාකාරකම

1. ශුද්ධ වූ සභාවේ "ඒකත්වය" වර්ධනය කිරීමට ඔබට කළ හැකි කාර්යයන් **දෙකක්** ලියන්න.
2. ශුද්ධ වූ සභාවේ සාමාජිකයකු ලෙස, ශුද්ධවන්ත ජීවිතයක් ගත කිරීමට ඔබට ලැබී ඇති කැඳවීම අනුව ඔබ කළ යුතු කාර්යයන් **තුනක්** ලියන්න.
3. ශුද්ධ වූ සභාවේ "කතෝලිකත්වය" වර්ධනය කිරීමට ඔබට කළ හැකි කාර්යයන් **පහක්** ලියන්න.

***ජීවිතයට බිඳක්***

*බොහෝ අවයව තිබෙන නමුත් ඇත්තේ එකම ශරීරයකි.*

# 11 ශ්‍රී ලාංකික කතෝලික සභාව

"ශුද්ධාත්මයාණන් වහන්සේ ඔබ කෙරෙහි පැමිණි කල, ඔබ බලය ලබන්නාහු ය. එවිට ඔබ ජෙරුසලමෙහි ද මුළු ජුදයෙහි හා සමාරියෙහි ද පොළොවේ සීමාන්තයන් දක්වා ද මාගේ සාක්ෂිකාරයෝ වන්නාහු ය" (ක්‍රියා 1:8).

ජේසුස් වහන්සේගේ මෙම ප්‍රකාශය සඵල වෙමින් ඔවුන් වහන්සේගේ සුබාරංචිය පිළිබඳ සුපුවත මෙරටට පැමිණියේ ය. ශ්‍රී ලංකා ශුද්ධ වූ සභා ඉතිහාසය ප්‍රධාන යුග පහකට බෙදා දැක්විය හැකි ය.

1. පෘතුගීසීන් පැමිණීමට පෙර අවධිය - ක්‍රි.ව. 1505ට පෙර
2. පෘතුගීසීන් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධිය - ක්‍රි.ව. 1505-1658
3. ලන්දේසීන් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධිය - ක්‍රි.ව. 1658-1796
4. බ්‍රිතාන්‍ය යුගය - ක්‍රි.ව. 1796-1948
5. නිදහසින් පසු යුගය - ක්‍රි.ව. 1948

## 1. පෘතුගීසින් පැමිණීමට පෙර අවධිය (ක්‍රි.ව. 1505ට පෙර)



11.1 රූපය - 1912 දී අනුරාධපුරයෙන් හමු වූ කුරුසයේ ලාංඡනය

පෘතුගීසීන් පැමිණීමට පෙර අනුරාධපුරයේ මෙරට ක්‍රිස්තු භක්තිකයන් ගැවසුණු බව ක්‍රි.ව 6 වන සියවසේ දී ලියන ලද කොස්මොස් ඉන්ඩොක්ලප්ටයුස්ටස්ගේ ටොපොග්‍රැෆියා ක්‍රිස්තියානා නැමති කෘතියේ සඳහන් වී ඇත.

1912 දී අනුරාධපුරයේ තිබී ගලක කෙටූ කුරුසයක් හමු වී ඇත. එම කුරුසය ශුද්ධ වූ තෝමස් අපෝස්තළුතුමාගේ ශ්‍රාවකයන්ගේ කුරුසයේ ලාංඡනයක් බවට අදහස් පළ වී ඇත.

තවද 6 වන සියවසරට පෙර ද ක්‍රිස්තු භක්තිකයන් මෙරට සිටි බවට විවිධ මත පළ වී ඇති අතර ඒවා විද්වතුන් අතර සාකච්ඡා වෙමින් පවතී.

මෙරට කිතු දහම ව්‍යාප්ත කිරීමට සහ කතෝලික සභාව පිහිටුවීමට විධිමත් ක්‍රියාමාර්ග අනුගමනය කරනු ලැබුවේ මුහුදු බඩ ප්‍රදේශ පෘතුගීසීන් යටතේ පැවති අවධියේ පැමිණි ධර්මදූත පිරිස් විසිනි.

## 2. පෘතුගීසීන් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධිය (ක්‍රි.ව. 1505-1658)

1505 නොවැම්බර් මස 15වන දින පෘතුගීසීන් ලංකාවට පැමිණියේ අහම්බෙනි. වෙළෙඳාමට පැමිණි ඔවුන් දේශපාලනයට සම්බන්ධ කරගත්තේ කෝට්ටේ රාජධානිය පාලනය කළ vii වන බුවනෙකබාහු රජතුමා විසිනි. තව ද එම රජතුමාගේ ඉල්ලීම පරිදි 1543 දී ලංකාවට පළමු ධර්මදූත කණ්ඩායම ලෙස ප්‍රැන්සිස්කාන ධර්මදූතවරු පස්දෙනෙක් පැමිණියහ. එම ධර්මදූතවරු ඉතා උද්යෝගිමත් ව ධර්මදූත කටයුතුවල යෙදුණහ.

කෝට්ටේ රාජ්‍යය පෘතුගීසි පාලනයට නතුවීමත් සමග මෙරට සේවය සඳහා වෙනත් පැවිදි නිකායන්ට අයත් ධර්මදූතවරුන් ද එවනු ලැබී ය.

- 1602 - ජේසු නිකායික ධර්මදූතවරු
- 1605 - දෙමිනිකාන නිකායික ධර්මදූතවරු
- 1606 - අගුස්තීනු නිකායික ධර්මදූතවරු

මෙම ධර්මදූත කණ්ඩායම් ලංකාවේ තමන්ට පැවරුණු ප්‍රදේශයන්හි ධර්මදූත සේවයේ මෙන් ම විවිධ දයා සේවාවන්හි ද නිරත වූහ. ඒවා අතර අධ්‍යාපනයට හිමිවූයේ, විශේෂ ස්ථානයකි.

## 3. ලන්දේසීන් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධිය (ක්‍රි.ව.1658-1796)

ලන්දේසින් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධියේ එම ප්‍රදේශවල ජීවත් වූ කතෝලිකයන්ට විවිධ බාධක එල්ල විය. මෙරට ජීවත් වූ සියලු ම කතෝලික පියවරුන් රටින් පිටුවහල් කෙරිණි. අප්‍රසිද්ධියේ හෝ කතෝලික දහම ඇදහීම තහනම් විය. දිව්‍ය පූජාව පැවැත්වීම ද තහනම් විය. කතෝලික දෙව්මැදුරු, පාසල් හා පුණ්‍ය ආයතන රෙපරමාදු පූජකයින්ට පවරා දුන් අතර, සමහර ආයතන විනාශ කෙරිණි. සියලු ම පාසල්වල රෙපරමාදු දහම පමණක් ඉගැන්වූ අතර එම පාසල්වලට දරුවන් නොයවන දෙමව්පියන්ට දඩ නියම කරන ලදි. රෙපරමාදු දේවස්ථානවල සිදු කරනු නොලබන විවාහ හා බෞතීස්ම නොපිළිගන්නා ලදි. කතෝලිකයන් මුහුණ පෑ ප්‍රධාන ම ගැටලුව වූයේ, ඔවුනට කිසිදු පූජකයකු නොමැතිවීම ය. මෙම සියලු බාධක ඉදිරියේ තම විශ්වාසය රැකගැනීමට කතෝලික භක්තිකයන් දැරූ ප්‍රයත්නය කතෝලික සභාව වර්තමාන තත්ත්වය දක්වා වර්ධනය වීමට ඉවහල් විය.

තවද එකල එම රෙපරමාදු නිකාය ඕලන්ද රාජ්‍ය ආගම බවට පත් වී තිබුණත් වර්තමානයේ එම තත්ත්වය බෙහෙවින් යහපත් අතට වෙනස් වී ඇත.

මහනුවර රාජධානියට සංක්‍රමණය වූ කිතුනුවන්ට යම් ආකාරයක නිදහසක් තිබුණ ද ඔවුනට එක ම දේවස්ථානයක් හෝ පූජකවරයකු හෝ නොවී ය. ක්‍රි.ව. 1687 දී ලක්දිව කතෝලිකයන් මෙම ඛේදජනක තත්ත්වයෙන් මුදවා ගැනීමට දෙවියන් වහන්සේ විසින් එවන ලද ගැලවුම්කරුවා වූයේ, භාග්‍යවන්ත ජුසේ වාස් පියතුමාණන් ය.

### භාග්‍යවන්ත ජුසේ වාස් පියතුමා (ශ්‍රී ලංකාවේ අපෝස්තුලුවරයා)



11.2 රූපය - භාග්‍යවන්ත ජුසේ වාස් පියතුමා

## භාග්‍යවන්ත ජුසේ වාස් පිය ගීය

වන්දනීය වූ පූජනීය වූ - ජුසේ වාස් ධම්ම දූත පුදුදුරාණනේ
ධීර වීර වූ ඔබේ - දහම් සේවයේ අනුහසින්
මෙ ලක්බිම අපේ එළිය වේ

විපත් වළේ වැටී පෙළී සිටියවුන් සොයා
එදා ගියේ ඔබයි පියේ නොබා රෑ දිවා
දහම් සිසිල පොවා ඔවුන් පවස නිවා
නවෝදයක් උදා කළේ මහා පිනක් ලබා //

කැලෑ මැදින් දෙපා වැරෙන් ගියේ දුර ගමන්
දුගී වෙසින් සැදී ගතින් දරා දැඩි ගිමන්
කුසට අහර පවා නැති ව දවස ගෙවා
එදා දෙසූ දහම් අමා රසේ බසී ගලා

මිනිස් සිතුම් පැතුම් ලොවේ සැපට නැඹුරු වී
මිලේ නිලේ බලේ කෙරේ සිටින වහල් වී
දනන් කෙලෙස් නසා දෙලෝ සැපත් දිනා
දෙවන් වරම් කිතුන් දහම් රකින්න පෙම් පුදා

මෙතුමා ඉන්දියාවේ ගෝව ප්‍රදේශයේ සැන්කෝලේ නම් ග්‍රාමයේ බ්‍රාහ්මණ වංශික ක්‍රිස්ටෝපර් වාස් හා මරියා මිරැන්ඩා යන දෙමව්පියන්ට දව 1651 අප්‍රියෙල් මස 21වන දින උපත ලැබී ය. කුඩා කල සිට ම දෙවියන් වහන්සේ කෙරෙහි ගැඹුරු විශ්වාසයකින් හා භක්තියකින් යුතු ව හැඩගැසුණු එතුමා, 1676 දී පූජකවරය ලැබුවේ ය. ලාංකික කිතුනුවන්ගේ දුක්ඛිත හා අවාසනාවන්ත තත්ත්වය පිළිබඳ ව දැනගන්නට ලැබීම නිසා ලන්දේසි මුරකරුවන්ගෙන් බේරී ලක්දිවට ඇතුළු වීමට උපායක් සොයමින් සිටියේ ය. ඉන්දීය ඔරතෝරියානු නිකායේ පූජාප්‍රසාදිතුමකු ලෙස 1687 කම්කරුවකු මෙන් වෙස් වළාගෙන වෙළඳ නැවකින් මන්නාරමට පැමිණියේ ය.

නොදන්නා රටක නොදන්නා භාෂා කතා කරන නාඳුනන සෙනඟක් අතරට මෙතුමා පැමිණියේ ස්වෙච්ඡාවෙන් ය. මෙලෙස අභියෝගාත්මක දුෂ්කර සේවයකට අත තැබූයේ තමන් ලද දේව කැඳවීම අවබෝධ කර ගනිමිනි. එතැන් පටන් තම ජීවිතය පරදුවට තබා කිතුනුවන් සොයා යමින් ඔවුන්ට අඛණ්ඩ ව සේවය කළේ ඉමහත් කැපවීමෙනි.

භාග්‍යවන්ත ජුසේ වාස් පියතුමා බොහෝ ප්‍රාතිහාර්යයන් සිදු කළේ ය.

- ★ දැඩි නියඟයක දී මහනුවර රාජධානියට වැස්ස ලබා දීම (ක්‍රි.ව. 1696)
- ★ දඳුරු ඔයෙන් පා ගමනින් එතෙර වීම
- ★ තනි අලියකු මෙල්ල කිරීම

වසූරිය රෝගීන්ට උපස්ථාන කිරීම රජතුමාගේ මෙන් ම ජනයාගේ ද ප්‍රසාදය හිමි වීමට හේතු විය. හිස් පතුලින් සේවයට කැපවූ මෙතුමා පා ගමනින් යාමට පුරුදු විය. මෙතුමා ඉතා අල්පේච්ඡ දිවියක් ගත කළ අතර ආදර්ශමත් සේවයක් ඉටු කළේ ය. අන්නවි, මුහුප්පු සන්ක්‍රිස්තියන් යනාදී ගිහි නායකයින් පත් කෙරිණි. එතුමා විවිධ පළාත්වල ඉතා දුෂ්කර සේවයක නියැලුණි. ක්‍රි.ව. 1711 ජනවාරි මස 16වන දින ස්වර්ගස්ථ වන විට එතුමාගේ වයස අවුරුදු 60කි. අවුරුදු 35ක පූජක දිවියෙන් අවුරුදු 24ක් ම ලංකාවේ සේවය කර ඇත. "**කිසියම් කෙනෙකු මුළු ජීවිත කාලය තුළ ම නොසලකා හැරිය දෙයක් ඔහුගේ මරණ මොහොතේ දී ඉටු කර ගත නොහැකි ය**" යන්න එතුමාගේ අවසාන ඔවදන යි. 1995 ජනවාරි මස 21වන දින ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමා විසින් එතුමා ව භාග්‍යවරයට ඔසවන ලදි. 2015 ජනවාරි 14වන දින අති උතුම් ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම පියතුමා විසින් ශ්‍රී ලංකාවේ දී එතුමාව ශුද්ධවරයට ඔසවන ලදි.

### ගෞරවනීය ජාකෝමේ ගොන්සාල්වෙස් පියතුමා

ක්‍රි.ව. 1705 දී ගරු ජාකෝමේ ගොන්සාල්වෙස් පියතුමා ලංකාවට පැමිණියේ ය. භාග්‍යවන්ත ජුසේ වාස් පියතුමාගේ යොමු කිරීම නිසා එතුමා සිංහල හා දෙමළ පොත් රාශියක් ග්‍රන්ථාරූඪ කළේ ය. ඉන් කිහිපයක් නම්, දේව වේද පුරාණය, වේද කාව්‍යය පසන් පොත හා මංගල ගීතය යි. දේශීය කිතුනු සාහිත්‍යයක් ගොඩනැගීමට පුරෝගාමී වූ මෙතුමා ග්‍රන්ථකරණය, නාට්‍ය කලාව, සංගීතය තුළ විශාල සේවයක් සිදු කළේ ය. ක්‍රි.ව. 1742 ජූලි 17වන දින එතුමා ස්වර්ගස්ථ වූ අතර එතුමාගේ දේහය හලාවත පදවියේ බෝලවත්ත දේවස්ථානයේ තැන්පත් කර ඇත.



11.3 රූපය - ගෞරවනීය ජාකෝමේ ගෙන්සාල්වෙස් පියතුමා

## 4. බ්‍රිතාන්‍ය යුගය (ක්‍රි.ව. 1796-1948)

ලන්දේසීන් සතු ව පැවති පාලන ප්‍රදේශ 1796 බ්‍රිතාන්‍යයට භාරදීමෙන් පසු මුහුදුබඩ ප්‍රදේශ පමණක් පාලනය කළ ඉංග්‍රීසීහු, 1815 මුළු දිවයිනේ ම බලය තහවුරු කර ගත්තෝ ය. ලන්දේසීන් විසින් කතෝලිකයන්ට එරෙහි ව පනවා තිබූ සියලු නීති අවලංගු කළ අතර ලංකාව තුළ කැමති ආගමක් ඇදහීමේ නිදහස උදා විය.

බ්‍රිතාන්‍ය යුගය තුළ මෙරට සේවය සඳහා පැමිණි ධර්මදූත නිකායන් කිහිපයක් මෙසේ ය.

- ★ සිල්වෙස්ත්‍රෝ බෙනදිකාන නිකාය
- ★ නිර්මල මරිය නිකාය
- ★ ජේසු නිකාය
- ★ ද ලාසාල් සොහොයුරන්ගේ පැවිදි නිකාය
- ★ මාරිස්ට් සොහොයුරන්ගේ පැවිදි නිකාය
- ★ ශු. පවුලේ කන්‍යා සොයුරියන්ගේ පැවිදි නිකාය

- ★ යහපත් එඬේරා කන්‍යා සොයුරියන්ගේ පැවිදි නිකාය
- ★ ෆ්‍රැන්සිස්කාන කන්‍යා සොයුරියන්ගේ පැවිදි නිකාය
- ★ දිළිඳුන්ගේ කුඩා සොයුරියන්ගේ පැවිදි නිකාය

## 5. නිදහසින් පසු යුගය (ක්‍රි.ව. 1948 පසු)

1948 දී ශ්‍රී ලංකාවට නිදහස ලැබීමෙන් පසු කතෝලික සභාව මුහුණදුන් ප්‍රධාන ම ගැටලුව වූයේ, 1961 පාසල් රජයට පවරා ගැනීම ය. එම නිසා පාසල් අධ්‍යාපනය තුළ තිබූ ආගමික පරිසරය අහිමි විය. ආගම ඉගැන්වීම සතියකට කාලච්ඡේද දෙකකට සීමා වූ අතර කතෝලික පාසල් පරිපාලනය, ගුරුවරුන් බඳවා ගැනීම, මාරුකිරීම යනාදිය පිළිබඳ වගකීම හා බලය රජය සතු කර ගත්තේ ය. එබැවින් කතෝලික පරිසරය කතෝලික පාසල් තුළින් ගිලිහිණි. විනය පිරිහිණි. රජය විසින් 1960 දශකයේ දී විදේශීය ධර්මදූතයන්ගේ වීසා අළුත් නොකළ නිසා ඔවුන්ට නැවත තම රටවලට යාමට සිදු විය.

නිදහසින් පසු දේශීය අගරදගුරුවරු සහ රදගුරුවරු පත් විය. උන්වහන්සේලා කිහිප නමක් ස්වර්ගස්ථ වී ඇති අතර සෙසු රදගුරු හිමිපාණන් වහන්සේලා විශ්‍රාමික ව සිටිති.

| | |
|---|---|
| කොළඹ | අති උතුම් තෝමස් කාදිනල් කුරේ හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| කොළඹ | අති උතුම් නිකලස් මාකස් ප්‍රනාන්දු අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික) |
| කොළඹ | අති උතුම් ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික) |
| කුරුණෑගල | අති උතුම් රේමන්ඩ් පීරිස් රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| ගාල්ල | අති උතුම් එල්මෝ පෙරේරා රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| ගාල්ල | අති උතුම් ඇන්තනි සේරම් රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| ගාල්ල | අති උතුම් දොන්සිල්වෙස්ටර් රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| හලාවත | අති උතුම් එඩ්මන්ඩ් පීරිස් රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| හලාවත | අති උතුම් ප්‍රැන්ක් මාකස් රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| මහනුවර | අති උතුම් පෝල් පෙරේරා රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| අනුරාධපුරය | අති උතුම් හෙන්රි ගුණවර්ධන රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| යාපනය | අති උතුම් එමලියානුස් පිල්ලේ රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| යාපනය | අති උතුම් දියෝගු පිල්ලේ රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| බදුල්ල | අති උතුම් ලියෝ නානායක්කාර රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| බදුල්ල | අති උතුම් එඩ්මන්ඩ් ප්‍රනාන්දු රදගුරු හිමිපාණෝ (ස්වර්ගස්ථව) |
| ත්‍රි/මඩකලපුව | අති උතුම් කිංස්ලි ස්වාමිපිල්ලේ රදගුරු හිමිපාණෝ (විශ්‍රාමික) |
| කොළඹ | අති උතුම් මේරියස් පීරිස් රදගුරු හිමිපාණෝ (විශ්‍රාමික) |

දීප ව්‍යාප්ත දහම් පාසල් ක්‍රමයක් මෙන් ම ධර්මෝපදේශ මධ්‍යස්ථාන බිහි විය. මේ සමයෙහි ශ්‍රී ලාංකික කතෝලික සභාව දේශීයකරණයට ද යොමු විය. 2012 වර්ෂය වන විට ශ්‍රී ලංකාවේ රදගුරු පදවි 12ක් විය. එම රදගුරු පදවි හා ඒවායෙහි රදගුරුතුමන්ලා පහත දැක්වේ.

1. කොළඹ — අතිඋතුම් මැල්කම් කාදිනල් රංජිත් අගරදගුරු හිමිපාණෝ
අතිඋතුම් මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ (සහායක)
අතිඋතුම් ජේ. ඩී. ඇන්තනි රදගුරු හිමිපාණෝ (සහායක)

2. යාපනය — අතිඋතුම් ජස්ටින් බර්නාඩ් ඥාණප්‍රකාසම් රදගුරු හිමිපාණෝ

3. මහනුවර — අතිඋතුම් ජෝශප් වියානි ප්‍රනාන්දු රදගුරු හිමිපාණෝ

4. ගාල්ල — අතිඋතුම් රේමන්ඩ් වික්‍රමසිංහ රදගුරු හිමිපාණෝ

5. ත්‍රිකුණාමලය — අතිඋතුම් ක්‍රිස්ටින් නොයෙල් එම්මානුවෙල් රදගුරු හිමිපාණෝ

6. හලාවත — අතිඋතුම් වැලන්ස් මෙන්ඩිස් රදගුරු හිමිපාණෝ

7. බදුල්ල — අතිඋතුම් වින්ස්ටන් ප්‍රනාන්දු (එස්.එස්.එස්.) රදගුරු හිමිපාණෝ

8. මන්නාරම — අතිඋතුම් එම්මානුවෙල් ප්‍රනාන්දු රදගුරු හිමිපාණෝ

9. අනුරාධපුරය — අතිඋතුම් නෝබට් අන්ද්‍රාදි (නි.ම.නි.) රදගුරු හිමිපාණෝ

10. කුරුණෑගල — අතිඋතුම් හැරල්ඩ් ඇන්තනි පෙරේරා රදගුරු හිමිපාණෝ

11. රත්නපුර — අතිඋතුම් ක්ලීටස් චන්ද්‍රසිරි පෙරේරා (සා.බෙ.නි.) රදගුරු හිමිපණෝ

12. මඩකලපුව — අතිඋතුම් පොන්නයියා ජෝශප් රදගුරු හිමිපාණෝ

* මෙම රදගුරු පදවි 12 සඳහා පත්වන රදගුරුතුමන්ලා කාලයෙන් කාලයට වෙනස් විය හැකි බැවින් මෙම ලයිස්තුව සංශෝධනය විය හැකිය.

## ක්‍රියාකාරකම

1. පෘතුගීසින් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධියේ දී පැමිණි ධර්මදූත කණ්ඩායම් **දෙකක්** නම් කරන්න.
2. ලන්දේසින් මුහුදු බඩ ප්‍රදේශ පාලනය කළ අවධියේ දී කතෝලික දහම රැක ගැනීමට දයක වූ පියවරුන් **දෙදෙනකු** නම් කරන්න.
3. බ්‍රිතාන්‍ය යුගයේ මෙරටට පැමිණි පැවිදි නිකායන් **දෙකක්** නම් කරන්න.
4. නිදහසින් පසු යුගයේ කතෝලික සභාව මුහුණ දුන් ගැටලු **දෙකක්** දක්වන්න.

*ජීවිතය සඳහා*
*සුබාරංචිය පතළ කිරීමට දායක වෙමු.*

# 12 දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ



12.1 රූපය - අන්තිම රාත්‍රි භෝජනය

ක්‍රිස්තුන් වහන්සේ මෙලොවින් සමු ගැනීමට පෙර අප හා සදහට ම සිටිනු සඳහා මහා බ්‍රහස්පතින්ද දින අන්තිම රාත්‍රි භෝජනය අවස්ථාවේ දී දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කළ සේක. තව ද ඔවුන් වහන්සේ සිහි කරලනු වස් නැවත නැවත එය සිදු කරන ලෙස, තම අපෝස්තුලුවරුන්ට නියම කළ සේක. දිව්‍ය පූජාව තුළින් එම පිළිවෙත ලෝක අවසානය දක්වා අඛණ්ඩ ව සිදු කරනු ලැබෙයි. දිව්‍ය සත්ප්‍රසාදය තුළ ක්‍රිස්තුන් වහන්සේ ජීවමාන ව වැඩ සිටින සේක.

කතෝලික ජනවන්දනාවේ කේන්ද්‍රස්ථානය මෙන් ම අග්‍රස්ථානය ද හිමි වනුයේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට ය. මන්ද යත් ජීවමාන ව ක්‍රිස්තුන් වහන්සේ එහි වැඩ සිටින නිසා ය. එහෙයින් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ, **"දේව ප්‍රසාද නිධානයන්ගේත් දේව ප්‍රසාද නිධානය"** නමින් හඳුන්වනු ලැබෙයි. දිව්‍ය පූජාව තුළ දෙවි පියාණන් වහන්සේට යාග වෙමින්, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ අපගේ ආත්මික භෝජනය වෙමින් අප ව පෝෂණය කරන සේක.

## දිව්‍ය සත්ප්‍රසාදීය ලක්ෂණ

### 1. දේව ප්‍රසාද නිධානයක්

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ යනු මහ බ්‍රහස්පතින්ද දින ක්‍රිස්තුන් වහන්සේ විසින් ස්ථාපිත කරන ලද ජීවමාන ක්‍රිස්තුන් වහන්සේ වැඩ සිටින, අනගි දේව ප්‍රසාද නිධානය යි.

## 2. භෝජනයක්

"යමෙක් මාගේ මාංසය **අනුභව** කරන්නේ ද, මාගේ රුධිරය **පානය** කරන්නේ ද ඔහුට සදාතන ජීවනය ඇත. තව ද මම ඔහු අන්තිම දවසේ දී උත්ථාන කරන්නෙමි. මන්ද මාගේ මාංසය සැබෑ **භෝජනය** වේ; මාගේ රුධිරය සැබෑ **පානය** වේ. මාගේ මාංසය **අනුභව** කරන, මාගේ රුධිරය **පානය** කරන තැනැත්තේ මා තුළ ජීවත් වන්නේ ය; මම ද ඔහු තුළ ජීවත් වන්නෙමි" (ජොහන් 6:54-56) මෙහි දී "මාංසය" හා " රුධිරය" යනුවෙන් අදහස් කරන්නේ සක්‍රමේන්තුමය ආකාරයෙන් අපට ලැබෙන දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනය යි.

## 3. යාගයක්

"උන් වහන්සේ රොටී ගෙන තුති පුද, ඒවා කඩා, ඔවුන්ට දී, "ඔබ **උදෙසා** දෙනු ලබන මාගේ ශරීරය මේ ය; මා සිහි කිරීම පිණිස මෙය කරන්නැ"යි වදාළ සේක. එලෙස ම භෝජනයෙන් පසු කුසලාන දී, මේ කුසලාන ඔබ **උදෙසා** වගුරුවනු ලබන මාගේ රුධිරයෙන් කළ නව ගිවිසුම ය" (ලූක් 22:19-20).

## 4. ගිවිසුමක්

"එලෙස ම රාත්‍රී කෑමෙන් පසු කුසලාන ද රැගෙනඃ 'මේ කුසලාන මාගේ රුධිරයෙන් පිහිටුවන නව **ගිවිසුම** ය. යම් පමණ වර ඔබ මෙයින් පානය කරන්නහු ද, එපමණ වර මා සිහි කිරීම පිණිස මෙය කරන්නැ'යි වදාළ සේක" (1 කොරෙන්ති 11:25).

## 5. ස්තුති කිරීමක්

"ඔවුන් වහන්සේ කුසලානක් ගනිමින්, **තුති පුද** "මෙය ගෙන ඔබ අතරෙහි බෙද ගන්න" (ලූක් 22:17).

"ඔවුන් වහන්සේ රොටී ගෙන **තුති පුද** ඒවා කඩා, ඔවුන්ට දී, ඔබ උදෙසා දෙනු ලබන මාගේ ශරීරය මේ ය. මා සිහි කිරීම පිණිස මෙය කරන්නැ'යි වදාළ සේක." (ලූක් 22:19)

## 6. පරිස්මරණයක් (අත්දැකීමට ඇතුළුවීම) (සිහිකිරීමක්)

"ස්තුති කොට, කඩාඃ 'මෙය ඔබ උදෙසා දෙන මාගේ ශරීරය ය. මා **සිහිකිරීම** පිණිස මෙය කරන්නැ' යි වදාළ සේක (1 කොරින්ති 11:24).

දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනයට පංගුකාර වන සියලු දෙනා ක්‍රිස්තුන් වහන්සේ තුළ ජීවත් වන්නේ ය. ක්‍රිස්තුස් වහන්සේ ද ඔවුන් තුළ සදහට ම ජීවත් වන සේක. එක ම ක්‍රිස්තුස් වහන්සේ ව ලබා ගන්නා අපි සියලු දෙනා එක ම ශරීරයක් වෙමු. එම එක ම ශරීරය ශුද්ධාත්මික ක්‍රිස්තු දේහය යි. එනම් ශුද්ධ වූ සභාව යි. එහෙයින් ඔවුන් වහන්සේ මෙන් කැඩෙන්නට, බිඳෙන්නට, වැය වෙන්නට සූදානම් විය යුත්තෙමු. පරාර්ථකාමී ව එකිනෙකාගේ යහපත සදහාත්, පොදු යහපත සදහාත්, ශුද්ධ වූ සභාවේ අභිවෘද්ධිය සදහාත් අවංක ව වෙහෙසීම හා වැයවීම අපගේ යුතුකම් වේ. ක්‍රිස්තුන් වහන්සේ අප සියල්ලන් වෙනුවෙන් පුද කළ ජීවිත යාගය ඉදිරියට ගෙන යාමට හවුල්කරුවන් විය යුත්තෙමු.

## දිව්‍ය පූජාව සඳහා නව ගිවිසුමේ සඳහන් නම්

### 1. පූප කැඩීම

එවිට "ඔවුහු ද මග දී තමන්ට සිදු වූ කාරණා සහ **රොටී කැඩීමෙහි** දී ඔවුන්ට උන් වහන්සේ ප්‍රකාශ වූ හැටි ද පැවසූහ" (ලූක් 24:35).

"ඔවුහු ප්‍රේරිතවරුන්ගේ ඉගැන්වීමෙහි ද සහභාගිකමෙහි ද **රොටී කැඩීමෙහි** ද යාච්ඤාවෙහි ද නිරත ව කල් ගත කළහ (ක්‍රියා 2:42).

### 2. ස්වාමීන් වහන්සේගේ රාත්‍රී භෝජනය

"ඔබ සභාවක් වශයෙන් එක්රැස් වන විට, **සමිඳාණන් වහන්සේගේ රාත්‍රි භෝජනය** වැළඳීමක් සිදු නොවේ (1 කොරින්ති 11:20).

### 3. නව පාස්කු මංගල්‍යය

"එබැවින් පරණ මුහුන්වලින් වත් ඊර්ෂ්‍යාව සහ දුෂ්ටකම නමැති මුහුන්වලින් වත් නොව අවංකකම ද සත්‍යය ද නමැති නුමුහුන් රොටියෙන් **පාස්කු මංගල්‍යය** පවත්වමු" (1 කොරින්ති 5:8).

### 4. ක්‍රිස්තුන් වහන්සේගේ ශරීරයේ සහභාගිකම

"අප ආසිරි කුසලාන ගෙන ආශිර්වාද කරන විට ඉන් අදහස් වන්නේ **ක්‍රිස්තුන් වහන්සේගේ රුධිරයේ සහභාගිකම** නොවේ ද? අප රොටි කඩන විට ඉන් අදහස් වන්නේ ක්‍රිස්තුන් වහන්සේගේ **ශරීරයේ සහභාගිකම** නොවේ ද?" (1 කොරින්ති 10:16)

## දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ පිළිබඳ පූර්ව සලකුණු

### ⋆ මෙල්කිසදෙක්ගේ යාගය

සාලොම් (ජෙරුසලම්) නුවර පූජක රජතුමකු වූ මෙල්කිසදෙක් ප්‍රථම වරට පූප හා මිදියුස ගෙන, දෙවියන් වහන්සේට ඔප්පු කළේ ය (උත්පත්ති 14:18-20).

### ⋆ මන්නා භෝජනය

ඉශ්‍රායෙල් ජනතාව මිසරයේ වහල්කමින් මිදී, පොරොන්දු දේශය බලා යන ගමනේ දී දෙවියන් වහන්සේ මන්නා භෝජනයෙන් ඔවුන් පෝෂණය කළ සේක (නික්මයාම 16:4).

★ **නුමුහුන් පූප අනුභවය හා කුසලානයෙන් පානය කිරීම**

ඊජිප්තුවේ වහල්කමින් මිදී නික්ම යන රාත්‍රියේ කඩිනමින් පිටත් වූ බව සිහිකරනු වස් අවුරුදු පතා පාස්කු භෝජනය පැවැත්වීමේ දී ඉශ්‍රායෙල් ජනතාව විසින් නුමුහුන් පූප අනුභව කරන ලදි; කුසලානයෙන් පානය කරන ලදි (නික්මයාම 12:15-20).

★ **පූප වැඩිකිරීමේ ප්‍රාතිහාර්යය**

සුබාරංචි කතුවරුන් හතර දෙනා ම වාර්තා කරන එක ම ප්‍රාතිහාර්යය යි (මතෙව් 14:15-21, මාක් 6:35-44, ලූක් 9:12-17, ජොහන් 6:5-13). දිව්‍ය පූජා පිළිවෙතෙහි මෙහි දක්නට ඇති මූලික ලක්ෂණ මෙහි දැකිය හැකි ය. "ජේසුස් වහන්සේ **රොටී ගෙන, තුති පුදා, එය කඩා, බෙදා දුන් සේක."**

### ජීවනදායක භෝජනය පිළිබඳ ඉගැන්වීම්

"ජීවනදායක භෝජනය මම ය, මා වෙත පැමිණෙන යමෙක් වේ ද ඔහුට සාගිනි නොවන්නේ ය. මා අදහන යමෙක් වේ ද ඔහුට කිසි කලෙකත් පිපාස නොවන්නේ ය (ජොහන් 6:35).

දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනය වළඳන අපි ක්‍රිස්තුන් වහන්සේ එහි ජීවමාන ව වැඩ සිටින බව පිළිගනිමු. උන් වහන්සේ දිව්‍ය සත්ප්‍රසාදය තුළ ජීවමාන ව වැඩ සිටීම පිළිබඳ ව ඉතාලියේ ලන්චියානෝ නුවර සිදු වූ ප්‍රාතිහාර්යය කදිම නිදසුනකි.

## ලන්චියානෝ නුවර ප්‍රාතිහාර්යය



12.2 රූපය - දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ

ක්‍රි.ව. 800 දී පමණ ඉතාලියේ ලන්චියානෝ නුවර ශුද්ධ වූ ලෙගොන්ෂියන් මුනිතුමාට කැප කරන ලද කුඩා දෙව් මැදුරේ සේවය කළ එක්තරා තාපස පියතුමෙක් දිව්‍ය පූජාව පවත්වන විට, පූප හා මිදියුස ජේසුස් වහන්සේගේ ශ්‍රී ශරීරයට හා ශ්‍රී රුධිරයට හැරෙන්නේ ද'යි සැක කළේ ය. දිනක් එතුමා දිව්‍ය පූජාවේ දිව්‍ය රහස් කරන මොහොතේ පූපය මස් කැබැල්ලක් බවටත් මිදියුස රුධිරය බවටත් පත්වන බව දිටී ය. එම මස් කැබැල්ල හා රුධිරය ලන්චියානෝ නුවර විශේෂ දිව්‍ය සත්ප්‍රසාද කරඬුවක තැන්පත් කර ඇත.

1574 හා 1970 දි මෙම මස් කැබැල්ල හා රුධිරය පිළිබඳ ව විද්‍යාත්මක පර්යේෂණ සිදු කරන ලදි. මෙහි දී අනාවරණය වී ඇත්තේ එම මස් කැබැල්ල මිනිස් හදවතකින් ගත් එකක් බවත් රුධිරය "AB පොසිටිව්" රුධිර වර්ගයට අයත් වූ බවත් ය. ශතවර්ෂ 12කට

අධික කාලයක් පරිසර සාධකවලට නිරාවරණය වී පැවතුණ ද මෙම මස් කැබැල්ල හා රුධිරය නරක් වී නොමැති බවත් ය. තවද ශරීරයෙන් ඉවතට ගත් විට රුධිරයේ ප්‍රෝටීන් හා ඛණිජ පවතින්නේ ටික වේලාවකට පමණක් වන නමුදු මෙම රුධිරයේ ඇති ප්‍රෝටීන් හා ඛණිජ ඉවත් නොවී දිගටම පවතී.

1978 වර්ෂයේ දී නාසා ආයතනය ටියුරින් නුවර ශ්‍රී සළුව පිළිබඳ පර්යේෂණයක් සිදු කළේ ය. එහි දී අනාවරණය වූයේ ශ්‍රී සළුවේ තැන්පත් ව ඇති ලේ වර්ගය "AB පොසිටිව්" ලේ වර්ගයට අයත් බව ය. ටියුරින් නුවර ශ්‍රී සළුවේත්, මස් කැබැල්ලේත් එක ම ලේ වර්ගයක් තිබීම වැදගත් අනාවරණයකි.

දිව්‍ය පූජාවට නිසි ලෙස හා උනන්දුවෙන් සහභාගි වීම කිතුනු අපගේ යුතුකමකි. හැකි සෑම විට ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගෙන ජීවමාන ක්‍රිස්තුන් වහන්සේගෙන් පෝෂණය විය යුතු වන්නෙමු. මෙම ආධ්‍යාත්මික පෝෂණය ස්වර්ග රාජ්‍යය කරා යන ගමනට මහෝපකාරී වේ. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ වැඩමකර හෝ තැන්පත් කර ඇති විට පෞද්ගලික ව හෝ සාමූහික ව යාච්ඤා කිරීම මගින් දේව සබඳතාව වර්ධනය කර ගනිමු. එමෙන් ම දේවස්ථානයේ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තැන්පත් කර ඇති විට දණ නමස්කාර කළ යුතු වෙමු. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ වැඩම කර ඇති විට දෙදණ නමා නමස්කාර කළ යුතු වෙමු.

### ක්‍රියාකාරකම

1. කතෝලික ජනවන්දනාව තුළ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට වැදගත් තැනක් හිමි වන්නේ ඇයි?
2. දිව්‍ය සත්ප්‍රසාදීය ලක්ෂණ **හතරක්** දක්වන්න.
3. දිව්‍ය සත්ප්‍රසාදී භෝජනයට පංගුකාර වන්නකු තුළ තිබිය යුතු යහපත් ගුණාංග **හතරක්** දක්වන්න.
4. දිව්‍ය පූජාව සඳහා නව ගිවිසුමේ භාවිත වන නම් **හතරක්** දක්වන්න.
5. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ පිළිබඳ පූර්ව සලකුණු **හතරක්** නම් කරන්න.

*ජීවිතය සඳහා*

*දිව්‍ය පූජාවට නිසි ලෙස සහභාගි වීමටත්, පාප ක්ෂමාව ලබා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමටත් පුරුදු පුහුණු වෙමු.*

# 13 පාස්කු භෝජනය



13.1 රූපය - නික්මයාම

## පුරාණ ගිවිසුමේ පාස්කු භෝජනය

පුතා : අම්මේ, අද අපේ ගෙදර මොකක් හරි උත්සවයක් තියෙනව ද?

අම්මා : ඔව් පුතේ, අද තමා අපේ පාස්කු මංගල්‍යය. ජුදෙව් අපට ඒක ඉතා වැදගත් දවසක්.

පුතා : මොකක් ද අම්මේ පාස්කු මංගල්‍යය කියන්නේ?

අම්මා : හොඳයි පුතා, එහෙනම් හොඳට අහගන්න. පුතාට මතක ඇති නේද, මම දවසක් කියලා දුන්නා, අපේ මුතුන් මිත්තෝ මිසරයේ වහල්ලු වෙලා හිටියා කියලා. ඒ කාලයේ දී ඔවුන් වහල් සේවයේ යෙදී සිටිමින් ගොඩාක් දුක් විඳලා තියෙනවා.

පුතා : මොනවද අම්මේ ඔය වහල් සේවයේ දී ඒ අය කරල තියෙන්නේ?

අම්මා : ඒ අය මිසරයේ කුඹල්, ගඩොල්, කෘෂි යනාදි කර්මාන්තවල යෙදුණා. ගබඩා නගර ඉදි කළා. බර වැඩ කළා. ඒ අයගෙන් බලහත්කාරයෙන් වැඩ ගත්තා. මේ අය විදි දුක් පීඩා නිසා දෙවියන් වහන්සේ ඔවුන් ව මුදවා ගෙන, නැවත අපේ දේශය (ඉශ්‍රායෙලය) වෙත ගෙන ඒමට මෝසස් තුමා තෝරා ගත්තා.

පුතා : ඉතින් අම්මේ මෝසෙස් තුමාට පුළුවන් වුණා ද ඒ දේ කරන්න?

අම්මා : ඔව් පුතා, දෙවියන් වහන්සේ මෝසෙස් තුමා තෝරා ගෙන, මිසරයේ පාරාවෝ රජු වෙත යැව්වා. ඔහුගේ උදව්වට ආරොන්වත් යැවුවා. දෙවියන් වහන්සේ මේ අය සමග නිතර ම සිටිමින් ඔවුන් ශක්තිමත් කළා.

පුතා : ඉතින් පාරාවෝ රජතුමා අපේ (ජුද) සෙනග ව නිදහස් කළා ද?

අම්මා : නැහැ පුතා, ඒක නිසා දෙවියන් වහන්සේ වසංගත දහයක් මිසර ජනයා මත පැමිණෙව්වා. දහවන (අවසාන) පීඩනය තමා කුළුදුලන් මරණයට පත්කිරීම. පාරාවෝ රජුගේ කුළුදුල් පුත්‍රයාගේ පටන් සෑම නිවසක ම කුළුදුලන් මරණයට පත් වුණා. මෘගයන්ගේ ද කුළුදුල් සතුන් මරණයට පත් වුණා. ඒ නිසා සෑම නිවසක ම මහත් අඳෝනාවක් ඇති වුණා.

පුතා : එතකොට අම්මේ, ඉශ්‍රායෙල් සෙනගට මොකද වුණේ?

අම්මා : පුතා, ඒ අයට කිසි දෙයක් වුණේ නැහැ. මොකද දෙවියන් වහන්සේ මෝසෙස් තුමාට කලින් දවසේ මේ ගැන උපදෙස් දී තිබුණා. ඒ අනුව ඔවුන් බැටළුවකු මරා, උගේ ලේ තම නිවෙස්වල දෙරෙහි උළුවහු කණු දෙකේත් උඩ ලීයේත් තැවරුවා. උගේ මස්, නුමුහුන් රොටී හා තිත්ත පලා සමග එම රාත්‍රියේ දී ම ඉතිරි නොවන ලෙස අනුභව කළා. ඒ නිසා ඒ අය මරණින් මිදුණා. එහි දී දෙවියන් වහන්සේ ඔවුනට නියෝගයක් දුන්නා:"මේ දවස නුඹලාට අනුස්මරණ දිනයක් ලෙස ද සමිඳාණන් වහන්සේ වන මා හට මංගලෝත්සව දිනයක් ලෙස ද පැවැත්විය යුතු ය." තව ද මතු සියලු පරම්පරා ද එය සදහට ම මංගල දිනයක් සේ පැවැත්වීමට ද නියෝග කළා (නික්මයාම 12:14).

පුතා : අම්මා මට අපේ පාස්කු මංගල්‍යය ගැන කියා දුන්නාට ස්තුතියි. දැන් මටත් ඒ ගැන හොඳින් තේරෙනවා.

ජුදෙව්වන් වසරක් පාසා පාස්කු මංගල්‍යය උත්සවාකාරයෙන් සිදු කළ අතර, එහි දී පාස්කු භෝජනයට වැදගත් තැනක් හිමි විය. පාස්කු බැටළුවා ඒ අතර සුවිශේෂී විය: "යම් ගෙදරක වැසියන්ට එක බැටළු පැටවකු වැඩි නම් ඔවුන්, අසල්වැසි ගෙදර අයගේ සංඛ්‍යාව අනුව ඊට හවුල් කර ගත යුතු ය. බැටළු පැටවා අනුභව කරන්නන්ගේ ගණන, ගිණිය යුත්තේ එක් එක්කෙනා අනුභව කරන ප්‍රමාණය අනුව ය" (නික්මයාම 12:4,8,20).

ජුද පාස්කු භෝජනයේ මූලිකාංග හතරක් විය.

1. පාස්කු බැටළුවා
2. නුමුහුන් රොටී
3. තිත්ත පලා
4. මිදියුස

## නව ගිවිසුමේ පාස්කු භෝජනය



13.2 රූපය - දිව්‍ය පූජා යාගය

නව ගිවිසුමෙහි මහ බ්‍රහස්පතින්දා දින ක්‍රිස්තුන් වහන්සේ විසින් පවත්වන ලද අන්තිම රාත්‍රි භෝජනය "පාස්කු භෝජනයක්" විය. එදින ක්‍රිස්තුන් වහන්සේ සදාතනික භෝජනය වන දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කළ සේක. ඔවුන් වහන්සේ අප හා සමග සදහට ම ජීවත් වීමට දිව්‍ය භෝජනයක් ලෙස දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කරමින් පාස්කු බැටළුවාගේ තැන ඔවුන් වහන්සේ ගත් සේක. පසු දින තම ජීවිත යාගය මගින් නව ගිවිසුමෙහි බැටළු පෝතකයාණන් වූ සේක.

උන් වහන්සේ රොටී ගෙන තුති පුදා, ඒවා කඩා, ඔවුන්ට දී, "ඔබ උදෙසා දෙනු ලබන මාගේ ශරීරය මේ ය; මා සිහි කිරීම පිණිස මෙය කරන්නැ'යි වදළ සේක. එලෙස ම භෝජනයෙන් පසු කුසලාන දී, "මේ කුසලාන ඔබ උදෙසා වගුරුවනු ලබන මාගේ රුධිරයෙන් කළ නව ගිවිසුම ය"...... වදළ සේක (ලූක් 22:19-20).

දිව්‍ය පූජාව තුළ එම පාස්කු යාගය ජීවත් කරවමු. ලෝක අවසානය දක්වා ම අනුස්මරණය කරමු.

### පාද දෝවනය හා ප්‍රේමයේ පනත



13.3 රූපය - මහා බ්‍රහස්පතින්ද ක්‍රිස්තුන් වහන්සේ අපෝස්තුලුවරුන්ගේ පාද සේදීම

ශු. මතෙව්, මාක් හා ලූක් යන සමදර්ශක සුබාරංචිකතුවරුන් ජේසුස් වහන්සේ මහා බ්‍රහස්පතින්දා දින දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කිරීම පිළිබඳ ව සදහන් කළ ද සුවිශේෂක ජොහන් තුමා ඒ වෙනුවට දක්වන්නේ රාත්‍රි භෝජනයෙන් පසු ඔවුන් වහන්සේ තම ශ්‍රාවකයන්ගේ පාද සේදීමේ සිද්ධිය යි. මන්ද යත්, දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනයට සහභාගි වන්නන්, ප්‍රේමයේ පනත ජීවත් කළ යුතු බැවිනි. එය ජේසුස් වහන්සේ අන්තිම රාත්‍රි භෝජනයේ දී මෙලෙස අවධාරණය කළ සේක. මහා බ්‍රහස්පතින්දා දින ජේසුස් වහන්සේ දිව්‍ය සත්ප්‍රසාදය හා පූජාත්වරය යන දේව ප්‍රසාද නිධාන දෙක ස්ථාපිත කළ සේක.

> "ගුරු දේවයෙනි", "ස්වාමිනී කියා" ඔබ මා අමතන්නාහු ය. එසේ කීම හරි ය; මම එසේ ම වෙමි. ඔබේ ස්වාමින් ද ගුරුදේවයන් ද වන මම ඔබේ පාද සේදුවෙමි නම් ඔබත් එකිනෙකාගේ පාද සේදිය යුතු ය. ...... මම ඔබට අළුත් ආඥාවක් දෙමි. එකිනෙකාට ප්‍රේම කරන්න. මා ඔබට ප්‍රේම කළාක් මෙන් ඔබත් එකිනෙකාට ප්‍රේම කරන්න.
>
> (ජොහන් 13:13-14,34)

මෙමගින් දිව්‍ය සත්ප්‍රසාද පිළිවෙතේ යථාර්ථය ඉස්මතු කරයි.

මුල් කිතුනු සංඝය තුළ ද ප්‍රේමය හා සේවය අතපසු කරමින් දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනයට සහභාගි වී ඇති බවත්, එසේ කිරීම නුසුදුසු බවත්, ශු. පාවුලු තුමා කොරින්ති සභාවට කරන අනුශාසනාවෙන් සනාථ වේ.

> මා මේ අනුශාසනා කරන විට මම ඔබට ප්‍රශංසා නොකරමි. මන්ද ඔබේ රැස්වීම්වල දී යහපතට වඩා අයහපත සිදු වන බැවිනි. පළමු ව ඔබ සභාවක් වශයෙන් රැස් වන විට ඔබ අතර භේද තිබෙන බව ආරංචි වී ඇත.
>
> (1 කොරින්ති 11:17-18)

මේ නිසා දිව්‍ය සත්ප්‍රසාද භෝජනයට සහභාගි වීමට නම් පළමු ව ප්‍රේමයේ පනත තුළ ජීවත් විය යුතු ය. ප්‍රේමයේ පනතට විරුද්ධ ව කටයුතු කළ කල්හි, අපි අපගේ පව්වලට සමාව ලබා, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට පංගුකාර විය යුතු වෙමු.

මේ නිසා දිව්‍ය සත්ප්‍රසාදය යනු අඛණ්ඩ ව පැවැත්විය යුතු වත්පිළිවෙතක් පමණක් නොව ප්‍රේමයේ හා එකමුතුකමේ දේව ප්‍රසාද නිධානයකි. එබැවින් ඉරුදින දිව්‍ය යාගය යනු ප්‍රේමයේ හා සේවයේ අනුස්මරණයකි. සතියක් පුරා අන් අය වෙනුවෙන් කැඩෙමින් බිඳෙමින් ගත කළ යාගික ජීවිතය ජේසුස් වහන්සේගේ යාගය සමග මුසුකොට, ඔවුන් වහන්සේ සමග දෙව් පියාණන් වහන්සේට ඔප්පු කිරීමකි.

ශු. ජොහන් තුමා කිතුනු සංඝයට ආරාධනා කරන්නේ, දිව්‍ය පූජාවේ යථාර්ථය වන ප්‍රේමය හා සේවය ක්‍රියාවට නංවමින් (අන් අයගේ පාද දෝවනය කරමින්) දිව්‍ය පූජාව අර්ථවත් කර ගැනීමට ය. ඒ සඳහා පහත ගීතිකාවෙන් ද අපට ඇරයුම් කරයි.

පනතක් මම ඔබට දෙමි
පෙම් දක්වනු සැමට නිතින්
මා කළ සේ නිති දිනයේ
පණ පුදමින් කුරුස ගසේ

දයාව වන්නේ ඉවසීමයි - සැම හට දක්වන ආදරයයි
හදවත් පිබිදෙන කරුණාවයි - ගුණවත් ගතියේ ජීවිතයයි

දයාව ඇති තැන උඩඟු නොවේ - සිතු දේ කළදෙහි උදම් නොවෙයි
නොහොබින සැම ගති ඉවත දමයි - ඉසිකෝ දුර්ගුණ සිඳ බිඳලයි

දයාව වන්නේ ඇදහීමයි - ආසිරි වඩවන මතු දැක්මයි
වරදක් නොදකින තුටු බැල්මයි - හොඳ හිත නොබිදෙන සුබ වදනයි

(කිතුනු ගී/165)

## දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීමට ආත්මික හා ශාරීරික සූදනම

ආත්මික සූදානම ⟶ ආත්මික සූදානම යනු පාපයෙන් තොර වීම

මරණීය පාපයක සිටින විට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීම යෝග්‍ය නොවේ. එවැනි අවස්ථාවක දී හොඳ පාපෝච්චාරණයක් කර ගත යුතු අතර සුළු පාප කර ඇති අය දිව්‍ය පූජාව ආරම්භයේ පශ්චත්තාපික පිළිවෙතේ දී තම පාපවලට මනස්තාප වී සමාව ලබා ගනිමින්, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමට සුදුස්සකු බවට පත්විය යුතු ය.

මරණීය පාපයේ සිටින්නකුට දිව්‍ය පූජාවට පෙර සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලැබීමට අවස්ථාවක් නොමැති නම්, තම පාපවලට දුක් මනස්තාප වී අවස්ථාවක් ලද විගසින් සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලැබීමට ඉටා ගෙන දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත හැකි ය.

(ශාසන නීතිය 916)

ශාරීරික සූදනම ⟶ දිව්‍ය පූජාව ආරම්භ කිරීමට අවම වශයෙන් පැයක කාලයක්වත් සියලු ආහාර පානවලින් වැලකී නිරාහාරශිලී ව සිටීම (බෙත්හේත් හා ජලය පානය කළ හැකි ය.)

## ක්‍රියාකාරකම

1. ඉශ්‍රායෙල් ජනයා මිසරයේ වහලුන් ව සිටිය දී කළ වහල් සේවාවන් **හතරක්** ලියන්න.
2. ඉශ්‍රායෙල් ජනයා මුදවා ගැනීමේ දී මෝසෙස් තුමාගේ සහායට පත්කළේ කාව ද?
3. ජුද පාස්කු භෝජනයේ මූලිකාංග **හතර** නම් කරන්න.
4. මහා බ්‍රහස්පතින්දා දින සිදුවූ වැදගත් සිදුවීම් **දෙකක්** ලියන්න.
5. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීමට අවශ්‍ය ආත්මික හා ශාරීරික සූදනම විස්තර කරන්න.



*ජීවිතය සඳහා*

*දිව්‍ය සත්ප්‍රසාදය වළඳන අපි උන්වහන්සේ මෙන් කැඩෙන්නට, බිඳෙන්නට (පරිත්‍යාගිවීම) අත්‍යාවශ්‍ය බැවින් එසේ වීමට පුරුදු පුහුණු වෙමු.*

# 14 කල්වාරි යාගය

## පුරාණ ගිවිසුමේ යාග

පුරාණ ගිවිසුමේ වන්දනාවේ කේන්ද්‍රීය ක්‍රියාව, යාග පූජා පුද කිරීම ය. මෙම යාග පූජා සඳහා ආහාරපාන හා සතුන් යොදා ගැනුන ද එයින් වඩාත් ම වැදගත් වූයේ, සත්ත්ව පූජා ය. මන්ද සත්ත්වයාගේ රුධිරය තුළ ජීවිතය අන්තර්ගත වූ බැවින් හා ජීවිතය දෙවියන් වහන්සේට අයිති වූ බැවින් ය (ලෙවී 3:17, 7:26, 17:10, 17:11).



14.1 රූපය - පුරාණ ගිවිසුමේ දුම් පූජාවක් සිදු කිරීම

**යාග පැවැත්වීමේ පරමාර්ථ**

- පව්වලට වන්දි ගෙවීම සඳහා
- දෙවියන් වහන්සේ සමග යහපත් හා අඛණ්ඩ සම්බන්ධතාවක් පවත්වා ගැනීම සඳහා

ඉශ්‍රායෙලයේ පූජා ප්‍රධාන කොටස් දෙකකට බෙදිය හැකි ය.

1. දවන පූජා - මේ සඳහා ගවයන් (ලෙවි 1:3-9) බැටළුවන්, එළුවන් (ලෙවි1:10-13) හා කුරුල්ලන් (කොබෙයියන් හා පරවියන්) (ලෙවි 1:14-17) භාවිත විය.

2. නොදවන පූජා - ආහාර පාන (පිටි, ධාන්‍ය, තෙල්, මිදියුස, පූප)

දවන පූජා ප්‍රධාන වශයෙන් වර්ග සතරකි:

1. සම්පූර්ණයෙන් දවන පූජා
2. සහභාගිකමේ පූජා (සාම පූජා)
3. පාප පූජා
4. වන්දි ගෙවීමේ පූජා

## කල්වාරි යාගය

ඒ සියලු යාග ක්‍රිස්තුන් වහන්සේ කල්වාරි යාගය මගින් සම්පූර්ණත්වයට පත් කළ සේක. එම නිසා පැරණි ගිවිසුමේ විවිධ පූජා පැවතිය ද නව ගිවිසුමේ පවතින්නේ එක ම එක යාගයකි. එනම් කල්වාරි යාගය යි. කල්වාරි යාගය අත්‍යන්ත වූ ද අපරිමිත වූ ද සදතනික වූ ද අමිල යාගය යි.

"උන් වහන්සේ එළුවන්ගේත් වස්සන්ගේත් ලෙයින් නොව, තමන්ගේ ම ලෙයින් අප උදෙසා සදතන විමුක්තිය ලබා සදහට ම එක වරක් ශුද්ධස්ථානයට ඇතුළු වූ සේක. ........... දෙවියන් වහන්සේට පූජා වූ ක්‍රිස්තුන් වහන්සේගේ ලේ කරණකොටගෙන, ඊටත් ඉතා වැඩියෙන් පිරිසිදු නොවන්නේ ද?" (හෙබ්‍රෙව් 9:12-14)



14.2 රූපය - පූප හා මිදියුස දිවරහස් කිරීම

ජුදෙ යාග පිළිවෙත් සම්පූර්ණත්වයට පත් කරමින් ක්‍රිස්තුන් වහන්සේ කල්වාරි කඳු මුදුනේ දී කුරුසිය මත යාග වූ සේක. එය සර්ව සම්පූර්ණ යාගයකි. එබැවින් සත්ත්ව යාග හෝ වෙනයම් යාග හෝ නැවත නැවත කළ යුතු නැත. තව ද ඔවුන් වහන්සේ නව ගිවිසුමෙහි පාස්කු බැටළු පෝතකයාණන් වෙමින්, මිනිසා හා දෙවියන් වහන්සේ අතර සබැඳියාව ඇති කරන උත්තම පූජකයාණන් වූ සේක. ඔවුන් වහන්සේ දිව්‍ය ශ්‍රී පූජා යාගය තුළින් කල්වාරි යාගය ඉදිරියට ගෙන යන සේක. ලේ වැගිරීමකින් තොර ව අල්තාරය මත සක්‍රමේන්තු ආකාරයට එය සිදු කරන සේක.

දෙවියන් වහන්සේ සමග සබැඳියාව ගොඩ නැගෙන පූජාවක් ලෙස අපගේ ජීවිතය ද දෙවියන් වහන්සේට පිදෙන යාගයක් බවට පත් කර ගත යුතු ය. එදිනෙදා වැඩ කටයුතු, දුක්වේදනා, සතුටු සිනා, දෙවියන් වහන්සේට පිදෙන පඬුරක් බවට පත්කර ගත යුතු වේ. එසේ නම් ජීවිත අභියෝග වලට මුහුණ දෙමින් දුක් වේදනා දරා ගෙන දේව ප්‍රශංසාව සඳහා ඔප්පු විය යුතු වේ. අපට පැවරෙන යුතුකම්, වගකීම් නිසිලෙස ඉටුකරලීමට වගබලා ගැනීම තුළින් කිතුනු ශ්‍රාවකත්වයට සාක්ෂි දැරීමක් වන අතර ම සමාජයට වැඩදායි පුද්ගලයන් වේ. මෙසේ අපගේ ජීවිත දෙවියන් වහන්සේට එදිනෙදා පිදෙන පූජාවක් වේ.

ජීවිතයේ විවිධ අවස්ථාවල දී පාපයන්ට යොමුවීමෙන් දේව සබඳතාව අහිමි හෝ පළුදු විය හැකි ය. එවැනි අවස්ථාවල තම වැරදි (පාපයන්) පිළිගෙන සැබෑ මනස්තාපයක් හා සිත් හැරීමක් තුළ යහපත් පාපෝච්චාරණයක් වෙත යොමුවීමට පුරුදු පුහුණු විය යුතු ය. මෙලෙස අපි ක්‍රිස්තුන් වහන්සේ තුළ පාපයට මැරී නව ජීවිතයකට උත්ථාන වෙමින් කල්වාරි යාගයට සම්බන්ධ වෙමු.

අප ජීවත් වන සමාජය තුළ අන් අයගේ දුක් වේදනා, අසරණකම්, දුබලතා හමුවේ ඒ අයට පිහිටවීම කිතුනුවාගේ යුතුකමක් බව අපි වටහා ගෙන සංවේදී වෙමු. ක්‍රිස්තු ආදර්ශය අනුව සමාජයේ අසරණයන්, අනාථයන්, රෝගීන් හා පව්කරුවන් වෙත දයා කරුණාවෙන් පිහිට වෙමු. එමෙන් ම පරාර්ථකාමී වීම, වැය වීම අවශ්‍ය වේ. මේ සඳහා අපගේ කාලය, ශ්‍රමය, ධනය, හැකියා වැය කළ යුතු වේ. එලෙස එදිනෙද ජීවිතය තුළ දෙවියන්ට පිදෙන යාගයක් විය හැකි ය. ජාතීන්ගේ විනිශ්චය දිනයේ ක්‍රිස්තුන් වහන්සේ යොදා ගන්නා මිනුම් දණ්ඩ ද එය වේ (මතෙව් 25:41-46 ශාරීරික පුණ්‍ය ක්‍රියා).

එහෙයින් අපගේ ජීවිතය තුළ එදිනෙද වැයවෙමින්, යහපත් ජීවිතයක් ගත කරමින් ක්‍රිස්තුන් වහන්සේ හා සබැඳියාව වැඩි වර්ධනය කර ගනිමින් දෙවියන් වහන්සේට පිදෙන යාගයක් වීමට උත්සාහ දරමු.

### ක්‍රියාකාරකම

1. පුරාණ ගිවිසුමේ යාග පැවැත්වීමේ පරමාර්ථ **දෙකක්** ලියන්න.
2. ඉශ්‍රායෙලයේ පූජා වර්ග බෙදිය හැකි ප්‍රධාන කොටස් **දෙක** දක්වන්න.
3. නොදවන පූජාවන් සඳහා භාවිත කළ ද්‍රව්‍ය **හතරක්** ලියන්න.
4. නව ගිවිසුමේ කල්වාරි යාගය උතුම් වීමට හේතු **දෙකක්** ලියන්න.
5. ඔබට අන් අය වෙනුවෙන් යාග (පරිත්‍යාගී) විය හැකි අවස්ථා **දෙකක්** දක්වන්න.



*ජීවිතය සඳහා*

*කල්වේලා ඇති ව දේවස්ථානයට ගොස් දිව්‍ය පූජාවට පෙර හා පසු විනාඩි කිහිපයක් යාච්ඤා කරමු.*

# 15 පරිත්‍යාගශීලි ජීවිතාදර්ශ

## ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමා



15.1 රූපය - ශුද්ධ වූ දෙවන ජුවාම් පාවුලු මුනිතුමා

1920 මැයි මස 18වන දින පෝලන්තයේ උපත ලද මෙතුමාගේ නම කැරොල් වොයටිල්ලා ය. මවුකුස සිටිය දී මෙන් ම තම ජීවිත කාලය පුරා ම දිව්‍ය සංරක්ෂණය අත්දුටු මෙතුමාගේ ජීවිතය ප්‍රශ්නවලින් ගහන වූවකි. කෙතරම් බාධක මැද වුව ද තම අධ්‍යාපන කටයුතු සාර්ථක කර ගනිමින් උසස් අධ්‍යාපනය ලැබී ය.

තරුණ වියේ දී මාරක රිය අනතුරකට ලක් වූ මෙතුමා වෛද්‍යවරුන් පවා මවිත කරමින් සුවපත් විය. මෙතුමාට පූජකවරයකු වීමේ ආශාව ජනිත විය. 1942 ජගිලෝනියා විශ්ව විද්‍යාලය තුළ රහසින් පවත්වා ගෙන ගිය දේවධර්ම පීඨයට ඇතුළත් වූ මෙතුමා තවත් පූජක සිසුන් හතර දෙනකු සමග අගරදගුරු නිවසේ නැවතී සිට අධ්‍යාපනය ලැබී ය. 1946 දී පූජකවරය ද 1958 දී රදගුරු අභිෂේක ද ලබා 1967 දී කාදිනල් පදවියට ද පත් වූ මෙතුමා 1978 දී දෙවන ජුවාම් පාවුලු නමින් පාප් ධූරයට පත්වූහ.

ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා රටවල් 129කට වැඩම කළේ ය. එලෙස වැඩම කළ එක් රටක් වන්නේ ශ්‍රී ලංකාව යි. 1995 ජනවාරි මස 20වන දින ශ්‍රී ලංකාවට වැඩම කළ එතුමා 1995 ජනවාරි මස 21වන දින වන්දනීය ජුසේ වාස් පියතුමා ව භාග්‍යවරයට ඔසවන ලදි. එතුමා අතින් ශුද්ධවරයට හා භාග්‍යවරයට ඔසවනු ලැබූ සංඛ්‍යාව 1823කි. ආගම් භේද නොතකා ජුදෘ සිනගෝයකට (1986) හා මුස්ලිම් පල්ලියකට (2001) වැඩම කළ පළමු ශුද්ධෝත්තම පියතුමා වන්නේ ද මෙතුමා ය. පෙරදිග ඕර්තොඩොක්ස් සභාවේ රදගුරුතුමෙකුගේ ආරාධනයෙන් කතෝලික නොවන කිතුනු බැතිමතුන් බහුතරයක් වෙසෙන රටකට වැඩම කළ පළමු ශුද්ධෝත්තම පියතුමා වන්නේ ද මෙතුමා ය. විශ්ව ලේඛණ 14ක් ද අපෝස්තලික ව්‍යවස්ථා 110ක් ද අපෝස්තලික අනුශාසනා 11ක් ද වෙනත් බොහෝ ලිපි ද රචනා කර ඇත. එතුමා විසින් රචිත බලාපොරොත්තුවේ එළිපත්ත (Crossing the Threshold of Hope) නමැති පොත භාෂා 40කට පරිවර්තනය වී පිටපත් මිලියන ගණනක් අලෙවි වී ඇත.

මෙතුමා නැගෙනහිර හා බටහිර ජර්මනිය වෙන් කළ බර්ලින් තාප්පය බිඳ දමා රට එක්සත් කිරීමට මූලික වූයේ ය. දුගී රටවල් ගොදුරු කර ගන්නා ධනවත් රටවලට විරුද්ධ ව ඍජු ව කථා කළේ ය. 1981 මැයි මස 13වන දින තුර්කි ජාතික අලි අග්කා නමැති දක්ෂ

වෙඩික්කරුවා මෙතුමාට වෙඩි තැබුව ද එතුමා මරණයෙන් ගැලවුණේ දිව්‍ය සංරක්ෂණය කරණ කොට ගෙන ය. සිර මැදිරියට ගොස් අලි අග්කාට සමාව දීමට පවා මෙතුමා මැලි නොවී ය.

මෙතුමාගේ ජීවිතයෙන් අපට ලබාගත හැකි ආදර්ශ අපමණ ය. දිළිදුභාවය හා අසරණකම තුළ වුව ද අධෛර්යය නොවී ජීවිතය ජය ගැනීම, තම රෝගී තත්ත්වයන් තුළ පවා සිය යුතුකම් නොපිරිහෙලා ඉටු කිරීම, සතුරාට සමාව දීම, කුඩා වියේ සිට ම දුක්පීඩා හා වේදනා දරා ගැනීම, දිව්‍ය සංරක්ෂණයට නතු වීම, යුක්තිය හා සාධාරණත්වය වෙනුවෙන් හඬ නැගීම, තම මුළු ජීවිතය ම ක්‍රිස්තුන් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීම ඉන් සමහරකි.

2005 අප්‍රියෙල් මස 02වන දින ස්වර්ගස්ථ වූ මෙතුමා 2011 මැයි 01වන දින භාග්‍යවරයට ද 2014 අප්‍රියෙල් මස 27වන දින ශුද්ධවරයට ද ඔසවන ලදි.

## භාග්‍යවන්ත තෙරේසා මව්තුමිය



15.2 රූපය - භාග්‍යවන්ත තෙරේසා මව්තුමිය

භාග්‍යවන්ත තෙරේසා මව්තුමිය 1910 අගෝස්තු මස 26වන දින ඇල්බේනියාවේ දී උපත ලැබුවා ය. එතුමියගේ බව්තිස්ම නාමය ඇග්නස් විය. පවුලේ වැඩිමහල් සොහොයුරෙක් හා සොහොයුරියක් සිටි අතර ඇය බාල දූරිය වූවා ය. අගහිඟකම් නොවූ අතර සුව පහසුවෙන් හා සතුටින් කාලය ගෙව්වා ය. එහෙත් අවුරුදු හතේ දී තම පියාගේ වියෝව නිසා මව හා දරුවන් තිදෙනා දුක්බර තත්ත්වයකට පත්විය. මව මුහුණ දුන් දුක්බර ජීවිතය ඇය අත්දුටුවා ය. අහිමි වූ පිය සෙනෙහස වෙනුවට දෙව්පිය සෙනෙහස වෙත වඩා සමීප විය. පවුලේ විවිධ දුක් කම්කටොලු හමුවේ එතුමිය පෞද්ගලික ව මෙන් ම පවුලක් ලෙස පොදුවේ යාච්ඤා කිරීමට ද දේවස්ථානයට යාමට පුරුදු වූවා ය. දේවස්ථානයේ කටයුතුවලට වැඩි උනන්දුවක් දැක්වූ ඇය අධ්‍යාපන කටයුතු කෙරෙහි ද දස්කම් පෑවා ය.

ගුරුවරියක හා කන්‍යා සොයුරියක වීමට ඇය තුළ පැවති ආශාව නිසා දහසයවන වියේ දී පවුලෙන් සමුගෙන ලොරෙටෝ පැවිදි නිකායට ඇතුළු වූවා ය. 1929 දී ඉන්දියාවට පැමිණි එතුමිය 1931 මැයි මස 24වන දින තෙරේසා නමින් වේදභාර ගත්තා ය. කල්කටා නුවර සාන්ත මරියා විද්‍යාලයේ ගුරුවරියක ලෙස සේවය කරන සමයේ දී දිනපතා ගමන් කළ දුම්රියේ ගමන එතුමියගේ ජීවිතය වෙනස් කිරීමට හේතු විය. පාර දෙපස වීදි, මුඩුක්කු හා පැල්පත්වාසීන්ගේ ජීවිත පිළිබඳ ව විශේෂ අවධානයක් යොමු කළ මෙතුමියට අසරණයන්ට පිහිට වීමට දැඩි ආශාවක් ඇති විය. ශුද්ධෝත්තම පියතුමාගෙන් විශේෂ අවසරයක් ලැබ 1948 අගෝස්තු මස 17වන දින "දයාවේ දූතිකාවෝ" නමැති පැවිදි නිකාය ආරම්භ කළා ය.

කල්කටා නගරය තුළ කිසිවකුගේ පිහිටක් නොලත් රෝගී, දුගී, අසරණ හා අනාථ ළමුන්ට මෙතුමිය සේවය කළා ය. මරණාසන්නව පාර දෙපස වැටී සිටි අයට, කෙනෙකුගේ

රැකවරණය හා උපස්ථානය ඇති ව මිනිසකු ලෙස මරණයට පත් වීමට අවස්ථාව ලබා දුන්නා ය. එතුමිය ප්‍රාදේශීය නායකයන්ගෙන් ඉල්ලා සිටියේ, "මට ගෙයක් දෙන්න, මැරෙන්න වැටී සිටින අය ව මං බලා ගන්නම්" කියා ය. වීදි දරුවන් සඳහා පාසලක් ආරම්භ කළ අතර මෙම පාසලට එන දරුවන් කිලිටි දුගඳ හමන අය වූහ. එතුමිය ඔවුන් ව ආදරයෙන් පිළිගෙන, ඔවුන්ගේ ශරීර හා ඇඳුම්පැළඳුම් පවිත්‍ර කර, ආහාරපානවලින් පෝෂණය කර අධ්‍යාපනය ලබා දුන්නා ය. වීදි ජනයා බැහැදකීමට යාමට ඇය පුරුදු වූවා ය. ජාති ආගම්, කුල භේද නොතකා අසරණ දරුවන් අනාථයන්, රෝගීන් හා මරණාසන්න වූවන්ට එතුමියගේ සෙවන තුළ ආදරය නොඅඩුව ලැබිණි. තමා සන්තක ව තිබූ රුපියල් පහක මුදලින් ආරම්භ කළ මෙම සමාජ සත්කාරයට ලැබුණු මහත් දේව ආශිර්වාදය නිසා එය ප්‍රබල ලෙස වර්ධනය විය.

ඒඩ්ස් රෝගීන් මරණයට පත්වන විට සමාජය විසින් ඔවුන් පිළිකුල් කර ඇතැම් විට මරා දමන විට, ඔවුන් ව ආරෝග්‍යශාලාවලට පවා බාර ගැනීමට අකමැති වූ විට එම රෝගීන් රැක බලා ගැනීම සඳහා නිව්යෝර්ක් නගරයේ නගරාධිපති හමු වූ එතුමිය නිවසක් ඉල්ලා සිටියා ය. එම ඉල්ලීම අනුව ලැබුණු නිවසෙහි ඒඩ්ස් රෝගීන් රැකබලා ගැනීමට කන්‍යා සොයුරියන් පත් කළා ය. ඒ අනුව 1985 ඒඩ්ස් රෝගීන් සඳහා පළමු නිවහන නිව්යෝර්ක් නගරයේ විවෘත විය. ධනවතුන්ගේ ද පාලකයන්ගේ ද තම නිකායික කන්‍යා සොහොයුරියන්ගේ ද උපකාරය එතුමියට නොඅඩු ව ලැබිණි. ආදරය අහිමි අයට ආදරය රැකවරණය ලබා දීම මුඛ්‍ය පරමාර්ථය විය. එතුමියගේ සේවාවන් අතර මරණාසන්න රෝගීන් හා ඒඩ්ස් රෝගීන් සඳහා නිවාස පවත්වා ගෙන යාම ප්‍රධාන විය. ක්‍රිස්තුන් වහන්සේගේ කල්වාරි යාගයට තම ජීවිතයෙන් සාක්ෂි දරූ මෙතුමිය "අසරණ සරණ දූතිකාව" හා "ජීවමාන සාන්තුවරිය" යන විරුදාවලි ලැබුවා ය. 1997 සැප්තුම්බර් මස 05වන දින මෙතුමිය ස්වර්ගස්ථ වූවා ය. 2003 ඔක්තෝම්බර් මස 19වන දින ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා විසින් එතුමිය ව භාග්‍යවරයට ඔසවනු ලැබිණි.

## ශු. මැක්සිමිලියන් කෝල්බේ මුනිතුමා



15.3 රූපය - ශු. මැක්සිමිලියන් කෝල්බේ මුනිතුමා

මෙතුමා 1894 ජනවාරි මස 08වන දින උපත ලැබුවේ ය. කුඩා කල දිනක් දේවස්ථානයේ යාච්ඤා කරමින් සිටිය දී එතුමාට දේව මාතාවන් දර්ශනය වූවා ය. එතුමියගේ දෑතෙහි සුදු රෝස ඔටුන්නක් හා රතු රෝස ඔටුන්නක් විය. සුදු ඔටුන්න වෘත ශුද්ධිය හා රතු ඔටුන්න ප්‍රාණපරිත්‍යාගි ජීවිතය බව එතුමා අවබෝධ කරගත්තේ ය. ඔටුණු දෙකෙන් කැමති එක තෝරා ගැනීමට කී විට, ඔටුණු දෙක ම හිමි කර ගැනීමට කැමැත්ත එතුමා ප්‍රකාශ කළේ ය. 1907 කොන්වෙන්තුවල් ප්‍රැන්සිස්කාන දෙව්සත්හලට ඇතුළු වී 1918 පූජකවරය

ලැබුවේ ය. දේව මාතාවන්ට තිබූ මහත් භක්තිය නිසා "මරිය තුමියගේ ශ්‍රී හෘදයේ හමුදාව" යන සංවිධානය ආරම්භ කළේ ය. යාච්ඤාව හා පශ්චත්තාපික ක්‍රියා මගින් ලෝකයේ පාපී බලවේග පරාජය කිරීම එහි අරමුණ විය. දෙව්මවුන්ගේ ආදරය ලොව පුරා පැතිර වීමට ආරම්භ කළ මෙම සංවිධානයට "වීර සෙබලා" සඟරාව ද මහෝපකාරී විය.

1939 සැප්තැම්බර් මස 01වන දින ඇරඹි දෙවන ලෝක යුද්ධය සමග ම ජර්මන් නාසිවාදය පෝලන්තය ගොදුරු කර ගත්තේ ය. ඔවුනට ගරු කෝල්බේ පියතුමාගේ සහයෝගය ලබා ගැනීමට අවශ්‍ය විය. එහෙත් එතුමාගෙන් එයට කිසි ම සහායක් නොලැබිණි. එතුමාට අල්ලස් දී නාසිවරුන්ට අවශ්‍ය දෑ එතුමා මාර්ගයෙන් මුද්‍රණය කර බෙදා හැරීමට ගත් උත්සාහය ද අසාර්ථක විය. ගරු කෝල්බේ පියතුමා සතු මුද්‍රණාල විසින් පළ කළ "සත්‍යය" නම් ලිපිය පදනම් කරගෙන එතුමා ව අත්අඩංගුවට ගෙන එතුමාට දරුණු වදහිංසා පමුණුවන ලදි. සිරගත ව සිටි සමයේ දී පවා සිරකරුවනට බොහෝ සේ සේවය කළ මෙතුමා දේවමාතා භක්තිය වර්ධනය කිරීම අතපසු නොකළේ ය.

වධකාගාරයේ සිටි සිරකරුවකු පැනගිය විට සිරකරුවන් විසිදෙනකු මැරීම සිරිත විය. එලෙස මරණයට නියම වූ සිරකරුවන් අතර සිටි ෆ්‍රැන්සිස් නමැත්තාගේ විලාපය ගරු කෝල්බේ පියතුමාගේ හද සසල කළේ ය. ෆ්‍රැන්සිස් වෙනුවට තමා මරණයට පත් කරන ලෙසට එතුමා නාසිවරුන්ගෙන් ඉල්ලා සිටියේ ය. ඒ අනුව තෝරාගත් විසිදෙනා අතරට ගරු කෝල්බේ පියතුමා ද ඇතුළත් විය. මරණයට නියම වූවන් බංකරයක් තුළ සාගින්නේ තැබීම මරණ දඬුවම විය. බංකරය තුළ සිට විලාප තැබීම සාමාන්‍ය දෙයක් වුවත් ඔව්හු පියතුමා සමග "නමෝ මරිය" කියමින් දෙව්මව්ට යාච්ඤා කළහ. ගීතිකා ගායනා කළහ. සිරගතවූවෝ කෙමෙන් කෙමෙන් මරණය වැළඳ ගති. දින කිහිපයකට පසු සිර කුටියට ආ නාසිවරුනට දකගත හැකි වුයේ, හොඳ සිහියෙන් සිටි එක ම තැනැත්තා ගරු කෝල්බේ පියතුමා පමණක් බව ය. එම නිසා විෂ ශරීර ගත කර එතුමා ව මරණයට පත් කළේ ය. එතුමා "නමෝ මරිය" කියමින් ජීවිතයෙන් සමුගත්තේ ය. 1941 අගෝස්තු 14වන දින ස්වර්ගස්ථ වූ මෙතුමා ව 1971 ඔක්තෝබර් 17වන දින අතිඋතුම් vi වන පාවුලු ශුද්ධෝත්තම පියතුමා විසින් භාග්‍යවරයට ද 1982 ඔක්තෝම්බර් මස 10වන දින ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා විසින් ශුද්ධවරයට ද ඔසවන ලදි.

"යමෙකු තමාගේ මිතුරන් උදෙසා දිවි පිදීමට වඩා උතුම් ප්‍රේමයක් කිසිවකුට නැත" යන්න එතුමාගේ ආදර්ශ පාඨය යි.

## ගරු මයිකල් රුද්‍රිගු (නි.ම.නි.) පියතුමා



15.4 රූපය - ගරු මයිකල් රුද්‍රිගු (නි.ම.නි.) පියතුමා

1927 ජුනි 30වන දින දෙහිවල මධ්‍යම පංතික පවුලකට දාව උපත ලද ගරු මයිකල් රුද්‍රිගු පියතුමා ප්‍රාථමික අධ්‍යාපනය දෙහිවල ශාන්ත මරියා විදුහලෙන් ද ද්විතියික අධ්‍යාපනය ශාන්ත පීතර විදුහලෙන් ද ලබා පසු ව එම විදුහලේ ම ගුරුවරයකු ලෙස කටයුතු කළේ ය. නිර්මල මරිය නිකායට ඇතුළත් ව වැඩිදුර අධ්‍යාපනය සඳහා රෝමය හා පැරිස් විශ්ව විද්‍යාලවලට ඇතුළු විය. 1954 ජුලි මස 07වන දින පූජකවරය ලැබුවේ ය. එතුමා පසු ව අම්පිටිය ජාතික දෙව්සත්හලේ කථිකාචාර්යවරයකු ලෙස සේවය කළේ ය. පැරිස් විශ්ව විද්‍යාලයේ කථිකාචාර්ය ධූරය ලැබුව ද එය ප්‍රතික්ෂේප කළේ ය. මෙතුමාගේ සේවය යොමු වූ ප්‍රධාන ක්ෂේත්‍ර කිහිපයකි. ඒවා නම්;

- ★ පූජක දිවිය - සේවක පූජකත්වය වෙත ගෙන යාමට
- ★ ආර්ථික හා සමාජයීය වශයෙන් දිළිඳු ජනතාවගේ ගැටලුවලට විසඳුම් සෙවීම
- ★ තරුණ ප්‍රශ්න වෙනුවෙන් ඉදිරිපත් වීම
- ★ බෞද්ධ හා කිතුනු ආගම් අතර සුහදතාව හා සහයෝගිතාව ගොඩනැංවීම
- ★ ජනවන්දනාව දේශියකරණය කිරීම
- ★ සාධාරණත්වය මත පදනම් වූ සමාජයක් බිහි කිරීම

පූජක ජීවිත තුළ වෙනසක් ඇති කරලමින් 1973 වර්ෂයේ දී නව ආරක දෙව්සත්හලක් කොළඹ පිහිටුවන ලදි. පසු ව බදුල්ල රදගුරු පදවියේ බණ්ඩාරවෙල නගරයෙහි "සේවක සෙවණ" නමැති ස්ථානයේ එවැනි ම දෙව්සත්හලක් පවත්වා ගෙන යමින් පූජක සේවය ජනතා හද ගැස්මට ලංවන අයුරින් ගොඩනැගීමට වෙහෙස දැරී ය.

මෙතුමා බදුල්ල රදගුරු පදවිය තුළ දරිද්‍රතාව හේතු කොට ගෙන පීඩා විඳින ජනතාව සඳහා බුත්තල අලුකලවිට "සුබසෙත් ගෙදර" නම් වාසස්ථානය පිහිට වූ අතර එහි දී පහත සඳහන් ක්‍රියා තම දූත සේවාවේ ප්‍රධාන ක්ෂේත්‍ර කර ගත්තේ ය.

- ★ දිළිඳුන්ගේ පැත්ත ගනිමින්, දිළිඳුකම තුළ මාංශගතවෙමින්, දිළිඳුකම ජය ගැනීමට මාර්ග සෙවීම
- ★ අයුක්තිය හා අසාධාරණයට විරුද්ධ ව දිළිඳු ගොවි ජනතාව වෙනුවෙන් හඬ නැගීම
- ★ ආර්ථික හා සමාජයීය වශයෙන් දිළිඳුකම අත්දකින ජනතාවට තම ගැටලු ඉදිරිපත් කළ හැකි හා ඒවාට විසඳුම් සොයන මධ්‍යස්ථානයක් ලෙස පවත්වාගෙන යාම

★ ප්‍රදේශයේ සිටින යාචකයන් පුනරුත්ථාපනය කර ශ්‍රමාභිමානී පිරිසක් බවට පත් කිරීම

★ විවිධ තාඩන පීඩනවලට ලක් ව සිටින අය ඉන් නිදහස් කිරීමට ක්‍රියා කිරීම.

මේ ආකාරයට දිළිඳු ජනතාව මූලික කර ගනිමින් කරන ලද ව්‍යාපාර හරහා ප්‍රධාන කරුණු කීපයක් ඉස්මතු වේ.

★ වතු කම්කරුවන් උදෙසා හඬක් නැගීම

★ සාමය හා සාධාරණත්වය පිළිබඳ හඬ නැගීම

★ ප්‍රජාවගේ මානව අයිතිවාසිකම් හා මානව සංවර්ධනය වෙනුවෙන් හඬ නැගීම.

1981 බුත්තල ග්‍රාමයෙහි සුබසෙත් ගෙදර නම් පැල්පතක බොදුනු බැතිමතුන්ගේ ද සහයෝගය මැද විශාල සේවයක් කළ මෙතුමා 1987 නොවැම්බර් මස 10 වන දින රාත්‍රි දිව්‍ය පූජාව සිදුකරමින් සිටිය දී සාහසිකයකුගේ වෙඩි පහරින් අප අතරින් සමුගත්ත ද එතුමා ඇරඹි දූත සේවාව නොකඩවා ඉදිරියට ගෙන යා යුතු ව ඇත.

## ක්‍රියාකාරකම

1. ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා තුළ දිස් වූ සුවිශේෂී ගුණාංග **හතරක්** ලියන්න.
2. භාග්‍යවත් තෙරේසා මව්තුමියගේ සේවයට යොමු වූ කණ්ඩායම් **තුනක්** දක්වන්න.
3. ශු. මැක්සිමිලියන් කෝල්බේ මුනිතුමාගේ ජීවිතය තුළ ක්‍රිස්තුන් වහන්සේට සාක්ෂි දරූ අවස්ථා **දෙකක්** දක්වන්න.
4. ගරු මයිකල් රැදිගු (නි.ම.නි) පියතුමාගේ ජීවිතය තුළ කැපී පෙනෙන සේවා **හතරක්** දක්වන්න.
5. ඔබගේ කිතුනු කැඳවීමට සාක්ෂි දරන ආකාර **හතරක්** දක්වන්න.



*ජීවිතය සඳහා*
*අන් අයගේ යහපත වෙනුවෙන් කැපවෙමු.*

# 16 දේව ප්‍රේමය

ප්‍රේම කරන්න

දෙවියන් වහන්සේට

සියලු ම දේට වඩා මුළුමනින් ම

අසල්වැසියන්ට

තමාට මෙන්

පළමු පනත් තුන




අනෙකුත් පනත් හත




## පළමු වන පනත

> "මා හැර අන් කිසි ම දෙවි කෙනකු නුඹට නොසිටිය යුතු ය .........."
>
> නික්මයාම 20:3-6

> "නුඹේ මුළු හෘදයෙන් ද නුඹේ මුළු ආත්මයෙන් ද නුඹේ මුළු වීර්යයෙන් ද නුඹේ මුළු බුද්ධියෙන් ද නුඹේ දෙවි වූ සමිඳාණන් වහන්සේට ........... ප්‍රේම කරන්න"
>
> (ලූක් 10:27)

පළමු පනත විශ්වාසය, බලාපොරොත්තුව හා ප්‍රේමය මත පදනම් වන්නේ ය.

## විශ්වාසය

අපගේ විශ්වාසයේ මූලාශ්‍රය වන්නේ, ප්‍රේමයෙන් අපට අනාවරණය කරන දෙවියන් වහන්සේ ය. දෙවියන් වහන්සේ ව නොදන්නාකම සැම පාපයකට ම හේතු වන්නේ ය (රෝම 1:18-32). මිනිසාගේ මූලික වගකීම වන්නේ, දෙවියන් වහන්සේ ව විශ්වාස කිරීමත් ඒ විශ්වාසයට නිර්භීත ව සාක්ෂි දැරීමත් ය.

පාසල් ඉගෙනුම නිම කර සමාජයට පිවිසුණු පසු ව ද ලෞකික දැනුමට සමාන්තර ව විශ්වාසය වැඩි දියුණු කර ගත යුතු ය. දෛනික ජීවිතයේ ක්‍රියාකාරකම් විශ්වාසයට අනුකූල නම්, එය ඉමහත් වරප්‍රසාදයකි. විශ්වාසය පෝෂණය කරගෙන වර්ධනය කර ගැනීමට පළමු පනත අපට ආරාධනා කරයි.

එඬේරික ජීවිතයක් ගත කළත් ආබ්‍රහම් තුමා විශ්වාසයේ පියා යන විරුදාවලිය ලැබීමට තරම් ආශිර්වාදයක් ලබා ගත්තේ ය.

අභියෝගාත්මක ජීවිතයකට මුහුණ දුන් මරිය තුමියගේ විශ්වාසය ද අපට ආදර්ශයකි.

ශුද්ධ ලියවිල්ල තුළ අනාවරණය කරන සැම දෙයක් ම එක සේ අවබෝධ කර ගැනීමට අපට නොහැකි ය. ඒ පිළිබඳ ව පුදුමයට පත් නොවන්න. වැඩිහිටියකුගේ බුද්ධිමත් භාවය ළමයකුගේ බුද්ධිමත් භාවයට වඩා වැඩි වන්නාක් මෙන් දිව්‍ය ප්‍රඥාවන්තකම, මනුෂ්‍ය ප්‍රඥාවන්තකම අසීමිත ලෙස ඉක්මවා යයි. ස්වර්ග රාජ්‍ය සඳහා දිනපතා කරන සටනේ දී මනුෂ්‍යාගේ අල්පමාත්‍ර වූ දැනීම හා ශක්තිය කෙරෙහි පමණක් විශ්වාසය තැබීම අනුවණ කමකි.

සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් වන්දනා කරන බැවින්;

1. අපි ඔවුන් වහන්සේට නමස්කාර කරමු
2. අපි ඔවුන් වහන්සේට යාච්ඤා කරමු
3. අපි ඔවුන් වහන්සේට යාග පුද කරමු
4. අපි ඔවුන් වහන්සේට බාරහාර වෙමු; පොරොන්දු දෙමු.

## 1. නමස්කාරය

දෙවියන් වහන්සේට නමස්කාර කිරීම යනු ඔවුන් වහන්සේ ව අපගේ දෙවියන් වහන්සේ, මැවුම්කරුවාණන්, ගැලවුම්කරුවාණන්, මෙලොව ඇති සියල්ලෙහි ම ස්වාමියාණන්, පාලකයාණන් හා අසීමිත කරුණා වන්ත ප්‍රේමය වන බව පිළිගැනීම ය. "ඔබේ දෙවි සමිඳාණන් වහන්සේට පමණක් ගරුබිය පෑ යුතු ය. ඔවුන් වහන්සේට පමණක් වැඳුම්පිඳුම් කළ යුතු ය" යනුවෙන් ශුද්ධ ලියවිල්ලේ ද්විතීය නීති සංග්‍රහයේ 6:13හි සඳහන් වන්නේ ඒ නිසා ය. දෙවියන් වහන්සේගෙන් තොර පැවැත්මක් මිනිසාට නොමැති බව පිළිගෙන, නියත වශයෙන් කරන ගෞරවය දෙවියන් වහන්සේට නමස්කාර කිරීම වන්නේ ය. එක ම දෙවියන් වහන්සේට පමණක් නමස්කාර කිරීම පාපි ඇල්මෙන් ජීවත් වන මිනිසා ව එයින් නිදහස් කිරීමකට යොමු කරවන්නේ ය.

කතෝලික සභා ධර්මෝපදේශය 2096-2097

## 2. යාච්ඤාව



16.1 රූපය - යැදුම තුළින් මුළුමනින් ම දෙවියන් වහන්සේ හා ඒකාබද්ධ වීම

විශ්වාසය, බලාපොරොත්තුව හා ප්‍රේමය පළමු පනත හා අත්වැල් බැඳගෙන යාච්ඤාව තුළ සම්පූර්ණත්වයට පත් වන්නේ ය. යාච්ඤාවේ දී වන්දනාව, ප්‍රශංසාව, ස්තුති කිරීම, මැදිහත් වීමේ යැදුම් හා ඉල්ලීම් මගින් අප හදවත (මනස) දෙවියන් වහන්සේ වෙත ඔසවනු ලබයි. අපි සැමවිට අධෛර්ය නොවී නොකඩවා යාච්ඤා කරමු. (ලූක් 18:1)

කතෝලික සභා ධර්මෝපදේශය 2098

එවිට මරිය තුමී මෙසේ උදම් ඇනුවා ය; 'මාගේ හද සමිඳුන් උසස් ලෙස පසසයි: මාගේ ආත්මය මා මිදුම්කාර දෙවිඳුන් ගැන උදම් අනයි: මක්නිසා ද එතුමාණෝ සිය දසියගේ දීනතාව කුළුණු පාමින් සලකා වදාළ සේක. හැම පරපුරක් ම මෙතැන් සිට, භාග්‍යවන්තී ය'යි මට කියනු ඇත.

(ලූක් 1:46-48)

මරි මවුන් මෙන් සැම අභියෝගයක දී ම දෙවියන් වහන්සේට ප්‍රශංසා කිරීමට අපට හැකි නම්, දේව ප්‍රේමය අසීමිත ව අත්දැකීමට අපට හැකි ය.

## 3. යාග වීම



16.2 රූපය - මිනිසා පාපයෙන් ගලවා ගැනීමට ජේසුස් වහන්සේ යාග වීම

යාග ඔප්පු කිරීම දේව වන්දනාවේ හා ස්තුතියේ සලකුණකි. එහෙත් බාහිර ලෙස සිදු කරන යාගය අවංක එකක් වීමට නම් එමගින් අපගේ ආධ්‍යාත්මික යාගයේ ප්‍රකාශ වීමක් විය යුතු ය. දෙවියන් වහන්සේට ප්‍රිය පඬුර නම් බිඳුණු හදවතකි. සහෝදර ප්‍රේමය හා බද්ධ නොවූ පඬුරු දිවැසිවරු ප්‍රතික්ෂේප කළහ. ජේසුස් වහන්සේ ද හොසියා උපුටා දක්වමින් මෙසේ කියයි: "මම පූජාවලට වඩා කරුණාවට කැමැත්තෙමි; දවන යාග පූජාවලට වඩා දෙවියන් වහන්සේ පිළිබඳ අවබෝධයට කැමැත්තෙමි (හොසියා 6:6). එක ම සම්පූර්ණ යාගය වන්නේ, ක්‍රිස්තුස් වහන්සේ කුරුසිය මත පුදන ලද යාගය යි. අපගේ ජීවිත, එම යාගය හා ඒකාබද්ධ කිරීමෙන්, අපගේ ජීවිත, යාග කොට දෙවියන් වහන්සේට ඔප්පු කළ හැකි ය.

කතෝලික සභා ධර්මෝපදේශය 2099-2100

## 4. පොරොන්දු හා බාරහාර

අපගේ භක්තියේ කොටසක් ලෙස අපි එදිනෙදා කරන යාච්ඤාවලට අමතර ව යාච්ඤාවක් කීමට, ඉටි පහන් දැල් වීමට, දන දීමට, විශේෂ වන්දනා ගමනක් යාමට ඇතැම් විට බාර වෙමු. මෙම බාර ඉටු කිරීම දෙවියන් වහන්සේට ගරුබිය පෑමකි; ප්‍රේමය දැක්වීමකි.

තව ද ජීවිතයේ විවිධ අවස්ථාවල දෙවියන් වහන්සේට පොරොන්දු දීමට කිතුනුවන් වන අප ව කැඳවනු ලබයි. ප්‍රසාද ස්නාපනය, අභිවෘද්ධි ආලේපය, ආශීර්වාදකාර බන්ධනය හා පූජකවරය යන සක්‍රමේන්තු ලබා ගැනීමේ දී පොරොන්දු දිය යුතු වන්නේ ය.

මෙම බාරහාර හා පොරොන්දු ඉටු කිරීම දෙවියන් වහන්සේට දක්වන ගෞරවයේ හා ප්‍රේමයේ සළකුණකි.

**පළමු පනතට විරුද්ධ ක්‍රියා**

- යන්ත්‍ර, මන්ත්‍ර, ගුරුකම්, හූනියම් කිරීම
- අංජනම් බැලීම, නැකත් බැලීම
- නැකතට මුල් ගල තැබීම
- රාහු කාලය අනුව ක්‍රියා කිරීම
- විවාහ මංගල්‍යයවල දී පොරොන්දම් බැලීම
- සෙත් ශාන්ති කරවා ගැනීම
- සාස්තර ඇසීම
- වෙනත් දෙවි දේවතාවන්ට බාර වීම

- මූලධර්මවාදීන් පසුපස යාම
- යකුන් හා ආත්ම ගෙන්වා ගනිමින්, බැඳ ගනිමින්, වැඩ ගැනීම
- වෙනත් ආගමික ස්ථානවල දී මල්, පහන්, පළතුරු වට්ටි පිදීම හා ඒවාට අතගැසීම
- ධනය, බලය, කීර්තිය, දේපල, ආභරණ, පසුපස හඹා යාම
- තම හැකියා හා දක්ෂතා මත පමණක් ක්‍රියා කිරීම
- දෙවියන් වහන්සේ මවා ඇති මැව්ලිවලට දේවත්වයෙන් පිදීම
- දෙවියන් වහන්සේගෙන් නොලද බලයක් තමාට ඇතැයි සිතා ක්‍රියා කිරීම
- දෙවියන් වහන්සේට යාච්ඤා කිරීම අතපසු කිරීම
- දෙවියන් වහන්සේ කෙරෙහි බලාපොරොත්තු නැති කර ගැනීම
- ශුද්ධ ලියවිල්ල වැරදි ලෙස අර්ථකථනය කිරීම
- දෙවි කෙනෙක් නැතැයි සිතා කටයුතු කිරීම
- විද්‍යාවට අනුව දේවත්වය මිත්‍යාවක් (බොරුවක්) යැයි කීම.

## බලාපොරොත්තුව

දෙවියන් වහන්සේ අනාවරණය කරන කල මනුෂ්‍යයාට තම ස්ව ශක්තියෙන් පමණක් එයට ප්‍රතිචාර දැක්විය නොහැකි ය. එබැවින් දෙවියන් වහන්සේ තමාට ඒ සඳහා සහාය වන බව බලාපොරොත්තු විය යුතු ය.

බලාපොරොත්තුවට විරුද්ධ පාපයන් වන්නේ;

1. ඉච්ඡාභංගත්වය හා
2. අනුමානය යි.

1. ඉච්ඡාභංගත්වය යනු තම ගැලවීම හා පව් සමාව දෙවියන් වහන්සේගෙන් යයි බලාපොරොත්තු නොවීම යි. එය දේව යහපත්කමට විරුද්ධ වේ.

2. අනුමානය යනු තමාට ම තම ගැලවීම ලබා ගත හැකි බවත් සිත් හැරීමක් නැති ව ගැලවීම ලබා ගත හැකි බවත් බලාපොරොත්තු වීම ය. එවන් අයගේ විශ්වාසයේ දෙනෙත් විවර කරන ලෙස අපි සැම දෙවියන් වහන්සේට යාච්ඤා කරමු.

බලාපොරොත්තුව නමැති මෙම දේවධර්ම ගුණය අයිති කර ගැනීමට නම් දෛනික ජීවිතයේ දී තමාගේ ශක්තිය පිළිබඳ ව පමණට වඩා සිතා ගැනීමේ පාපයෙන් වරදකරු නොවී දේව කැමැත්ත ම ඉටු කළ යුතු ය. දේව කැමැත්ත මාගේ කැමැත්ත කරගත යුතු ය. දෙවියන් වහන්සේගේ කැමැත්ත මාගේ කැමැත්තට නොගැළපෙන අවස්ථාවල දී සහ ඉටු කිරීමට දුෂ්කර අවස්ථාවල දී පවා එය ඉටු කිරීමෙන් ද මාගේ ජීවිතය මම ඔවුන් වහන්සේගේ හස්තවලට භාර කරමි'යි කියන්නට හැකි නම් අසීමිත ලෙස දේව ප්‍රේමය අත් දකින්නට හැකි වනු ඇත.

### ප්‍රේමය

දෙවියන් වහන්සේට ප්‍රේම කිරීම යනු සැබෑ වූ එක ම දෙවියන් වහන්සේට පමණක් මුළු හෘදයෙන් ද මුළු ආත්මයෙන් ද මුළු වීර්යයෙන් ද මුළු බුද්ධියෙන් ද ප්‍රේම කිරීම ය.

දේව ප්‍රේමයට විරුද්ධ පව්

- දේව ආදරය පිළිබඳ මෙනෙහි නොකිරීම
- දේව ප්‍රේමයට ප්‍රතිචාර නොදැක්වීම
- දිව්‍යමය වූ යහපතින් කෙනෙකු ව වලක්වාලීම
- උඩඟුවෙන් දෙවියන් වහන්සේ ප්‍රතික්ෂේප කිරීම.

කතෝලික සභා ධර්මෝපදේශය 2094

## දෙවන පනත

"නුඹ දෙවි සමිඳාණන් වහන්සේගේ නාමය අගරු ලෙස භාවිත නොකරව. යමෙක් ඒ නාමය අගරු ලෙස භාවිත කරන්නේ ද මම ඔහුට දඬුවම් කරමි"

නික්මයාම 20:7

මෙම පනත පිළිබඳ ව කතෝලික සභා ධර්මෝපදේශයේ සහ ශුද්ධ ලියවිල්ලේ සඳහන් තවත් ඉගැන්වීම් විමසා බලමු.

### දේව නාමය ගෞරවයෙන් භාවිතය

දෙවියන් වහන්සේගේ නාමය ගෞරවයෙන් යුතු ව භාවිත කළ යුතු බව දෙවන පනතින් අපට නියම කරයි. තව ද බොරුවට දිවිරීම තහනම් කරයි. උසාවියක් වැනි ස්ථානයක දී දිව්රුම් දීමට සිදු වූ කල්හි, සත්‍ය පමණක් ප්‍රකාශ කිරීමට අප බැඳී සිටියි.

දෙවියන් වහන්සේගේ ශුද්ධ වූ නාමය අයුතු ලෙස හෝ අගෞරව ලෙස හෝ භාවිත කිරීම දේව අපහාසයකි. ඉතා සුළු කාරණාවල දී හා නිතර නිතර අපගේ කරුණු සනාථ කිරීමට එම නාමයෙන් දිව්රුම් නොදිය යුතු ය. තව ද බොරුවක් සනාථ කිරීමට දෙවියන් වහන්සේගේ නාමය භාවිත කිරීම දේව අපහාසයකි.

කතෝලික සභා ධර්මෝපදේශය 2150-2158

"ඔබ මාගේ නාමයෙන් අයැදින කවර දෙයක් වුව ද මම ඉටු කරන්නෙමි."

ජොහන් 14:14

කිතුනුවා දිනය, යාච්ඤාව හා ඔහුගේ සියලු වැඩ රාජකාරි කුරුසේ ලකුණින් ආරම්භ කරයි: "පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන් ආමෙන්." එම කුරුසේ ලකුණ දුෂ්කර අවස්ථාවල දී පවා අප ශක්තිමත් කරයි.

## කිතුනු නම් භාවිතයේ වැදගත් කම

බව්තිස්ම ස්නාපනයේ දී දෙවි සමිඳාණන් වහන්සේගේ නාමය අදාළ පුද්ගලයා ව ශුද්ධවත් කරයි. මන්ද යත්, ප්‍රසාද ස්නාපනය නමැති සක්‍රමේන්තුව දානය කරන්නේ පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙනි. එසේ ම ප්‍රසාද ස්නාපනයේ දී පුද්ගලයා ශුද්ධ වූ සභාව තුළ තම නම ලබයි. එය, සාන්තුවර හෝ ආදර්ශවත් ජීවිතයක් ගත කළ කෙනෙකුගේ වීමට දෙමව්පියන්, ආත්මික මව්පියන් හා පූජාප්‍රසාදිවරුන් වග බලා ගත යුතු ය. එම සාන්තුවරයා එම පුද්ගලයාට පරමාදර්ශයක් වන අතර ඒ සාන්තුවරයාගේ යැදුම් එම නම ලැබූ පුද්ගලයාට සහතික කරනු ලබයි.

කතෝලික සභා ධර්මෝපදේශය 2156

දෙවියන් වහන්සේ අප එකිනෙකා නම කියා අමතනු ඇත (යෙසයා 43:1). එබැවින් සෑම පුද්ගල නාමයක් ම ශුද්ධවන්ත ය. සෑම නාමයකට ම ගරු කළ යුතු ය.

## දෙවන පනතට විරුද්ධ ක්‍රියා

- ලෞකික දේ ඉටුකර ගැනීමේ අදහසින් දෙවියන් නමින් දිව්රීම
- තමා අතින් සිදු වූ පාපයන්, වැරදි දේව කැමැත්ත ලෙස සාධාරණීකරණය කිරීම
- දෙවියන් නමින් හෝ එසේ නොමැති ව හෝ අන් අයට සාප කිරීම, අයහපත පැතීම
- එදිනෙද සිදුවීම්වල දී දෙවියන් වහන්සේට දෙස් කීම
- ශුද්ධ වූ දේ හා දේව වචනය, අගෞරව ලෙස භාවිත කිරීම
- කිතුනුවකු ලෙස කිතුනුකමට සාක්ෂි නොදැරීම.

"මා දෙවි රජිඳුනි, ඔබ ගුණ මම ගයමි: ඔබ නම සදකල් ම පසසමි: සැමදා ඔබට තුති පුදමි: සදකල් ඔබ නම පසසමි."

ගීතාවලිය 145:1-2

## තුන්වන පනත

**ඉරු දිනත් ණය මංගල දිනත් නිවාඩු වලංගු කරව.**

"සබත් දවස ශුද්ධ ලෙස පැවැත්වීමට සිතට ගන්න ........ එබැවින් උන්වහන්සේ සබත් දවසට ආශිර්වාද කොට එය විශුද්ධ කළ සේක."

නික්මයාම 20:8-11

දෙව්මැදුර තුළ ඉරුදින දිව්‍ය යාගය සඳහා අපි එකට රැස් වෙමු. දිව්‍ය යාගය තුළ දී මීසම් සංඝයට ක්‍රිස්තුන් වහන්සේගේ ගැලවීමේ අභිරහස් උගන්වනු ලබන අතර යහපත් කල්ක්‍රියාව හා සහෝදරත්වය තුළ දයාවේ හා ප්‍රේමයේ ජීවිතයක් ගත කිරීමට ඇරයුම් කරනු ලබයි.

ඉරුදින ශුද්ධවත් ලෙස ගත කිරීම සඳහා අප විසින් සිදු කළ යුතු පළමු ණය යුතුකම වන්නේ දිව්‍ය පූජාවට සහභාගි වීම ය.



16.3 - රූපය දිව්‍ය පූජා යාගය




- දිව්‍ය පූජාව කල්වාරි යාගය සිහිපත් කිරීමකි
- දිව්‍ය භෝජනයේ පිළිවෙත පැවැත්වීමකි

**ඉරුදින ශුද්ධවත් ව ගත කිරීම සඳහා;**

- සම්පූර්ණ දිව්‍ය පූජාවට හරියාකාර ව සුදනමකින් යුතු ව භක්තියෙන් සහභාගි වෙමු
- වෙනත් දිනවලට වඩා යාච්ඤා කරමු
- රෝගීන් බලන්නට යමු
- දෙමාපියන්ට හා අන් අයට වෙනදට වඩා සහාය වෙමු
- ශුද්ධ ලියවිල්ල කියවමු
- විවිධ සමිති සමාගම්වලට සහභාගි වෙමු
- විවේකයෙන් ගත කරමු

## දිව්‍ය පූජා යාගය සිදු කිරීමේ ප්‍රධාන අරමුණු

- දෙවියන් වහන්සේට නමස්කාර කිරීම
- දෙවියන් වහන්සේට තුති පිදීම
- පාපයට වන්දි ගෙවීම
- ආත්මික හා ශාරීරික අවශ්‍යතා ඉල්ලා ගැනීම.

## තෙවන පනතට විරුද්ධ ක්‍රියා

- සිතා මතා ඉරුදින හා ණය මංගල දින දිව්‍ය පූජාවට සහභාගි නොවීම
- දිව්‍ය පූජාවට ක්‍රියාකාරී ව සහභාගි නොවීම
- දිව්‍ය පූජාව වේලාවේ අනවශ්‍ය කථාවේ යෙදීම, පුවත්පත් බැලීම, උසුළු විසුළු කිරීම අන් අයට බාධාවන අයුරින් හැසිරීම
- ඉරුදින හා ණය මංගල දිනවල දී දිව්‍ය පූජාවට සහභාගි නොවී විනෝද ගමන් උත්සව සාද සඳහා සහභාගි වීම
- වස්තු තණ්හාවෙන් ව්‍යාපාර කටයුතුවල හා අතිකාල සේවයේ යෙදීම
- දිව්‍ය පූජාවට ප්‍රමාද වී පැමිණීම හා අවසන් වීමට පෙර පිට වී යාම
- ඉරුදින අන් අයට උපකාර කිරීමට තිබූ අවස්ථා පැහැර හැරීම
- එක්වරුශිලය හා ගොඩමස් කෑමෙන් වැළකීම පිළිබඳ වූ සභා ශික්ෂාපද කඩ කිරීම

- ඉරුදින දිව්‍ය පූජාව හා දහම් පාසල අතපසුකර අමතර පන්තිවලට සහභාගි වීම
- නුසුදුසු ඇඳුම්-පැළඳුමෙන් දිව්‍ය පූජාවට සහභාගි වීම.

## ක්‍රියාකාරකම

1. ලූක් 10:27 පාඨය දෙවරක් හොඳින් කියවා මෙනෙහි කරන්න. ඒ අනුව ඔබට අයිති වූ දේව පණිවිඩය ලියා දක්වන්න.
2. අන් අයට නම් සෑදීම කොතරම් දුරට කිතුනුකමට නොගැළපෙන ක්‍රියාවක්දැයි කෙටියෙන් විස්තර කරන්න.
3. දේව ප්‍රේමයට ප්‍රති ප්‍රේමය දක්වන ආකාර **දහයක්** ලියන්න.
4. ශ්‍රී ලංකාවේ කතෝලිකයන්ට නියම වූ ණය මංගල්‍යයන් අට, දිනයන් හා අදාළ මංගල්‍යයන් සමග පෙළ ගස්වන්න.



*ජීවිතය සඳහා*

- *අන් සැමට ම වඩා දෙවියන් වහන්සේට ප්‍රමුඛස්ථානය දෙමි*
- *අන් අයට නම් පට නොබඳිමි*
- *හැම ඉරුදිනක ම දිව්‍ය පූජාවට සහභාගි වෙමි*

# 17 ප්‍රේමයේ සමාජයක්

දෙවි පියාගේ ආදරයෙන් මගෙ ජීවිතේ පිරෙව්වාට
හදවතින් ම මව්නි, පියෙණි ණයගැති වෙමි ඔබ දෙපලට

මෙලොව එළිය දුටු කල මට නව උපතක් ලැබ දුන්නට
යැදුම තුළින් මගේ දිවිය එළිය කළේ කිතුනු දෙමව්පියන් විලස
නිසි කල දී ඉගෙනීමට මා යොමු කර, ඔබෙ ජීවිත කැප කළාට
ආදරයයි කරුණාවයි සාරධර්ම ලැබ දුන්නට

දෙවි පියාගෙ ආදරයෙන් මගෙ ජීවිතේ පිරෙව්වාට
හදවතින් ම මව්නි පියෙණි ණයගැති වෙමි ඔබ දෙපලට

කීකරු වෙමු හැම විටක දී පාසල් යන සිසුන් විලස
ජය ගමු ඉගෙනුමෙන් අපිදු ඔබෙ සිත් නිති තුටු කරමින
වියපත් වූ පසු නිති ඔබ රැක ගන්නට පොරොන්දු වෙමු
මව්පියන්ට සංග්‍රහ කර අප යුතුකම් ඉෂ්ට කරමු

ඉහත විරිඳුව තාලයට ගායනා කරන්න.

## හතර වන පනත : මව්පියන්ට සංග්‍රහ කරව

"නුඹේ පියාට ද මවට ද ගෞරව කරව. එවිට නුඹේ දෙවි සමිඳාණන් වහන්සේ නුඹට දෙන රටේ නුඹ බොහෝ කාලයක් ජීවත් වන්නෙහි ය."

නික්මයාම 20:12

නිවස ශුද්ධ වූ ස්ථානයකි. මන්ද, ජේසුස් වහන්සේ ද උපත ලැබුවේ හා ජීවත් වූයේ පවුලක් තුළ ය. ශුද්ධ වූ පවුල සියලු පවුල්වලට පරමාදර්ශයකි. ශුද්ධ වූ පවුලේ ආදර්ශය තුළ මව, පියා හා දරුවන් අතර සබඳතාව වර්ධනය කර ගත යුතු ය.

සමාජයේ කුඩා ම ඒකකය පවුල යි. පවුල තුළ මව, පියා සහ දරුවන් අතර සබඳතාව ප්‍රේමය ජනිත කරවයි. පවුල නමැති සමාජ සංස්ථාව තුළ ගොඩනගා ගත් සමාජ සබඳතා තව දුරටත් ඔප මට්ටම් කර ගනිමින් පුද්ගලයා සමාජ සේවයට අවතීර්ණ වෙයි. එකිනෙකා

කෙරෙහි අඛණ්ඩවූත් ගැඹුරුවූත් සැළකිල්ලක් දක්වමින් ප්‍රේමය තුළ දිවි ගෙවන පවුලක් තුළින් සමාජයට යහපත් පුරවැසියකු බිහි කිරීමට දෙමව්පියන්ට හැකි වේ.



17.1 රූපය - ආදරණීය පවුලක දරුවන් ලබන ජය හා සතුට

ශුද්ධ වූ පාවුලු තුමා එපීස ලිපියේ දරුවන්ට හා දෙමාපියන්ට මෙසේ අවවාද කරයි.

දරුවනි, ඔබේ දෙමව්පියන්ට සමිඳුණන් වහන්සේ තුළ කීකරු වන්න. එය ඔබගේ යුතුකම ය. "ඔබේ පියාටත් මවටත් ගෞරව කරන්න" යනු පොරොන්දුවක් ඇති පළමු වන ආඥාව ය. එනම්, එසේ කිරීමෙන් ඔබට සෙත සැලසෙනු ඇත........ පියවරුනි, ඔබේ දරුවන් කෝප නොකරන්න. එසේ නොකර ඔවුන් සමිඳුණන් වහන්සේ තුළ විනයෙන් ද අවවාදයෙන් ද ඇතිදැඩි කරන්න.

(එපීස 6:1-4)

දෙමව්පියන් තම දරුවන්ට දේව දරුවන් ලෙස සැලකීමත්, පුද්ගලයන් ලෙස ගෞරව කිරීමත්, අවශ්‍ය වේ. සුරලොව පියාණන්ගේ කැමැත්තට අවනත වෙමින් දේව නීතිය ඉටු කිරීමට දරුවන්ට දෙමව්පියන් මග පෙන්විය යුතු ය. එලෙස ම දරුවන් ද දෙමව්පියන් වෙත ඉටු කළ යුතු යුතුකම් හා වගකීම් ඇත.

## දෙමව්පියන්ගේ යුතුකම් හා වගකීම්

දරුවන්ට ප්‍රේම කිරීමත් ඔවුන්ට ආරක්ෂාව සැපයීමත්, ගුණ ගරුක හා බුද්ධිමත් දරුවන් ලෙස ඇති දැඩි කිරීමත්, දෙමව්පියන්ගේ යුතුකම් හා වගකීම වේ.

දරුවන්ගේ අධ්‍යාපනය පිළිබඳ වගකීම දෙමව්පියන් සතු වෙයි.

- සදාචාර අධ්‍යාපනය
- ආධ්‍යාත්මික ගුණ වගාව
- සාරධර්ම පිළිබඳ අධ්‍යාපනය
- යහපත් ආදර්ශය
- නිවැරදි කිරීම
- ධර්මදානය
- යාච්ඤා කිරීමට ඉගැන්වීම
- විශ්වාසය තුළ අධ්‍යාපනය ලබා දීමට පාසලක්
- පාසල් අධ්‍යාපනය
- සමාජ ගත කිරීමට අධ්‍යාපනය

## දරුවන්ගේ යුතුකම් හා වගකිම්

ළමුන් ලෙස මෙන් ම වැඩිහිටියන් ලෙස ද දෙමව්පියන්ට ගරු කළ යුතු බව හතර වන පනත පෙන්වා දෙයි. දෙමව්පියන්ට කීකරු වීම හා ගරුබිය දැක්වීම තුළින් පෙන්නුම් කරන්නේ දරුවන් මෙලොවට බිහිකර හදා වඩා ගැනීම වෙනුවෙන් දෙමාපියන්ට දක්වන කෘතඥතාව යි. වයසින් වැඩි වර්ධනය වූව ද දරුවන් දෙමව්පියන්ට ගරු කිරීම දිගට ම කළ යුතු වේ. ඔවුන්ගේ ප්‍රාර්ථනාවන්, අවවාද, කැමැත්ත හා දැනමුතුකම් පිළිපැදීමට දරුවන් බැඳී සිටියි. මෙලෙස දෙමව්පියන්ට ගෞරවය දැක්වීම දෙවියන් වහන්සේ වෙත ඇති ගරුබිය මත පිහිටා ඇති අතර එය ශුද්ධාත්ම දීමනාවකි. ඔවුන්ගේ මහලු වයසේ දී හා රෝගී අවස්ථාවල දී දරුවන් උදව් විය යුතු ය; පිහිට විය යුතු ය. දේව ගරුබිය, පවුල් ජීවිතයේ සමගිය ඇති කර වන අතර සහෝදර සම්බන්ධතාවට ද ඉවහල් වේ. දෙමව්පිය ගෞරවය නිවෙස ආලෝකයෙන් හා උණුසුමෙන් පුරවයි. විශේෂ කෘතඥතාවයක් දෙමව්පියන්, සීයලා, ආච්චිලා, පවුලේ අනෙකුත් සාමාජිකයින්, ආගමික නායකයින්, දහම් ගුරු භවතුන්, අනෙකුත් ගුරු භවතුන් හා යහළු මිත්‍රාදීන්ට හිමි වේ. මන්ද, ඔවුන් අපට විශ්වාසයේ තිළිණය, බෞතිස්මය සහ ශුද්ධ වූ සභාව තුළ දහැමි දිවියක් ගෙවීමට මග සලසා ඇති බැවිනි.

(කතෝලික සභා ධර්මෝපදේශය 2214-2220)




17.2 රූපය - ආදර ගෞරවය

"දරුවෙනි, සියලු කාරණාවල දී දෙමව්පියන්ට කීකරු වන්න. මන්ද ඔබ එසේ කිරීම සමිඳාණන් වහන්සේට ප්‍රීතියකි."

(කොලොස්සි 3:20)

"මාගේ පුත්‍රය, පියාගේ අවවාදය අසන්න; මවගේ උපදෙස් ඉවත නොදමන්න."

(හිතෝපදේශය 1:8)

"සමිඳාණෝ දරුවන් ඉදිරිපිට ඔවුන්ගේ පියා ගෞරවයට පත් කරන සේක. ......... තම පියාට ගෞරව කරන තැනැත්තාට දීගායු ලැබෙන්නේ ය. තම මව සතුටු කරන තැනැත්තේ සමිඳුන්ට කීකරු වන්නේ ය."

(උපදේශකයා හෙවත් සිරාක් 3:2-6)

"ඔබේ මුළු සිතින් ඔබේ පියාට ගෞරව කරන්න. ඔබේ මව විඳි ප්‍රසව වේදනාව කිසි දිනෙක අමතක නොකරන්න. ඔවුන් ඔබට මෙලෝ එළිය දුන් බව අමතක නොකරන්න. ඔබ උදෙසා ඔවුන් කළ දේට ඔබ කෙලෙසින් කළගුණ සලකන්නට ද?"

(උපදේශකයා හෙවත් සිරාක් 7:27-28)

## මවට ද පියාට ද ගෞරව කරන්න යන පනතට විරුද්ධ ක්‍රියා

* දෙමාපිය, වැඩිහිටියන් නොසැලකීම, ඔවුන්ට අගෞරව කිරීම
* මව්පියන්ට හිරිහැර කිරීම, පහර දීම, බැන වැදීම
* මව්පියන් ව හුදෙකලා කිරීම

- ගුරුවරුන්ට, වැඩිහිටියන්ට අකීකරු වීම, සිත් රිදවීම
- දෙමාපියන් ලබා දුන් නිදහසින් අයුතු ප්‍රයෝජන ගැනීම, ඔවුන් රැවටීම
- දෙමාපියන්ගේ හා වැඩිහිටියන්ගේ බලාපොරොත්තු කඩ කිරීම
- ඔවුන්ගේ වස්තුව, දේපළ විනාශ කිරීම
- රටේ, සේවය කරන/ඉගෙන ගන්නා ආයතනයේ, පාසලේ නීතිරීති කඩ කිරීම
- පොදු දේපළ විනාශ කිරීම
- තමන්ට පැවරී ඇති කටයුතු ඉටු නොකිරීම, මග හැරීම.

ප්‍රේමයෙන් ජීවත් වන පවුල් සමූහයකින් ප්‍රේමයේ සමාජයක් බිහි වේ. මෙවන් සමාජයකින් බිහිවන පාලකයින් ද ජනතා සේවයට අඛණ්ඩ ව හා ගැඹුරු ලෙස කැප වී ප්‍රේමයේ සමාජයක් ගොඩනගයි. මෙවන් සමාජයක නායකයන් පහත ක්‍රිස්තු ඉගැන්වීම යථාර්ථයක් බවට පත් කරයි.

> ඔබ අතර යමෙක් ප්‍රධානියා වන්න කැමැත්තේ නම් ඔහු ඔබේ දසයා වන්නේ ය. මතෙව් 20:26

සදාචාර සම්පන්න සමාජයක් බිහි කරන්නට යන ගමනේ දී පාලකයන් තම සේවාව ලබන පුරවැසියන්ටත්, එම පුරවැසියන් තම පාලකයින්ටත් ඉටු කළ යුතු යුතුකම් හා වගකීම් රැසකි.

## රාජ්‍ය පාලකයින්ගේ යුතුකම් හා වගකීම්

- තම නායකත්වය තුළ පැවරෙන වගකීම් අවංක ව හා නිසි අයුරින් ඉටු කිරීම
- තමන්ගෙන් රටට විය යුතු සේවාව නොපිරිහෙලා ඉටු කිරීම
- තමන්ගෙන් සේවය ලබන පුරවැසියන්ට සාධාරණය ඉටු කිරීම හා කාරුණික වීම
- සමාජයෙන් ලැබෙන පැසසුම් ගෞරව මත සේවය නොකිරීම
- තම සේවය අවැසි සෑම විට ම සේවයට කැප වීම
- ශුද්ධ වූ සභාවේ නායකයින් හා එක් ව තම නායකත්වයේ ගමන යහපත් කර ගැනීම
- පුරවැසියන්ගේ මූලික අයිතිවාසිකම් ආරක්ෂා කිරිම
- පුරවැසියන්ගේ නිදහසට ගරු කිරීම.

## පුරවැසියන්ගේ යුතුකම් හා වගකීම්

- පාලකයින්ට ගරු කිරීම හා අවනත වීම (දේව පනත් උල්ලංඝනය වන අවස්ථාවල දී පාලකයින්ට කීකරු වීමට අවශ්‍ය නැත)
- තම හෘදය සාක්ෂියට අනුව ඡන්දය භාවිත කිරීම
- නියමිත ලෙස බදු ගෙවීම

- රාජ්‍ය සම්පත්/පොදු දේපළ පෞද්ගලික පරිහරණයට යොද නොගැනීම
- තම වැටුපට වහල් නොවී සේවය අවංක ව ඉටු කිරීම
- පාලකයින් අගය කළ යුතු තැන්හි අගය කර, ඔවුන්ගේ සේවයට සහාය වීම
- පාලකයින් වෙනුවෙන් යාච්ඤා කිරීම.

ශුද්ධ ලියවිල්ලේ ඉගැන්වීම් ප්‍රකාර හතර වන පනත අනුව දිවි ගෙවීම තුළින් ප්‍රේමය පවුල තුළ පමණක් නොව සමාජය තුළ ද අත්දැකිය හැකි ය. ඒ ප්‍රේමය කරණකොට ගෙන අන් අය වෙනුවෙන් අඛණ්ඩ හා ගැඹුරු ලෙස කැප වීමට හා වැය වීමට හැකියාව හා කැමැත්ත අපට ලැබෙනු ඇත; සතුටින් සමඟියෙන් දිවි ගෙවීමට හැකි වනු ඇත. මෙලෙස යම් පුද්ගලයෙක්, පවුලක්, කණ්ඩායමක් ප්‍රේමයෙන් දිවි ගෙවන්නේ ද එම ආදර්ශය අන් අයට, අන් පවුල්වලට, සමාජයට, අසීමිත ආදර්ශයක් වනු ඇත. එම ආදර්ශය නායකයා සේවකයා වී ක්‍රියා කිරීමට අන් අය ව ද යොමු කිරීමක් වනු ඇත.

## ක්‍රියාකාරකම

1. දරුවකු ලෙස දෙමව්පියන්ට යුතුකම් ඉටු කළ අවස්ථා **පහක්** ලියන්න.
2. ඔබේ දෙමව්පියන් ඔබ වෙනුවෙන් යුතුකම් ඉටු කළ අවස්ථා **පහක්** ලියන්න.
3. අනාගතයේ දී වැඩිහිටියකු ලෙස ඔබේ දෙමව්පියන් වෙනුවෙන් කළ හැකි කාර්යයන් **පහක්** ලියන්න.
4. 

   පුවත් පත් කිහිපයක් සොයා ගන්න.

   i. රාජ්‍ය පාලකයින් තම යුතුකම් හා වගකීම් ඉටු කළ අවස්ථා **පහක්** උපුටා ලියන්න.

   ii. රාජ්‍ය පාලකයින් තම යුතුකම් හා වගකීම් පැහැර හැරිය අවස්ථා **පහක්** උපුටා ලියන්න.

   iii. පුරවැසියන් තම යුතුකම් හා වගකීම් ඉටු කළ අවස්ථා **පහක්** උපුටා ලියන්න.

   iv. පුරවැසියන් තම යුතුකම් හා වගකීම් පැහැර හැරිය අවස්ථා **පහක්** උපුටා ලියන්න.

*ජීවිතය සඳහා*

- *තම යුතුකම් නිසියාකාර ව ඉටු කරමින්, ප්‍රේමයේ ජීවිතයක් ගත කරමු.*

# 18 මානව සම්පත සුරකිමු

තලවිල ශාන්ත ආනා සිද්ධස්ථානයේ මංගල්‍ය දිව්‍ය පූජාව අවසාන වී සුළු මොහොතකට පසු ව ශබ්ද විකාශන යන්ත්‍ර එකවර පණ ගැන්වී ලැබුණු නිවේදනයකි. "පිහිනීමට හැකි අය ඉක්මනින් ඉදිරිපත් වී, මුහුදේ ගසා ගෙන යන ජීවිතය බේරා ගන්න. සෙසු අය ඔහුගේ ජීවිතය රැක දෙන ලෙස යාච්ඤා කරන්න."

මේ වදන් පිට වීමත් සමග ම සෙනග අතරින් එක් පුද්ගලයෙකු දිව ගිය බව මම දුටිමි. මුළු ජනතාව ම එකවර දෙවියන් වහන්සේ ඉදිරියේ දෑහැන් ගත විය. මට පෙනෙන සීමාවෙන් දිව ගියේ එක් අයකු වුව ද අනෙක් පැතිවලින් ද එම ජීවිතය බේරා ගැනීමට බොහෝ දෙනෙක් ඉදිරිපත් වූ බව දැන ගන්නට ලැබිණි. ගත වූයේ නිමේෂයකි. ජනතාව ඔහු වෙනුවෙන් යැදුමට යොමු වී සිටි මෙහොතක නැවත ශබ්ද විකාශන යන්ත්‍රයෙන් මහා දේව ප්‍රශංසාවකි. "මුහුදට ගසා ගෙන ගිය ජීවිතය බේරා ගත්තා. දෙවියන් වහන්සේට ප්‍රශංසා වේවා!"

(මෙය සත්‍යය සිදු වීමකි)

- ⋆ තම ජීවිත අවදානම ගැන පවා නොසිතා, තවත් ජීවිතයක් බේරා ගන්නට විවිධ පුද්ගලයන් ඉදිරිපත් වූයේ ඇයි?
- ⋆ පිහිනීමට නොහැකි වුවත් එම ජීවිතය බේරා ගැනීමට යැදුමෙන් එක් වූයේ ඇයි?

### (1) දේව ස්වරූපය හා සමානකම ඇති ව මිනිසා ව මවා ඇත

ඉන්පසු දෙවියන් වහන්සේ: "අපගේ **ස්වරූපය** අනුව, අපගේ **සමානත්වය** ලෙස මනුෂ්‍යයා මවමු, ඔහු මුහුදේ මසුන් ද අහසේ පක්ෂීන් ද ගවමහීෂයන් ද මුළු පොළෝ තලයෙහි සියලු වන මෘගයන් ද උරගයන් ද පාලනය කෙරේ වා!"යි අණ කළ සේක. දෙවියන් වහන්සේ තම **ස්වරූපය** අනුව මිනිසා මැවූ සේක; දෙවියන් වහන්සේගේ ම **ස්වරූපය** අනුව ඔවුන් මවා වදාළ සේක; පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක. දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින්, "නුඹලා දරුසම්පත් ලබා වැඩි වර්ධනය වී, පොළොව පුරා පැතිර එය යටත් කරගන්න. මුහුදේ මසුන් කෙරෙහි ද අහසේ පක්ෂීන් කෙරෙහි ද පොළොවේ සැරි සරන සියලු සතුන් කෙරෙහි ද බලය පවත්වන්නැ"යි ඔවුන්ට වදාළ සේක.

(උත්පත්ති 1:26-28)

(2) ජීවන හුස්ම ලබා දී ඇත

දෙවි සමිඳාණන් වහන්සේ පොළොවේ දූවිල්ලෙන් මනුෂ්‍යයා මවා ඔහුගේ නාස් පුඩු තුළට **ජීවන හුස්ම** හෙළූ සේක. මෙසේ මනුෂ්‍යයා ජීවමාන කෙනෙක් විය.

(උත්පත්ති 2:7)

## පස්වන පනත : ජීවිතය විනාශ නොකරව

"මිනී නොමරව"

(නික්මයාම 20:13)

ජේසුස් වහන්සේ පස්වන පනතට නව අර්ථකථනයක් දුන් සේක.

"මිනී නොමරන්න; මිනී මරන කවරකු වුව ද විනිශ්චයට යටත් වනු ඇතැ"යි පැරැන්නන්ට කී බව ඔබ අසා ඇත. එහෙත්, මම ඔබට කියමි. තමාගේ සහෝදරයා සමග කෝප වන කවරකු වුව ද ඔහු අධිකරණයට යටත් වනු ඇත. තමාගේ සහෝදරයාට "මෝඩයා" කියා ගරහන කවරකු වුව ද ඔහු ශ්‍රේෂ්ඨාධිකරණයට යටත් වනු ඇත. "ජඩයා" කියා ගරහන කවරකු වුව ද ඔහු නිරාගින්නට ගොදුරුවනු ඇත.

(මතෙව් 5:21-22)

එපමණක් නොව එය ඔවුන් වහන්සේ තම ප්‍රායෝගික ජීවිතයේ දී ද ක්‍රියාත්මක කළ සේක.

ජේසුස් වහන්සේ කතා කොට, "ඔබගේ කඩුව කොපුවේ දමන්න, කඩු ගන්නා සියල්ලෝ ම කඩුවෙන් ම නසිති"

(මතෙව් 26:52)

## ජීවිතය සුරකිමු

මත්ද්‍රව්‍ය, මත්පැන්, දුම්වැටි පිටු දකිමු.
අන් අය ව ද එයින් බේරා ගනිමු.



18.1 රූපය - විපතින් මුදවා ගැනීම

## ජීවිතයට ගරු කරමු

කායින් විසින් ආබෙල් ඝාතනය කරනු ලැබීමෙන් පෙන්නුම් කරන්නේ, මිනිසා තුළ ඇති ඊර්ෂ්‍යාව, ක්‍රෝධය හා පළිගැනීම වැනි ජන්ම පාපී ප්‍රතිඵල ලෝක ආරම්භයේ සිට ම ක්‍රියාත්මක වූ බව ය. එහෙත් එම නපුරු ක්‍රියාවේ බරපතලකම දෙවියන් වහන්සේ මෙසේ පැහැදිලි කරන සේක: "නුඹේ සහෝදරයාගේ ලේ පොළොවෙන් මට මොරගසයි. මින් මතු නුඹ පොළෝ තලය මත සාප ලද්දෙක් වේ වා!" (උත්පත්ති 4:10-11) දේව තිළිණයක් වන මිනිස් ජීවිත ඝාතනයට යොමු වන හිංසනය පිළිබඳ ව දෙවියන් වහන්සේ කථා කරන සේක. "යමෙකු නුඹ මැරුවොත් මම ඔහුට මරණීය දඬුවම දෙමි. සතකු හෝ මිනිසකු හෝ නුඹ මැරුවොත් මම ඌ හෝ ඔහු හෝ වනසා දමමි. මිනිසා මිනිසකු මැරුවොත් මම ඔහු ද වනසාලමි. මිනිසා මිනිසකුගේ ලේ වගුරුවයි ද ඔහුගේ ලේ ද මිනිසකු විසින් ම වගුරුවනු ලැබේ. ඒ මන්ද, මිනිසා, දෙවියන් වහන්සේගේ ස්වරූපය අනුව මවනු ලැබූ බැවිනි" (උත්පත්ති 9:5-6).

(කතෝලික සභා ධර්මෝපදේශය 2259-2260)

ජීවිතය හා ශරීර සෞඛ්‍යය දෙවියන් වහන්සේගෙන් අප ලද අමිල දීමනා ය. මනුෂ්‍යයාගේ ශාරීරික සුවය පිළිබඳ ව කථා කිරිමේ දී ආහාර, වස්ත්‍ර, නිවාස, සෞඛ්‍ය, මූලික අධ්‍යාපනය, රැකියා හා සමාජ සහයෝගය වැදගත් ය. මෙම අවශ්‍යතා ඉටු කර ගැනීමට කරන උත්සාහයේ දී මිනිස් සබඳතා පවා බිඳ දමා දුරාචාරයට හෝ අයුතු බලපෑම්වලට මිනිසා පෙළඹෙයි. මත් ද්‍රව්‍ය, මත්පැන් හා දුම්වැටි භාවිතයට යොමු වී තම සෞඛ්‍යය හා ජීවිතය විනාශයට පත්කර ගනියි. රෝග නාශක ප්‍රතිකාර වශයෙන් හැර මෙවැනි දෑ භාවිතය බරපතල පාපයකි.

(කතෝලික සභා ධර්මෝපදේශය 2288-2291)

## පස්වන පනතට විරුද්ධ ක්‍රියා

- ★ මිනී මැරීම, ඊට උදව් කිරීම, උපදෙස් දීම, සැලසුම් කිරීම
- ★ අන් අයගේ හොඳ නම කෙලෙසීම (චරිත ඝාතනය), නම් පට බැඳීම, උසුළු විසුළු කිරීම
- ★ අන් අයගේ අනාගතය විනාශ කිරීම
- ★ පුද්ගලයින් කොන් කිරීම, ඇනුම්පද කීම, හෙළා දැකීම
- ★ මත් ද්‍රව්‍ය භාවිතය (අත්හද බැලීමට හෝ මත්ද්‍රව්‍ය කිසි ම දිනක එක් වරක් හෝ භාවිත නොකළ යුතු ය. මන්ද, ඇතැම් මත්ද්‍රව්‍ය එක් වරක් භාවිත කළ ද ඇබ්බැහි වීමට ලක් වේ.)
- ★ මත්පැන් පානය
- ★ දුම් පානය
- ★ පරිසරයට, මිනිසාට අහිතකර ව්‍යාපාරවල යෙදීම
- ★ පරිසරය (ශබ්දය, ජලය, වාතය) දූෂණය කිරීම හා විනාශ කිරීම
- ★ ධනය ඉපයීම වෙනුවෙන් අන් අය බිලි දීම
- ★ පුද්ගල වැරදි ප්‍රසිද්ධියේ කීම
- ★ ගබ්සා කිරීම
- ★ සිය දිවිනසා ගැනීම, ඊට තැත් කිරීම
- ★ පළිගැනීමේ චේතනාවෙන් අන් අය අපහසුතාවට පත් කිරීම
- ★ අයුතු චෝදනා කර අන් අයගේ රැකියා අහිමි කිරීම
- ★ බොරු නඩුවලට පටලැවීම
- ★ පුද්ගලයින් වැරදිකරුවන් ලෙස නිරපරාදේ විනිශ්චය කිරීම

★ අසරණයන් කොන්කිරීම
★ යම් සිද්ධිවල දී අසරණ/නිදොස් පුද්ගලයන් මුදගැනීමට හැකියාව තිබිය දී එය මග හැර සිටීම
★ තර්ජනය කිරීම හා මැර බලය යෙදීම
★ බෝවන රෝග පැතිරවීම
★ නිසි ලෙස ආහාර පාන නොගැනීම, බෙහෙත් නොගැනීම
★ දරුවන් පාසල් නොයවා, ව්‍යාපාර හා තම කාර්යයන්හි යොදවා ගැනීම
★ අවස්ථාව තිබිය දී ජාතික සමගිය උදෙසා ක්‍රියා නොකිරීම
★ සාමය වෙනුවෙන් ඉදිරිපත් නොවීම
★ පමණ ඉක්මවා තෙල්, සීනි හා ලුණු සහිත ආහාර ගැනීම.

## ගබ්සාව

මව් කුසෙහි සිටින කළලය විනාශ කිරීම ගබ්සාව වන්නේ ය. ජීවිතය විනාශ කිරීම නමැති බරපතල පාපයට මෙය අයත් වේ. මෙය බරපතල පාපයක් වන්නේ, පිළිසිඳගත් මොහොතේ සිට ජීවිතය දෙවියන් වහන්සේට අයිති නිසා ය. ඒ පිළිබඳ ව ශුද්ධ ලියවිල්ල සාක්ෂි දරයි.

> සමිඳාණන් වහන්සේ මට මෙසේ වදාළ සේක: "මා නුඹ කුසෙහි පිළිසිඳගැනීම ඇති කරන්නටත් පෙර පටන් මම නුඹ හඳුනා ගතිමි. නුඹේ උපතට පෙර, මම නුඹ කැප කළෙමි; ජාතීන් හට දිවැසිවරයකු ලෙස මම නුඹ පත් කළෙමි."
>
> (ජෙරමියා 1:4-5)

> "මාගේ ඇටකටු සෑදෙන විට, මව් කුසෙහි මා වැඩෙන විට, රහසිගත ව මා තැනෙන විට මා එහි වූ බව ඔබ දැන සිටි සේක."
>
> (ගීතාවලිය 139:15)



18.2 රූපය - කළලය

මව්කුස පිළිසිඳගත් මොහොතේ සිට ම සෑම මිනිස් ජීවිතයක් ම ආරක්ෂා කර රැක බලා ගත යුතු ය. ගබ්සාව මගින් ජීවිතයක් විනාශ නොකළ යුතු ය. ගබ්සාව ඝාතනයකි; අශික්ෂිත අපරාධයකි. ගබ්සා කිරීමක් සඳහා දයක වීම ද බරපතල පාපයකි.

(කතෝලික සභා ධර්මෝපදේශය 2270-2272)

පාපෝච්චාරණයේ දී ගබ්සාව නමැති පාපයට සමාව දීම සඳහා පියතුමකු රදගුරු හිමිපාණන්ගෙන් අවසරයක් ලබා ගත යුතු ය. යම් පුද්ගලයකු ගබ්සාව සඳහා සමාව ලබා ගැනීමට ගිය විට, නැවත වරක් එම පුද්ගලයාට අදාළ පියතුමා ව පාපෝච්චාරණයක දී හමුවීමට යාමට සිදුවනු ඇත. ඒ සඳහා පාපෝච්චාරණය අසන පියතුමා දිනයක් නියම කරනු ඇත. එම දිනට පෙර පාපෝච්චාරණය ඇසූ පියතුමා, එම පාපයට සමාව දීමට රදගුරුතුමාගෙන් අවසර ලබා ගනු ඇත. සමහර වන්දනා ස්ථානවල දී පාපෝච්චාරණය කරන විට, ගබ්සාව නමැති පාපයට සමාව දීමට පදවි රදගුරුතුමාගේ අනුමතිය පූර්වයෙන් පියතුමන්ලාට ලබා දී තිබේ.

## සිය දිවි නසා ගැනීම

සිය දිවි නසා ගැනීම තමාටත්, අසල්වැසියාටත්, දෙවියන් වහන්සේටත් විරුද්ධ ව කරන පාපයකි. එය අසල්වැසියන්ට විරුද්ධ ව පාපයක් වන්නේ, අසල්වැසියා සමග අප මෙතෙක් පැවැත්වූ සබඳතා, අප ම හිතුවක්කාරී ලෙස අවසන් කරන නිසා ය.

ජීවිතය ගැන දෙවියන් වහන්සේ ඉදිරියේ වගකීම සෑම පුද්ගලයකුට ම ඇත. ජීවිතයේ අධිපතියාණෝ මහෝත්තම වූ දෙවියන් වහන්සේ ය. ජීවිතය ස්තුති පූර්වක ව පිළිගෙන දෙවියන් වහන්සේගේ මහිමය හා අපගේ ආත්ම ගැළවීම සඳහා ද ආරක්ෂා කිරීම අපට පැවරී ඇති ණය යුතුකමකි. දෙවියන් වහන්සේ අපට පවරා ඇති ජීවිතයේ හිමිකරු ද දෙවියන් වහන්සේ මිස අපි නොවෙමු. සිය දිවි නසා ගැනීම දෙවියන් වහන්සේට දිය යුතු ප්‍රේමයට විරුද්ධ වීමකි.

(කතෝලික සභා ධර්මෝපදේශය 2280-2281)

අපගේ ද අන් අයගේ ද ජීවිත සුරැකීමට අපි සෑම කැප වෙමු.

## ක්‍රියාකාරකම

★ මිනිස් දිවිය දෙවියන් වහන්සේට පමණක් අයිති බවත්, තමාගේත් අන් අයගේත් ජීවිත සුරැකිය යුතු බවත් පෙන්වා දෙමින් වචන 150කට නො අඩු රචනාවක් ලියන්න.

*ජීවිතය සඳහා*

*මම මගේ ජීවිතයට ආදරය කරමි; අන් අයගේ ජීවිතවලට ද ආදරය කරමි.*

# 19 නිර්මල සිතක් පිවිතුරු දිවියක්

ආදිපිතෘ ජාකොබ්ගේ පුත් ජෝසෙප්, පොතිපර්ගේ නිවසේ සේවය කරන කාලයේ දී කඩවසම් තරුණයකු වූ අතර ඔහුට වසඟ වූ පොතිපර්ගේ බිරිඳ ඔහු ව පොළොඹවා ගැනීමට හැකි හැම ප්‍රයත්නයක් ම දැරුවා ය. එයින් ප්‍රතිඵලයක් නොවූයෙන් අවසානයේ කිසිවකු නැති මොහොතක ඔහු ව බලහත්කාරයෙන් අල්ලා ගත් නමුත් ඉන් බේරී ජෝසෙප් පැන ගියේ ය. පොතිපර් ආ විගස ජෝසෙප් ඇයට අතවර කිරීමට උත්සාහ කළ බවට බොරු චෝදනා කළෙන්, පොතිපර් ඔහු ව රජුගේ සිරගෙයි දමන ලදි.

"අයහපත තුළින් යහපත උදා කරන සේක"යි පවසන දෙවි සමිඳාණන් වහන්සේ ජෝසෙප්ගේ මෙම විපත පසු ව මහා ජයග්‍රහණයකට හැර වූ සේක. එයට හේතුව කුමන විපතකට මුහුණ දීමට සිදු වුව ද ජෝසෙප් තුළ තිබූ නිර්දෝශී, පිරිසිදු, නිර්මල දිවි පැවැත්ම රැක ගැනීමට කැපවීම ය.

- ජෝසෙප් පොතිපර්ගේ බිරිඳට එකඟ වූයේ නම් කඩ වන පනත්

**(1) හයවන පනත**

කාමමිථ්‍යාචාරය නොකරව
(නික්මයාම 20:14)

**(2) නවවන පනත : පරදාර ආලය නොකරව**

නුඹේ අසල්වැසියාගේ භාර්යාවට ඇළුම් නොකරව
(නික්මයාම 20:17)

මෙම පනත් පිළිබඳ ව ශුද්ධ වූ පාවුලු තුමා මෙසේ උගන්වයි.

"අනාචාරයෙන් පලා යන්න. අන් හැම පාපයක් ම මිනිසා කරන්නේ ශරීරයෙන් බැහැර ය. එහෙත් අනාචාරය කරන්නා තමාගේ ම ශරීරයට විරුද්ධ ව පව් කරයි. ඔබගේ ශරීරය, ඔබට දෙවියන් වහන්සේ දෙවා වදාළ, ඔබ තුළ වැඩ වසන ශුද්ධාත්මයාණන්ගේ මන්දිරය වන බව ඔබ නොදන්නහු ද?

(1 කොරින්ති 6:18-19)

## ශුද්ධ වූ මරිය ගොරෙත්ති තුමිය




19.1 රූපය - ශුද්ධ වූ මරිය ගොරෙත්ති තුමිය

පියාගේ මරණින් පසු මව සමග ගෙදර වගකීම් භාරගත් මරිය ගොරෙත්ති තුමිය තම සහෝදර සහෝදරියන් සමග දෙවියන් වහන්සේට ප්‍රිය මනාප ජීවිතයක් ගත කළා ය. දිනක් ඇය නිවසේ තනි ව සිටිය දී එහි පැමිණි ඇලෙක්සැන්ඩර් ඇය ව පාපයට පොළඹවා ගැනීමට උත්සාහ කළ නමුත් ඇය ඊට විරුද්ධ වූ නිසා, ඔහු ඇයට පිහියෙන් ඇන්නේ ය. මරණයට පෙර සිය මෑණියන් ඇමතූ ඇය මෙසේ පැවසුවා යඃ "අම්මේ, මම පළමුවරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබූ ද 'මරණයට පත් වුනත් මම මගේ දේව ජීවිතය නැති කර ගන්නේ නෑ' කියා ජේසුට දුන් පොරොන්දුව ඉටුකළා." මිය යන විට ඇගේ වයස අවුරුදු 12කි.

## මයසීාදව (ව්‍රතශුද්ධිය)

තමන් මෙන් ම අනුන් ද 6 හා 9වන පනත්වලට විරුද්ධ පාපයට නොපොළඹවන අයුරින් කෙලෙස් දමනය කිරීම මයසීාදාව වන්නේ ය. තම හැසිරීමෙන් ද ඇඳුම් පැළඳුමෙන් ද අනුන් ව පාපයට පොළොඹවන්නට පුළුවන. මේ නිසා තමන්ගේ ද අනුන්ගේ ද යහපත සඳහා ඒ සියලු කටයුතුවල දී පරිස්සම් වීම මැනව. මේ පිළිබඳ ව තව දුරටත් කතෝලික සභා ධර්මෝපදේශය මගින් කරන ඉගැන්වීම් විමසා බලමු.

ආත්ම දමනය පිළිබඳ ඉගෙන ගැනීම මයසීාදවට ඇතුළත් ය. එය මානව ස්වාධීනත්වය තුළ කරන පුහුණුවකි. මිනිසාට තම ආශාවන් හා හැඟීම් පාලනය කර ගෙන සාන්තභාවය ලබා ගත හැකි ය. නැතහොත් තම ආශාවන් හා හැඟීම්වලට තමා ව පාලනය කිරීමට ඉඩ දී අසතුටට පත්විය හැකි ය. එබැවින් මනා බුද්ධියෙන් හා නිදහස් තෝරා ගැනීමෙන් ක්‍රියා කිරීමට මිනිසා තුළ ඇති ශ්‍රේෂ්ඨත්වය ඔහුට ආරාධනා කරයි. ඇතුළාන්ත පාලනයකින් බාහිර බලවේගයන්ට හා අන්ධ බලවේගයන්ට යටත් නොවිය යුතු ය. මෙලෙස සෑම ආකාරයක ම ආශාවන්ගෙන් මිදීම තුළින් මිනිසාට උදාරත්වය ලඟා කර ගත හැකි ය. ප්‍රසාද ස්නාපනීය පොරොන්දුවලට පක්ෂපාත හා විශ්වාසවන්ත වී දුර්පරීක්ෂා ජය ගත හැකි ය. මයසීාදව නමැති යහගුණය උපදින්නේ හික්මවීම නමැති ප්‍රධාන ධර්මගුණයෙනි.

(කතෝලික සභා ධර්මෝපදේශය 2338-2341)

විවාහ ජීවිතය දේව වරප්‍රසාදයකි. විවාහ වූ දෙදෙනකු අතර පවතින ස්වභාවික කායික සම්බන්ධතාව නිදොස් ය. එමගින් ඔවුහු මැවීමේ දේව ක්‍රියාවට සහභාගි වෙති. එහෙත් විවාහයෙන් බැහැර ව එම ක්‍රියාවන්හි නිරත වීම මිනිසාගේ ශ්‍රේෂ්ඨත්වය දූෂණය කර ගැනීමක් වන්නේ ය.

> ආත්ම දමනය ඇතු ව සිටීමට තරුණයන්ට අවවාද කරන්න. සියල්ලෙහි දී ඔබ ම යහපත් ක්‍රියාවන්හි ආදර්ශයක් වන්න. ඔබ උගන්වන විට අවංක ව ප්‍රතිපත්තිගරුක ව සිටින්න.
>
> (තීතස් 2:6-7)

- කිතුනුවාගේ ඇඳුම විනීත විය යුතු ය.
- හැසිරීම සංවර විය යුතු ය.
- කතාබහ යහපත් විය යුතු ය.
- හැඟීම්වලට වහල් නොවී ජීවත් විය යුතු ය.
- චරිත පාරිශුද්ධය රැකීමේ ආත්ම ශක්තිය තිබිය යුතු ය.

> "කාමමිථ්‍යාචාරය නොකරන්නැ"යි කී බව ඔබ අසා ඇත. එහෙත්, මම ඔබට කියමි. යමෙකු ස්ත්‍රියක දෙස කාමරාගයෙන් බැලූ කෙනෙහි ම ඔහු ඈ සමග සිතින් කාමිථ්‍යාචාරය කර ඇත.
>
> (මතෙව් 5:27-28)

> වයස්ගත ස්ත්‍රීන් ද ශුද්ධ ජීවිතයකට ඔබින ලෙස හැසිරෙන, අපහාස නොනගන, මත්පැනට ඇබ්බැහි නො වූ, යහපත් දේ උගන්වන අය විය යුතු ය. මෙසේ විය යුතු වන්නේ, දේව වචනයට අපහාසයක් නොවන පිණිස, සිය පුරුෂයන්ටත්, දරුවන්ටත් ප්‍රේම කරමින් ආත්ම දමනය ඇති, නිර්මල ගෘහණියන් ලෙස, කරුණාවන්ත ව, සිය ස්වාමි පුරුෂයන්ට යටත් ව සිටීමට යෞවන භාර්යාවන් පුහුණු කරවනු පිණිස ය.
>
> (තීතස් 2:3-5)

ඉහත පනත අනුව දිවි ගෙවීමට නම්

- විවාහක යුවතිපතිහු පතිවත හා පතිනිවත රැකිය යුත්තෝ ය.
- පවුල් ජීවිතය යාච්ඤාව තුළ ගත කිරීමෙන් පවුලට එල්ලවන අභියෝගවලින් මිදිය හැකි ය.

ප්‍රසාද ස්නාපනය ලැබූ සියල්ලන් ම මයාඞාදව සඳහා කැඳවා ඇත. කන්ද උඩ දේශනාවේ දී මේ පිළිබඳ ව ද දේශනා කළේ තමන් වහන්සේගේ ම ආදර්ශය පෙරටු කොට ගෙන ය. සැම කිතුනුවෙක් ම මයාඞාදාව තුළ ආදර්ශමත් ජීවිතයක් ගත කිරීමට ප්‍රසාද ස්නාපනයේ දී පොරොන්දු දී ඇත. මෙවන් ජීවිතයක් ගත කිරීමෙන් දෙව් ආසිරි බහුල ව ලබා ගත හැකි ය. ස්වර්ගීය සැපත හිමි කර ගැනීමට හේතු වේ.

නිර්මල සිත් ඇත්තෝ භාග්‍යවන්තයෝ ය; ඔව්හු දෙවියන් වහන්සේ දකින්නෝ ය.

(මතෙව් 5:8)

## 6 සහ 9 පනත්වලට විරුද්ධ ක්‍රියා

- විවාහ පොරොන්දු කඩ කිරීම (විවාහ සහකරු හා සහකාරිය ඔවුනොවුන්ට අවිශ්වාසවන්ත වීම)
- ආශාවන්ට ඉඩදීම, ඉන්ද්‍රියන් පිනවීම
- අන් අයගේ ශරීර තම තෘප්තිය වෙනුවෙන් පවරා ගැනීම
- කුඩා ළමුන් කාමුක දේ සඳහා යොමු කිරීම
- කාමාශාවන් ඇතිවන ලෙස ඇඳ පැළඳයාම, නිරුවත ප්‍රදර්ශණය කිරීම, ශරීරය වැසෙන සේ ඇඳුම් නොඇඳීම
- දික්කසාදවීම
- අසභ්‍ය පොත්පත් හා චිත්‍රපට බැලීම, බෙදා හැරීම හා ඊට දායක වීම
- අසභ්‍ය වචන භාවිතය
- අන්තර් ජාලයේ අසභ්‍ය වෙබ් අඩවි නැරඹීම.



19.2 රූපය

යාච්ඤා කරන්න



19.3 රූපය

ශුද්ධ බයිබලය කියවන්න

**මර්යාදාව ඇති ව දිවි ගෙවන්නට**



19.4 රූපය

දිව්‍ය පූජාවට සහභාගී වන්න



19.5 රූපය

දේව ප්‍රසාද නිධාන ලබා ගන්න

## ක්‍රියාකාරකම

1. ශුද්ධ බයිබලය පෙරළා, පහත පාඨ ඔබේ පොතේ ලියා, මෙනෙහි කරන්න.

**නිර්මල ජීවිතයකට ආරාධනා**

- 1 කොරින්ති 6:19
- ශුද්ධ වූ මාක් 10:9
- 1 කොරින්ති 6:15
- ගලාති 5:24-25
- ගලාති 5:2425
- 1 ජොහන් 3:3
- තීතස් 2:2

2. දේව වචනය ඇසුරෙන් "නිර්මල සිතක් පිවිතුරු දිවියක්" යන මැයෙන් නිසදැසක් ලියන්න.

***ජීවිතය සඳහා***

***අසභ්‍ය දේ බැලීම, ඇසීම, අනුකරණය, කථා කිරීම පිටු දකිමු.***

# 20 පෞද්ගලික දේපළ ස්වර්ගීය සම්පත් සඳහා

**ක්‍රිෂාන් :** පියතුමෙනි, පෞද්ගලික දේපළ ස්වර්ගීය සම්පත් සඳහා යොදා ගන්නේ කොහොම ද?

**පියතුමා:** පුතේ, සමාජයේ ඇතැම් අය ධනවත්. තවත් කෙනෙක් දුප්පත්. දෙවියන් වහන්සේ කෙනෙකුට ධනවත් බව දානය කළේ, එමගින් ස්වර්ගීය සම්පත් රැස් කරගන්නට යි.

**ක්‍රිෂාන් :** පියතුමනි, ඒක මට පැහැදිලි නැහැ.

**පියතුමා:** පුතා, මෙම ශුද්ධ ලියවිලි පාඨවලට ඔබ හොඳින් සවන් දෙන්න. එවිට ඔබට තේරේවි.

> ඔබ සතු දේ විකුණා දන් දෙන්න; නොදිරන පසුම්බි ද නොපිරිහෙන වස්තු ද ස්වර්ගයෙහි ඔබට සපයා ගන්න. එහි දී ඒවාට සොරු ළං නොවෙති, කාවෝ ද නාස්ති නොකරති.
>
> (ලූක් 12:33)

> ලෞකික සම්පත් ඇති කෙනෙක්, තම සහෝදරයාගේ අගහිඟකම දැක දැකත්, ඔහුට අනුකම්පා නොකරත් නම්, දෙවියන් වහන්සේගේ ප්‍රේමය ඔහු තුළ පවතින්නේ කෙසේ ද?
>
> (1 ජොහාන් 3:17)

මෙවැනි ශුද්ධ ලියවිලි පාඨ තුළින් පමණක් නොව පෞද්ගලික දේපළ පරිහරණය කළ යුතු ආකාරය පිළිබඳ ව දෙවි සමිඳුණන් වහන්සේ 7 සහ 10 පනත් මගින් ද අපට නියෝග කරයි.

## හත්වන පනත

**සොරකම් නොකරව.**
(නික්මයාම 20:15)

## දහවන පනත

**අන් වස්තු ආශා නොකරව**

තුඹේ අසල්වැසියාගේ ගෘහයට ........ හෝ ඔහුගේ සේවකයාට හෝ සේවිකාවට හෝ ඔහුගේ ගවයාට හෝ කොටළුවාට හෝ තුඹේ අසල්වැසියා සතු වෙනත් කිසිවකට හෝ ඇළුම් නොකරව.
(නික්මයාම 20:17)

### පෞද්ගලික දේපළ පිළිබඳ කතෝලික සභා ඉගැන්වීම්

පෞද්ගලික දේපළ පිළිබඳ කතෝලික සභාවේ ඉගැන්වීම් අනුව අනුන් සතු දේ අයුතු ලෙස ලබා ගැනීම හා ආශා කිරීම හත්වන හා දසවන දේව පනත්වලට විරුද්ධ ව අප කරන පාපි ක්‍රියාවන් වේ.

සැම කෙනෙකුට ම තමන්ගේත් තම පවුලේත් නඩත්තුව සඳහා සෑහෙන දේපළ කොටසක් හිමි කර ගන්නට අයිතියක් ඇත. දෙවියන් වහන්සේ විසින් මවන ලද සම්පත් සියල්ල ම සියලු දෙනාගේ පොදු යහපත සඳහා මවන ලද හෙයින්, ඒවා සියලු දෙනා අතර යුක්ති සහගතව හා සාධාරණ ව බෙදිය යුතු ය. තමන් සතු දේ භාවිත කිරීමේ දී ඒවා හුදෙක් තමන්ගේ ම යහපත සඳහා පමණක් ම නොව අන් අයගේ යහපත සඳහා වන බව මතක තබා ගත යුතු ය. දිළිඳු අයට ආධාර කිරීම මිනිසුන්ට නියම වන්නේ ය. එසේ කරන විට තමන් සතු වැඩිපුර දේපළ පමණක් නොව අවශ්‍ය දේපළ ද වැය කරන්නට සිදු වන්නේ ය.

(මහෝපදේශය 361)

අන් අයගේ දේපළ සුරැකීමේ අවශ්‍යතාව පිළිබඳ ව ද පහත සඳහන් ඉගැන්වීම කෙරෙහි අවධානය යොමු කරමු.

සොරුවත් කොල්ලකන්නෝවත් ලෝබියෝවත් බේබද්දෝවත් නින්ද කරන්නෝවත් ගසාකන්නෝවත් දෙවියන් වහන්සේගේ රාජ්‍යය උරුම කර නොගන්නෝ ය.

(1 කොරින්ති 6:10)

හත්වන හා දහවන පනත් අනුසාර කිරීම පිණිස අනුන්ගේ දේපළ පැහැර නොගන්නටත් සාධාරණ ණය ගෙවන්නටත් වෙළහෙළඳම්වල දී සාධාරණ වන්නටත් කම්කරුවනට නිසි වැටුප් ගෙවන්නටත් ලබන වැටුපට සරිලන සේවා කටයුතු ඉටු කරන්නටත් භාරගත් කොන්ත්‍රාත් එලෙස ඉටු කරන්නටත් අනුන්ගෙන් ලබා ගත් දේ හා අනුන් සතු දේ සම්බ වූ විට ආපසු බාර දෙන්නටත් වග බලා ගත යුතු ය.

(මහෝපදේශය 358)



20.1 රූපය - පාපයට සමාව යැදීම

"ජේසුස් වහන්සේ සකේවුස්ට ප්‍රශංසා කළේ, ඔහුගේ පොරොන්දුව නිසා යඃ "යමෙකුගෙන් අයුතු ලෙස යමක් ගෙන තිබේ නම්, ඔහුට සතර ගුණයක් ආපසු දෙමි" (ලූක් 19:8). අනුන් සතු වස්තුව සෘජු ව හෝ වංචනික ව හෝ තමා සතු කර ගත් අය, තමන් සතු කර ගත් එම වස්තූන්, ඒවායේ අයිතිකරුවන්ට නැවත භාර දීමට බැඳී සිටිති. එම භාණ්ඩ සෘජු ව ලබා දිය නොහැකි නම් ඊට සමාන භාණ්ඩ හෝ මුදල් ගෙවිය යුතු ය.

(කතෝලික සභා ධර්මෝපදේශය 2412)

දුප්පතුන්ට ප්‍රේම කිරීම පිළිබඳ ව හත හා දහය පනත් මගින් දෙවියන් වහන්සේ අපට නියෝග කරන සේක.

දිළිඳුන්ට දක්වන ආදරය ශුද්ධ වූ සභාවේ පාරම්පරික ලක්ෂණයකි. මේ ආදරය අප තුළට කාවද්ද ඇත්තේ කන්ද උඩ දේශනාවේ අඩංගු භාග්‍යයන් මගින් ද ක්‍රිස්තුන් වහන්සේගේ ම දිළිඳුකමෙන් හා ඔවුන් වහන්සේ දිළිඳුන්ට දක් වූ සැලකිල්ල මගිනි. අවශ්‍යතාවෙන් පෙළෙන්නන් හට උදව් උපකාර කිරීම ප්‍රේමයේ එක් අරමුණකි. ශුද්ධ වූ ජෝන් ක්‍රිසොස්තොම් තුමා ඉතා ම ප්‍රබල ලෙස මෙය අපට මතක් කර දෙයි. අපගේ වස්තූන්හි කිසි ම සහභාගිත්වයක් දිළිඳුන් සමග නොමැත්තේ නම්, ඒ වනාහි ඔවුන් සතු දේ සොරකම් කිරීමකි. ඔවුන්ගේ ජීවිත ඔවුන්ට අහිමි කිරීමකි. අප සතු වස්තුව අපගේ ම නොවේ. එය ඔවුන්ගේ ය. සැමට පෙර සාධාරණත්වයේ අභියෝගයන් සපුරාලිය යුතු ය.

(කතෝලික සභා ධර්මෝපදේශය 2444-2446)



20. 2 රූපය - දිළිඳුන්ට උපකාර කිරීම

මිනිසා දේපළ සඳහා නොවේ. දේපළ දෙවියන් වහන්සේ මිනිසාට ලබා දී ඇත්තේ මිනිසාට සේවය කිරීමට ය. පෞද්ගලික දේපළ නිවැරදි ව පරිහරණය කිරීම තුළින් අප තව තවත් දෙවියන් වහන්සේගේ ආශිර්වාදය ලබයි. ඒ නිසා ම අපගේ බාහිර දේපළ මෙන් ම බුද්ධිමය දේපළ ද අන් අය සමග බෙදා ගත යුතු ය.

> සොරකම් කළ අය තවත් සොරකම් නොකරත්වා. ඒ වෙනුවට දුගීන්ට උපකාර කළ හැකිවන සේ වෙහෙස මහන්සි දරා අවංක වැඩක් කරත්වා.
>
> එපීස 4:28

## හත හා දහය දේව පනත්වලට විරුද්ධ ක්‍රියා

- ★ සොරකම් කිරීම
- ★ වංචා සහගත ව අන් අය සතු දේ ලබා ගැනීම
- ★ අන් අයගේ දේපළ විනාශ කිරීම
- ★ අන් අයගේ දේපළ බලහත්කාරයෙන් ලබා ගැනීම
- ★ අනුන්ගේ කාලය නාස්ති කිරීම
- ★ ශ්‍රමයට සරිලන වැටුපක් නොගෙවීම, අඩු වැටුපකට වැඩ ගැනීම
- ★ තම රැකියාව නිසි ලෙස ඉටු නොකිරීම
- ★ අධික ලාභ, පොලී හා කොමිස් ලබා ගැනීම
- ★ පොදු දේපළ තමාගේ පෞද්ගලික භාවිතයට ගැනීම
- ★ වටිනා දේ අඩු මුදලට තක්සේරු කිරීම හා මිලදී ගැනීම
- ★ නොවටිනා හා බාල භාණ්ඩ වැඩි මිලට විකිණීම
- ★ අන් අයගේ තනතුරු නැති කර, තමන් ඒ තැනට පත්වීම
- ★ අන් අයගේ අයහපත ගැන සතුටු වීම
- ★ වංචනික ව ක්‍රීඩා කිරීම හා ජයග්‍රහණය ලබා ගැනීම
- ★ ප්‍රවේශ පත්‍ර නැති ව බස්රියේ, දුම්රියේ ගමන් කිරීම
- ★ ආදායම් බදු, වරිපනම් බදු, විදුලි හා දුරකතන බිල්පත් ආදිය නොගෙවීම
- ★ විභාග, උප්පැන්න හා චරිත සහතික අයථා ක්‍රමවලින් ලබා ගැනීම
- ★ පොදු දේපළ විනාශ කිරීම
- ★ කොපිකර, වංචාකර විභාග සමත් වීම
- ★ හොර ඡන්ද දැමීම
- ★ පොදු දුරකථන, වාහන, හා දේපළ පෞද්ගලික පරිහරණයට ගැනීම.

## ක්‍රියාකාරකම

1. පහත සඳහන් පාඨ ශුද්ධ බයිබලයෙන් පෙරළා, ඔබේ පොතේ ලියා, මෙනෙහි කරන්න.

    - 2 කොරින්ති 8:9
    - ද්විතීය නීති සංග්‍රහය 25:13-16
    - ජාකොබ් 5:4
    - ආමොස් 8:4-7

2. "දස පනතේ හත සහ දහය යන පනත් නිවැරදි ව ඉෂ්ඨ කිරීමට කිතුනු සිසුවකු වශයෙන් මම ක්‍රියාකාරි වෙමි" යන මැයෙන් ළමා ප්‍රදීපයට ලිපියක් නිර්මාණය කරන්න.



***ජීවිතය සඳහා***

*දිනපතා ඔබට ඇති පමණින් ලෞකික හෝ බුද්ධිමය දේපළ අන් අය සමග බෙදා ගන්න. සවස යැදුමේ දී එසේ කිරීමට හැකි වීම ගැන දෙවියන් වහන්සේට තුති පුදන්න.*

# 21 සත්‍යගරුක ව ජීවත් වෙමු



21.1 රූපය - පේදුරු අනනියස්ගෙන් ඉඩම විකිණීමෙන් ලද මුදල පිළිබඳ ව ප්‍රශ්න කිරීම



21.2 රූපය - අනනියස් මරණයට පත්වීම

අනනියස් නම් එක්තරා මිනිසෙක්, සපිරා නමැති තම භාර්යාව සමග ඉඩමක් විකුණා ඇය දැනුවත් ව මුදලෙන් කොටසක් තබා ගෙන, ඉතිරි කොටස ගෙනැවිත් ප්‍රේරිතයන්ගේ පා මුල තැබී ය. එවිට පේදුරු කතා කොට, "අනනියස්, ශුද්ධාත්මයාණන් වහන්සේ රවටා ඉඩමේ මුදලෙන් කොටසක් තබා ගන්නට සාතන් ඔබේ සිත පෙළෙඹෙව්වේ කෙසේ ද? විකුණන්නට පෙර ඉඩම ඔබට ම අයිති ව තිබුණා නොවේ ද? විකුණූ පසු මුදලත් ඔබගේ ම නොවේ ද? එසේ නම්, මේ ක්‍රියාව කිරීමට ඔබේ සිත පෙළඹුණේ කෙසේ ද? ඔබ රැවටුවේ මිනිසුන් නොව, දෙවියන් වහන්සේ ය"යි කී ය. අනනියස් ඒ වචන අසා මැරී වැටුණේ ය. ඒ ඇසූ සියල්ලෝ අතිශයින් බියපත් වූහ. තරුණයෝ අවුත් මළ මිනිය ඔතා, පිටතට ගෙන ගොස් වැළලූහ.



21.3 රූපය - සපිරා මරණයට පත්වීම

පැය තුනකට පමණ පසු, සිදු වූ දේ නොදන ඔහුගේ බිරිඳ එතැනට පිවිසියා ය. පේදුරු ඇය අමතා, "මට කියන්න, ඔබ ඉඩම විකුණා ලැබූ මුදල මෙපමණ ද"යි ඇසී ය. "එසේ ය, එපමණ ය"යි ඈ පිළිතුරු දුන්නා ය. එවිට පේදුරු ඇය අමතා, "ස්වාමීන්ගේ ආත්මයාණන් පරීක්ෂා කරන්නට ඔබ දෙපොල එකඟ වූයේ කෙසේ ද? අන්න, ඔබේ පුරුෂයා ගෙන ගොස් වැළලූ අය දොර ළඟ සිටිති. ඔව්හු ඔබ ද එලෙස ම ගෙන යන්නෝ ය"යි කී ය. ඈ එකෙණෙහි ම පේදුරුගේ පාමුල මැරී වැටුණා ය. තරුණයෝ ඇතුළු වී, ඇය මැරී සිටිනු දැක පිටතට ගෙන ගොස් පුරුෂයා ළඟ වැළලූහ" (ක්‍රියා 5:1-11).

### මේ ගැනත් සිතා බලන්න

සැම දෙනා ම රැවටිය හැකි බව අනනියස් සහ සපිරා සිතූහ. ශුද්ධාත්මයාණන් වහන්සේගේ බලය කරණ කොට ගෙන පේදුරු සත්‍යය දැනගත්තේ ය. ඔවුන්ගේ බොරුව පේදුරු තුමා එළිදරව් කළේ ය. දෙවියන් වහන්සේට බොරු කළ අයට භයානක විනිශ්චයක් පැමිණියේ ය. මෙය ද දුක්මුසු කතාවකි. ශුද්ධ වූ සභාවේ සාමාජිකයන් වූ මේ දෙදෙනා ශුද්ධාත්මයාණන් වහන්සේ ඉදිරියේ බොරු කරමින් ජනප්‍රිය වී, ප්‍රශංසා ලැබීමට කටයුතු කළා විය හැකි ය. ඔවුන්ට උවමනා කළේ ඔවුන් හොඳ බැතිමතුන් කියා අන්‍යයන් ලවා කියවා ගැනීමට විය හැකි ය.

බොරු කීම සුළු දෙයක් ලෙස පෙනුනත් එය මහා බරපතල වරදකි. අනනියස් සහ සපිරා කෛරාටික කමේ පාපයට වැටී තිබුණි. මේ වචනයට ඇති මුල් ග්‍රීක වචනයේ අර්ථය "වෙස් මූණක් දමාගෙන නාට්‍යයක රඟපෑම" යනු යි. කෛරාටිකයෙක් සැබෑ තත්ත්වය සඟවා රඟපෑමක් කරයි. දෙවියන් වහන්සේ සත්‍යය නිසා, ඔවුන් වහන්සේගේ දරුවන් ද සැබෑ අවංක අය ලෙස ලෝකය ඉදිරියේ ජීවත් වීම ඔවුන් වහන්සේගේ නියමය වේ.

> "නුඹේ අසල්වැසියාට විරුද්ධ ව බොරු සාක්ෂි නොකියව"
>
> (නික්මයාම 20:16)

### සත්‍යය තුළ ජීවත් වීම

> දෙවි මහෝත්තමයාණන් වහන්සේ සියලු සත්‍යයේ උල්පත වන සේක. ඔවුන් වහන්සේගේ වචනය පරම සත්‍යය වේ. ඔවුන් වහන්සේගේ නීතිය පරම සත්‍යය වේ. ඔවුන් වහන්සේගේ විශ්වාසවන්තකම පරපුරෙන් පරපුරට පවතින්නේ ය. ඔවුන් වහන්සේ සත්‍යය වන බැවින් දේව ජනතාව සත්‍යය තුළ ජීවත් වීමට කැඳවා ඇත්තේ ය.
>
> (කතෝලික සභා ධර්මෝපදේශය 2465)

අට වන දේව පනතින් නියම වන්නේ, සත්‍යවාදී වීමේ හා සත්‍යයට සාක්ෂි දැරීමේ ඇති අවශ්‍යතාව යි. සත්‍යය තුළ ජීවත්වීමේ දී හෘදය සාක්ෂියට කතා කිරීමට නිතර ම ඉඩදිය යුතු ය.

දෙවියන් වහන්සේගේ පරම සත්‍යයේ පූර්ණත්වය ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ තුළ විද්‍යාමාන විය. ඔවුන් වහන්සේ දේව වරප්‍රසාදයෙන් ද සත්‍යයෙන් ද පූර්ණ ව සත්‍යය තුළ ජීවත් වූ සේක. ඔවුන් වහන්සේ ව අදහාගත් අයට සත්‍යය ප්‍රකාශ කරමින්, සත්‍යය කරා ගෙන ගිය සේක. ජේසුස් වහන්සේගේ වචන පිළිගෙන, ඒ අනුව ජීවිතය ගොඩනගා ගතහොත්, අපි ද ඔවුන් වහන්සේගේ ශ්‍රාවකයෝ වන්නෙමු. සත්‍යවාදී බව ක්‍රියාවෙන් හා වචනයෙන් පෙන්වීමට කටයුතු කළ යුතු ය. කිසි විටෙක සත්‍යය සඟවා, අසත්‍යය ප්‍රකාශ නොකළ යුතු ය. සමාජය තුළ ජීවත්වීමේ දී සත්‍යවාදී වී විශ්වාසවන්ත ව කටයුතු කළ යුතු ය.

(කතෝලික සභා ධර්මෝපදේශය 2466-2470)

## සත්‍යයට සාක්ෂි දැරීම

ජේසුස් වහන්සේ තම ජීවිතය තුළින් සත්‍යයට සාක්ෂි දැරූ සේක.

එවිට පිලාත්, "එසේ නම්, නුඹ රජෙක් දැ"යි ඔවුන් වහන්සේගෙන් ඇසී ය. ජේසුස් වහන්සේ පිළිතුරු දෙමින් "මම රජෙක් යයි ඔබ ම කියන්නෙහි ය. මා උපන්නේත්, ලොව පහළ වූයේත්, සත්‍යයට සාක්ෂි දරන පිණිස ය; සත්‍යයෙහි පිහිටි සියල්ලෝ මාගේ හඬ අසති"යි වදාළ සේක.

(ජොහන් 18/37)

අප ජේසුස් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරීම සඳහා ඉදිරිපත් වීමට ලැජ්ජා නොවිය යුතු ය. සත්‍ය විශ්වාසය තහවුරු කිරීමේ අවස්ථාවල දී කිසි ම පැකිලීමකින් තොර ව ඒ සඳහා ඉදිරිපත් වීම කතෝලික අපගේ යුතුකමකි. ශුද්ධ ලියවිල්ල හා අනුබද්ධිත වගකීම් සම්භාරයට ශුද්ධ වූ සභාව තුළින් සාක්ෂි දැරීම කතෝලික සැදැහැවතුන්ගේ යුතුකමකි. මෙම සාක්ෂි දැරීම වචනයෙන් හා ක්‍රියාවෙන් විශ්වාසය දයාද කිරීමකි. ප්‍රාණපරිත්‍යාගී වීම විශ්වාසයේ සත්‍යතා සඳහා දෙනු ලබන උතුම් ම සාක්ෂිය වේ. ඉතිහාසය තුළ ප්‍රාණපරිත්‍යාගීවරු විශ්වාසයේ සත්‍යතාවන්ට මෙන් ම ක්‍රිස්තියානි ඉගැන්වීම්වලට ද සාක්ෂි දරමින් තම ජීවිත පූජා කළහ.

(කතෝලික සභා ධර්මෝපදේශය 2471-2474)

### අටවන දේව පනතට විරුද්ධ පාපයන්

- ★ බොරු කීම
- ★ කේලාම් කීම
- ★ කටකථා පැතිරවීම
- ★ ද්වේශය, රැවටිල්ල, වංචාව, වංකකම, ඊර්ෂ්‍යාව හා නින්දා අපහාස කිරීම
- ★ නිල රහස් එළි කිරීම
- ★ සත්‍යය දැක නොදුටු සේ සිටීම
- ★ තම වරද අන් අය පිට පැටවීම
- ★ තම ලාභය උදෙසා පමණක් කටයුතු කිරීම
- ★ දෙමාපියන්, ගුරුවරුන්, ආයතන ප්‍රධානීන් හා සේවකයන් රැවටීම
- ★ තම තත්ත්වය/ගෞරවය රැක ගැනීමට අන් අය පාවා දීම
- ★ අසත්‍ය තොරතුරු ප්‍රචාරය කිරීම
- ★ බොරු පොරොන්දු දීම
- ★ අනුන් නොමඟ යවන කථා කීම
- ★ පාපොච්චාරණයේ දී වැරදි සැඟවීම
- ★ වැරදි දේ ඉගැන්වීම, අන් අය මුලා කිරීම
- ★ අසත්‍ය තොරතුරු පවසා පුද්ගලයෙකුගේ චරිතය ඝාතනය කිරීම
- ★ ඉච්ඡාබස්, ව්‍යාජ පාරට්ටු කිරීම්, ඉවක් බවක් නැති ප්‍රශංසා කිරීම
- ★ සීමාව ඉක්මවා ගිය බොරු පුරසාරම් හා පුරාජේරුව
- ★ අනුන්ගේ දියුණුවට අකුල් හෙළීම.

## රහස් රැකීමේ අවශ්‍යතාව

දේශපාලනඥයන්, රාජ්‍ය සේවකයන්, සොල්දාදුවන්, නීතිඥයන් හා වෛද්‍යවරුන් තම රැකියාව හා සම්බන්ධ වෘත්තීමය රහස් රැකීමට බැඳී සිටිති. මන්ද යත් ඔවුන්ට ඇතැම් තොරතුරු ලබා දී ඇත්තේ ඒවායේ රහස්‍යභාව රැකීමේ පොරොන්දුව මත ය. එම තොරතුරු අනාවරණය කිරීමෙන් පහත සඳහන් පුද්ගලයන්ට අගතියක් සිදු විය හැකි ය.

- තොරතුරු ලබා දුන් පුද්ගලයාට
- තොරතුරුවල රහස්‍යභාවය රකින්නාට (තමාට)
- වෙනත් අයට

ඉහත සඳහන් කිසි ම පුද්ගලයකුට අගතියක් සිදු නොවන්නේ නම්, රහස් හෙළි කිරීම වරදක් නොවේ. එහෙත් එය කළ යුත්තේ ඉතා ම ප්‍රවේශමෙන් හා බුද්ධිමත්ව ය. තව ද එවැන්නක් කිරීමට සාධාරණ හේතු ද තිබිය යුතු ය (කතෝලික සභා ධර්මෝපදේශය 2491).

## ක්‍රියාකාරකම

1. අනනියස් හා සපිරා සිද්ධියෙන් ඔබට ලැබෙන පණිවිඩ **තුනක්** ලියන්න.
2. අටවන දේව පනතට අනුව කළ හා නොකළ යුතු දේ වෙන වෙන ම වර්ග ගත කරන්න.
3. ඔබ සත්‍යයට සාක්ෂි දැරූ අවස්ථාවක් ලියන්න.
4. පහත සඳහන් සැලැස්මට අනුව "සත්‍ය ගරුක ව ජීවත් වෙමු" යන මාතෘකාව යටතේ වචන 200ක පමණ රචනයක් ලියන්න.
    - (අ) සත්‍යය තුළ ජීවත්වීම
    - (ආ) රහස් රැකීමේ අවශ්‍යතාවය
    - (ඇ) අටවන දේව පනතට විරුද්ධ පාප

*ජීවිතය සඳහා*

*පවුල තුළ එකිනෙකාට අවංක වෙමින් සත්‍ය ගරුක ව ජීවත් වන්න.*

# 22 ජනවන්දනා වර්ෂය (දේව වන්දනා වර්ෂය)

ජනවන්දනාව සඳහා යෙදෙන ඉංග්‍රීසි වචනය වන LITURGY යන්න **ලිටුර්ජියා** (LEITOURGIA) යන ග්‍රීක වචනයෙන් බිඳී එන්නකි. එම වචනය **ලාඕස්** (LAOS) සහ **එර්ගොන්** (ERGON) යන වචනවලින් සැදුනකි. ලාඕස් යනු ජනතාව යි. එර්ගොන් යනු වැටුපක් නොලබා කරන සේවයකි; ප්‍රසිද්ධ වැඩකි. ඒ අනුව ලිටුර්ජියා යනු ජනතාව වෙනුවෙන්, ජනතාව උදෙසා වැටුපක් නොලබා කරන සේවයකි. එකල පැවති ප්‍රසිද්ධ මංගල්‍යයන් හා අනිවාර්ය රාජ්‍ය සේවාවන් ලිටුර්ජියා ලෙස සැලකිණි. මෙය ආගමික දෘෂ්ටි කෝණයකින් බැලූ කල, එය දෙවියන්ට කරන වන්දනාවකි.

අතිඋතුම් XII වන පියුස් ශුද්ධෝත්තම පියතුමාගේ "දෙවියන් වහන්සේගේ මධ්‍යස්ථකයාණෝ" යන විශ්ව ලේඛනයේ අංක 20හි ජනවන්දනාව අර්ථ දක්වන්නේ මෙසේ ය;

ජනවන්දනාව ක්‍රිස්තුන් වහන්සේගේ පූජක කාර්ය ඉදිරියට ගෙන යන බවත් ජන වන්දනාවට ක්‍රිස්තුන් වහන්සේගේ ක්‍රිස්තු දේහය ඔවුන් වහන්සේ තුළින් පියාණන් වහන්සේට පුදන ප්‍රසිද්ධ වන්දනාව බවත් ය

(දෙවියන් වහන්සේගේ මධ්‍යස්ථකයාණෝ - විශ්ව ලේඛනය අංක 20)

දෙවන වතිකාන මන්ත්‍රණ සභාවේ **ජනවන්දනාව පිළිබඳ ව්‍යවස්ථාවේ අංක** 7හි ජනවන්දනාව මෙසේ විස්තර කරයි.

අති ඉන්ද්‍රිය ක්‍රිස්තු දේහයේ හිස වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේත් එහි අවයව වන ශුද්ධ වූ සභාවත් දෙවියන් වහන්සේට කරන ප්‍රසිද්ධ පූර්ණ වන්දනාව ජනවන්දනාව වේ. ඒ නිසා එම වන්දනාව සභාවේ අති උතුම් ම කාර්ය වේ.

**ජනවන්දනාවේ ප්‍රධාන අංග 3කි.**

1 දිව්‍ය පූජාව
2 දේව ප්‍රසාද නිධාන
3 යාම යැදුම

ක්‍රිස්තුන් වහන්සේගේ පාස්කු අභිරහස සහ ගැලවීමේ කාර්ය සදාතනික ව සිහිපත් කිරීම සඳහාත් එය සැබැවින් ම ජීවත් කරවීම සඳහාත් ජනවන්දනා වර්ෂය දේව ජනතාවට උපකාරී වේ. සාමාන්‍ය වර්ෂයක් මෙන් ජනවන්දනා වර්ෂයත් සති 52කින් සමන්විත වේ.

ඉරුදින ජනවන්දනා වසර පළමු, දෙවන හා තෙවන යනුවෙන් වසර තුනකි. එම වසර තුනේ දී දිව්‍ය පූජාව තුළ සුබාරංචි භාවිත වන්නේ මෙසේ ය;

පළමු වසර - ශු. මතෙව් සුබාරංචිය
දෙවන වසර - ශු. මාක් සුබාරංචිය
තෙවන වසර - ශු. ලූක් සුබාරංචිය

ශුද්ධවර ජොහන් සුබාරංචිය චතාරික හා පාස්කු සමයේ දී ද කියවනු ලැබේ. ජනවන්දනාව තුළ සතියේ වැදගත් ම දිනය ඉරුදින යි. එදින පාස්කු අභිරහස සමරනු ලබයි.

## ජනවන්දනා වසරේ (දේව වන්දනා වසරේ) විවිධ කාල වකවානු (සමයයන්)



# ජනවන්දනා වසරේ (දේව වන්දනා වසරේ) මංගල්‍යයන්



## ආගමන සමය

"ආගමනය" යනු පැමිණීම යි. එනම්, ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ පැමිණීමයි. මේ අනුව ආගමන සමය බලාපොරොත්තුවේ කාලයකි. ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ආගමනය සඳහා සැබෑ ජීවිත පෙරළියක් අත්දකින්නට අපට ආරාධනා කරයි.

**ආගමන සමයේ ප්‍රධාන කොටස් දෙකකි.**

1. නොවැම්බර් 27 සිට දෙසැම්බර් 3 අතර පැමිණෙන ආගමන සමයේ පළමු ඉරුදින සිට දෙසැම්බර් 16 දක්වා කාලය තුළ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දෙවන පැමිණීමට හෙවත් පරුසියාවට (PAROUSIA) සුදානම් වෙයි.
2. දෙසැම්බර් 17 සිට 24 දක්වා කාලය තුළ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ඓතිහාසික ආගමනය හෙවත් පළමු පැමිණීම සැමරීමට සූදානම් වෙයි.

නිල වශයෙන් ජනවන්දනා වර්ෂය (දේව වන්දනා වර්ෂය) ආරම්භ වන්නේ, ආගමන කාලයේ පළමුවන ඉරුදිනෙනි.

**ආගමන සමය තුළ සමරන වැදගත් මංගල්‍යයන්**

දෙසැම්බර් 08 - මරිය තුමිය ජම්ම දෝෂයෙන් නිර්දෝෂව පිළිසිඳ ගැනීමේ මංගලෝත්සවය (දෙසැම්බර් 08 ඉරුදිනයක් නම් මෙම මංගල්‍යය පැවැත්වෙන්නේ, දෙසැම්බර් 09වන සඳුදා ය. මෙය ණය මංගල්‍යයකි.)

## නත්තල් සමය

ක්‍රිස්තෝත්පත්ති මංගලෝත්සවයේ සිට ජේසුස් වහන්සේගේ ප්‍රසාද ස්නාපන මංගල්‍යය දක්වා වේ. මෙම කාලයේ දී ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ උපත හා බිළිඳු වියෙහි ප්‍රධාන සිදුවීම් පාස්කු අභිරහසට සම්බන්ධ වන ආකාරය සිහිපත් කරයි.

### නත්තල් සමය තුළ සමරන වැදගත් මංගල්‍යයන්

- දෙසැම්බර් 25 - ක්‍රිස්තෝත්පත්ති මංගලෝත්සවය
- දෙසැම්බර් 25න් පසු ව එන ඉරිදා - ශුද්ධ වූ පවුලේ මංගලෝත්සවය
- ජනවාරි 01 - පරිශුද්ධ දේවමාතාවන් වන මරියෝත්තමාවන්ගේ මංගලෝත්සවය
- ජනවාරි 2ක් 8ත් අතර යෙදෙන ඉරිදා - දිව්‍ය බිළිදාණන් රජුන්ට ප්‍රත්‍යක්ෂවීමේ මංගලෝත්සවය

## චතාරික සමය

අළු බදාදා සිට මහා බ්‍රහස්ප්‍රතින්දා දක්වා විහිදෙන චතාරික සමය විවිධ ලෙස අර්ථකථනය කරනු ලැබ ඇත.

- ප්‍රසිද්ධ ජීවිතය අරඹන්නට පෙර ජේසුස් වහන්සේ පාළුකරයේ ගත කළ යාච්ඤාවේ හා මර්ධනාවේ ජීවිතයට සමවැදෙන කාලයකි.

- පසුතැවිල්ලේ, ආත්ම පරිත්‍යාගයේ හා ජීවිත වෙනසක් ඇති කර ගැනීමේ කාලය යි.
- අපගේ ප්‍රසාද ස්නාපනීය ජීවිතය නවතාවයකට පත්කරන කාලයකි. එනම් පාපයට මැරී නව ජීවිතයකට උපත ලැබීමේ කාලයකි.
- ලෞකික ආශාවන්ට, ආත්මාර්ථයට මැරී, දෙවිඳුන් තුළ නිදහස් දරුවන් මෙන් ජීවත්වීමේ කාලයකි.

මර්ධන ක්‍රියා කිරීම, දාන ධර්ම දීම, අසරණයන්ට පිහිට වීම, සමාව දීම, ශුද්ධ වූ පැය හා පාදනමස්කාරය වැනි භක්ති අභ්‍යාසවල නිරතවීමට සාන්ත සභා මාතාව අපට ඇරයුම් කරයි. වැඩිහිටි ප්‍රසාද ස්නාපනය ලැබීමට අපේක්ෂාවෙන් සිටින්නන් ව සූදානම් කරන අවසාන කාලය වන්නේ ද චතාරික සමය යි. මෙම කාලය තුළ දී "ආලේලූයියා" "ග්ලෝරියා" (සුරදූත ගීය) ගායනා නොකරේ.

## ශුද්ධ වූ සතිය

ශුද්ධ වූ සතියට ගොබ් ඉරිදා සිට පාස්කු ඉරිදා දක්වා කාලය අයත් වේ.

ශුද්ධ වූ සතියේ ප්‍රධාන ජනවන්දනා දිනයන්

- ගොබ් ඉරුදින ⟶ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ රාජ තේජසින් ජෙරුසලමට ඇතුළු වීම සිහිපත් කරයි.
- මහා බ්‍රහස්ප්‍රතින්දා ⟶ තෛලාභිශිර්වාදිත දිව්‍ය පූජා මෙහෙය හා ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ අන්තිම රාත්‍රී භෝජනය (බොදුන් මඟුල) සමරන සන්ධ්‍යා පූජා මෙහෙය පවත්වයි. ප්‍රායෝගික හේතුන් මත තෛලාභිශිර්වාදිත දිව්‍ය පූජාව ශු. සතියේ සඳුදා හෝ අඟහරුවාදා පැවැත්වේ)
- මහා සිකුරාදා ⟶ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දුක්ප්‍රාප්තිය සහ උකුත්වීම සිහිපත් කරයි.
- ආලේලූයියා සෙනසුරාදා ⟶ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ විජයග්‍රාහී උත්ථානය සමරන පාස්කු පූර්ව රාත්‍රී මෙහෙය පවත්වයි.

මහා බ්‍රහස්පතින්ද, මහා සිකුරාදා සහ ආලේලූයියා සෙනසුරාදා ශුද්ධ වූ දින තුන ලෙස හඳුන්වයි.

## පාස්කු සමය

පාස්කු සමය පාස්කු ඉරිදයින් ආරම්භ වේ. පාස්කු ඉරිදා ක්‍රිස්තෝත්ථාන මංගල මහෝත්සවය පවත්වන අතර එය ජනවන්දනා වසරේ ප්‍රධානතම හා ප්‍රථම මංගලෝත්සවය වේ. පාස්කු සමය උත්ථාන සමය ලෙස ද හඳුන්වයි.

පාස්කු ඉරිදායින් දින 40කට පසු ව ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ස්වර්ගාරෝහන මංගලෝත්සවය පවත්වයි. ස්වර්ගාරෝහන මංගලෝත්සවයෙන් දින 10කට පසු ව ශුද්ධාත්ම ආගමන මංගලෝත්සවය (පෙන්තකොස්ත මංගල්‍යය) පවත්වයි. පෙන්තකොස්ත මංගල්‍යයෙන් පාස්කු සමය නිම වේ.

උත්ථාන සමය තුළ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ උත්ථානය, ඔවුන් වහන්සේගේ දර්ශනය වීම්, ඔවුන් වහන්සේගේ ස්වර්ගාරෝහනය හා පෙන්තකොස්තය (ශුද්ධාත්ම ආගමනය) සිහිපත් කරයි.

## සාමාන්‍ය සමය

සාමාන්‍ය සමය ඉරු දින 34කින් යුක්ත ය. ජනවන්දනා වසර (දේව වන්දනා වසර) තුළ සාමාන්‍ය සමය අදියර දෙකකින් සමන්විත ය.

### සාමාන්‍ය සමය පළමු අදියර

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ප්‍රසාද ස්නාපන මංගල්‍යයට පසුදින සමරන ඉරුදින සිට අළු බදාදාට පෙර දින දක්වා පළමු අදියරට අයත් වේ.

### සාමාන්‍ය සමය දෙවන අදියර

ශුද්ධාත්ම මංගලෝත්සවය සමරන ඉරුදින ට පසු දින සිට ආගමන සමයේ පළමු ඉරුදින ට පෙර දින දක්වා දෙවන අදියරට අයත් වේ.

මෙම කාලය තුළ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ප්‍රසිද්ධ ජීවිතය, ඔවුන් වහන්සේ සිදු කළ ප්‍රාතිහාර්ය හා දේශනා සිහිපත් කරයි. විශේෂයෙන් සාමාන්‍ය සමය තුළ දී කිතුනු ජනතාව ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ තුළ තමන්ට අත්වුණ ගැලවීම මෙනෙහි කරයි. මෙම සමය තුළ දේව මෑණියන්ගේ සහ සාන්තුවරයන්ගේ මංගල්‍යයන් පවත්වනු ලබයි.

සාමාන්‍ය සමය තුළ සමරන වැදගත් මංගල්‍යයන්

- ශුද්ධ වූ ත්‍රීත්වයේ මංගලෝත්සවය
- දිව්‍ය සත්ප්‍රසාද මංගලෝත්සවය
- දිව්‍ය හෘදයේ මංගලෝත්සවය
- සියලු සාන්තුවරයන්ගේ මංගලෝත්සවය (නොවැම්බර් 01)
- මළවුන් සිහිපත් කරන දිනය (නොවැම්බර් 02)
- ක්‍රිස්තු රාජාණන්ගේ මංගලෝත්සවය
- ශ්‍රී ලංකා අප ස්වාමිදූගේ මංගලෝත්සවය (පෙබරවාරි 04)

| වර්ණය | සමය | අර්ථය | භාවිත කරන දින |
|---|---|---|---|
| සුදු | නත්තල් සමය සහ උත්ථාන සමය | ශුද්ධවත් බවේ ද මහිමාන්විත බවේ ද ආනන්දයේ ද අරුත ගෙන දෙයි. | ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දේව මාතාවන්ගේ හා ශුද්ධවරයන්ගේ මංගල්‍යයවල දී |
| රතු | | ප්‍රාණපරිත්‍යාගි බව හෙවත් ඇදහිල්ලට සාක්ෂි දැරීම, ගින්නෙහි-රුධිරයෙහි අරුත ගෙන දෙයි. | ශුද්ධාත්මයාණන්ගේ මංගල්‍යය ප්‍රාණපරිත්‍යාගිවරුන්ගේ මංගල්‍ය දිනවල, ගොබ් ඉරු දින, මහා සිකුරාදා |
| කොළ | සාමාන්‍ය සමය | බලාපොරොත්තුව, නව ජීවනය සහ වර්ධනය යන අරුත ගෙන දෙයි. | ආගමන හා චතාරික කාලයෙන් බැහැරව ද විශේෂ මංගල්‍යයක් නොමැති සතියේ දිනවල හා ඉරුදිනවල දී |
| දම් | ආගමන සමය සහ චතාරික සමය | පශ්චත්තාපය සහ බලාපොරොත්තුවේ ලකුණකි. | ආගමන කාලයේ හා චතාරික කාලයෙහි දී ද මළවුන් සඳහා පූජාවන් පවත්වන විට දී ද භාවිත කරයි. |

## ක්‍රියාකාරකම

1. ජනවන්දනාව පිළිබඳ ව්‍යවස්ථාවේ අංක 7 අනුව ජනවන්දනාව අර්ථ දක්වන්න.
2. පහත සඳහන් ව්‍යුහය යටතේ "ජනවන්දනා වර්ෂය" (දේව වන්දනා වර්ෂය) පිළිබඳ ව පොත් පිංචක් සකස් කරන්න.
   - i හැඳින්වීම {ජනවන්දනා වර්ෂය (දේව වන්දනා වර්ෂය) පිළිබඳ ව}
   - ii ජනවන්දනා (දේව වන්දනා) වර්ෂයේ එක් එක් සමයයන්
   - iii එක් එක් සමයයට අයිති වර්ණයන් හා ඒවායේ අර්ථයන්
   - iv එක් එක් සමයයේ සුවිශේෂී වූ මංගල්‍යයන්
   - v ඔබේ මීසම් පවුලේ මංගල්‍යය
3. ආගමන සමය තුළින් ඔබගේ ජීවිතයට අවධාරණය කරන පණිවුඩ **දෙකක්** ලියන්න.
4. ඔබ මීසම තුළ ජනවන්දනා (දේව වන්දනා) මෙහෙයන් අර්ථවත් කර ගැනීමට කළ හැකි යෝජනා **පහක්** ලියන්න.

*ජීවිතය සඳහා*

*පවුලක් ලෙස ජනවන්දනා වර්ෂයේ ඇති මංගල්‍යයන් සඳහා අර්ථවත් ව සහභාගී වන්න.*

# 23 දිව්‍ය පූජාව

යමු යමු යමු අපි මැදුරට සමිඳුන්
පැවසූ සඳ ඔහු මා අමතා
මගේ හිසින් ගත් ඔවුන්ගෙ එබසින්
මගෙ හදවත පිපුණා
මගෙ හදවත පිපුණා

අපි දැන් එහි වමු ඔබ පා සෙවණේ
ඔබගේ වාසල් දෙරටු තුළේ

සැරදේ ජෙරුසලමේ
සැරදේ ජෙරුසලමේ

(කිතුනු ගී අංක 5)

**මෙනෙහි කර බලන්න**

1. මෙම ගීතිකාව තුළින් කුමක් කිරීමට ඔබට ආරාධනා කරන්නේ ද?
2. කවර අවස්ථාවක දී මෙම ගීතිකාව ගායනා කිරීම වඩාත් සුදුසු වන්නේ ද?
3 ශුද්ධ බයිබලයේ ගීතාවලියේ 122වන ගීතය කියවා මෙනෙහි කරන්න.
4. ගීතාවලිය 122වන ගීතයෙන් ඔබට ලැබෙන පණිවිඩය කුමක් ද?

කතෝලික අපට දිව්‍ය පූජාව තරම් වරප්‍රසාද ගලා එන උල්පතක් තවත් නැත. දේව වන්දනාවේ උතුම් ම පිළිවෙත දිව්‍ය පූජාව යි. එබැවින් එහි ශුද්ධත්වය, ගරුත්වය, නිරවද්‍ය බව, ගාම්භීර බව යනාදිය සුරැකීමට අපි බැඳී සිටිමු.

දිව්‍ය පූජාව තුළ ක්‍රිස්තුන් වහන්සේගේ පාස්කු අභිරහස පූර්ණ වශයෙන් සමරයි. සැම ඉරුදිනක ම හා ණය මංගල්‍ය දිනක ම නොවරදවා ම දිව්‍ය පූජාවට සහභාගි විය යුතු ය. පවුලක් ලෙස මුළු දිව්‍ය පූජාවට ම සහභාගි වීම වැදගත් වේ.

දිව්‍ය පූජාවේ ප්‍රධාන කොටස් 2කි.

1. දේව වාක්‍යය පිළිවෙත
2. ස්තෝත්‍ර යාගික පිළිවෙත

## දිව්‍ය පූජාවේ පිළිවෙත්

1. ආරම්භක පිළිවෙත
2. දේව වාක්‍යය පිළිවෙත
3. පුදසුන සූදනම් කිරීමේ පිළිවෙත
4. ස්තෝත්‍ර යාගික පිළිවෙත
5. ධර්මදූත කාර්ය සඳහා පිටත් කර යැවීමේ පිළිවෙත

### 1. ආරම්භක පිළිවෙත

i. ඇතුළුවීමේ ගීතිකාව
ii. ආචාරය
iii. හැඳින්වීම
iv. පශ්චත්තාපිත පිළිවෙත
v ස්වාමිනී කරුණා කළ මැනව
vi. සුරදූත ගීය
vii. පොදු යැදුම

**i. ඇතුළුවීමේ ගීතිකාව**



23.1 රූපය - දිව්‍ය පූජාවේ ඇතුළුවීමේ පෙරහැර

දිව්‍ය පූජාව ආරම්භ වන්නේ, ඇතුළුවීමේ ගීතිකාවෙනි. එම අවස්ථාවේ දී ඇතුළුවීමේ පෙරහැර ගමන් කරයි. එයින් දේව ජනතාව වන්දනා ගමනක යෙදෙන බව සිහිපත් කරයි. සුවඳ දුම්, ශ්‍රී කුරුසිය, ශ්‍රී කුරුසියට දෙපසින් ඉටි පහන් ද රැගත් පූජා සහායකයෝ පෙරහැරේ ඉදිරියෙන් ම ගමන් කරති. අනතුරු ව දිව්‍ය පූජාවේ විවිධ සේවාවන් කරන අය

සෙසු පූජා සහායකයන් හා ශ්‍රී සුබාරංචි පාඨ සංග්‍රහය රැගෙන යන්නා ද ගමන් කරති. ඊටත් පිටුපසින් මුලසුන හොබවන පියතුමා ගමන් කරයි. ඇතුළුවීමේ ගීතිකාව ගායනා කිරීමෙන් දේව ජනතාවගේ එකමුතුකම ප්‍රකාශ වේ. ඇතුළුවීමේ පෙරහැරට ගමන් කිරීමටත් ඇතැම් විට දේව වන්දනා වසරේ සැමරුම් හඳුන්වා දීමටත් ඇතුළුවීමේ ගීතිකාව ගායනා කරනු ලැබේ. පෙරහැරේ ගමන් කරන සියලු දෙනා පූජාසනය ඉදිරිපිට දණ නමා හෝ ගැඹුරු ශීර්ෂ ප්‍රණාමයෙන් ගෞරවාචාර දක්වනු ලැබේ.

දිව්‍ය පූජාව තුළ ආරම්භයේ දක්නට ලැබෙන ගෞරවයේ සංකේතඃ

1. නමස්කාරය
2. පූජාසනය සිපාචාරය
3. සුවඳ දුම්
4. දල්වන ලද පහන්

ii. **ආචාරය**

කුරුසියේ ලකුණින් පසු පියතුමා සැදැහැවතුන්ට ආචාර කරයි.

iii. **හැඳින්වීම**

එය දිව්‍ය පූජාවේ ධාර්මික ප්‍රවේශය ලබා දෙන අතර එදිනට ආවේනික සැමරුම වෙත ජනතාව යොමු කරවයි. දේව වන්දනා වසරේ කාලය, දේව වාක්‍ය පිළිවෙතේ තේමාව හා විශේෂ යමක් ඇත්නම් මෙහි දී ඉතා කෙටියෙන් ප්‍රකාශ කරයි.

iv. **පශ්චත්තාපිත පිළිවෙත**

පශ්චාත්තාපික පිළිවෙත තුන් ආකාරයකට කළ හැකි ය.

- පශ්චත්තාපිත යැදුම (සියලු බලැති දෙවියන් වහන්සේට ද.........)
- ක්‍රිස්තු කේන්ද්‍රීය ප්‍රාර්ථනාව (....ස්වාමීනි කරුණා කළ මැනව, ........)
- ආසිරි පැන් පිළිවෙත (පශ්චත්තාපික ගීයක් ගායනා කරන අතර තුර)

v. **ස්වාමිනී කරුණා කළ මැනව (කීරියේ)**

vi. **සුරදූත ගීය (ග්ලෝරියා)**

මංගල්‍යය හා ඉරිදා දිනවල දී මෙය ගායනා කෙරේ. චතාරික හා ආගමන කාලය තුළ සුරදූත ගීය ගායනා නොකර යි.

vii **පොදු යැදුම (ආරම්භක යැදුම)**

මුලසුනේ පළමු යැදුම මෙය යි. මෙය පොදු යැයි පවසන්නේ, ජනතාවගේ සියලු යැදුම් අදහස් එකතු කරන නිසා ය. සංසයේ මූලිකයා ලෙස පියතුමා පොදු යැදුම දෙවියන් වහන්සේට ඔප්පු කරයි.

## 2. දේව වාක්‍යය පිළිවෙත



23.2 රූපය - සුවිශේෂ ප්‍රකාශය

දේව වාක්‍යය පිළිවෙතේ කොටස්

i. පළමු දේව ප්‍රකාශය ⟶ දේව වචනයට සවන් දෙමු
ii. පිළිතුරු ගීය ⟶ දේව වචනයෙන් පිළිතුරු දෙමු
iii දෙවන දේව ප්‍රකාශය ⟶ දේව වචනයට සවන් දෙමු
iv. සාධුකාරය ⟶ ක්‍රිස්තුන් වහන්සේ ව ප්‍රශංසනාත්මක ව පිළිගනිමු
v. සුබාරංචි ප්‍රකාශය ⟶ ක්‍රිස්තුන් වහන්සේ ට සවන් දෙමු
vi. ධර්මානුශාසනාව ⟶ දේව වචනය ජීවිතයට අදාළ කර ගනිමු
vii. විශ්වාස ලක්ෂණය ⟶ අපේ විශ්වාසය ප්‍රකාශ කරමු
viii. විශ්වාසකයින්ගේ යැදුම් ⟶ අවශ්‍යතා වෙනුවෙන් යදිමු

## 3. පුදසුන සුදානම් කිරීමේ පිළිවෙත



23.3 රූපය - පුදසුන සූදනම් කිරීම

මෙම පිළිවෙත ඇරඹෙන්නේ පඬුරු පෙරහැරෙනි. පඬුරු පිදීමේ පරමාර්ථ 3කි.

1. පූජ සහ මිදියුස ගෙන ඒම
2. දුගී දුප්පත් අයට දිය හැකි පඬුරු ගෙන ඒම
3. ශුද්ධ වූ සභාවේ නඩත්තුව සඳහා පඬුරු පිදීම

මුදල් සම්මාදම් පඬුරු පෙරහැරේ කොටසකි. පඬුරු පෙරහැරේ දී සංකේතාත්මක පඬුරු රැගෙන එන්නේ නැත. එය නිරර්ථක ය. රැගෙන එන පඬුරු කිසිසේත් ම විස්තර කරන්නේ ද නැත. ගෙනෙන පඬුරුවලින් පූදසුන මත තබන්නේ පූප සහ මිදියුස පමණි.

පූදසුන සූදානම් කිරීමේ පිළිවෙතට අයත් අනුකොටස් 2කි:

i. පඬුරු පෙරහැර හා පඬුරු පිදීම

ii. පඬුරු මත යැදුම

## 4. ස්තෝත්‍ර යාගික පිළිවෙත



23.4 රූපය - ස්තෝත්‍ර යාගික යැදුමේ දී

මෙම පිළිවෙතේ ප්‍රධාන කොටස් 3කි.

1. ස්තෝත්‍ර යාගික යැදුම
2. ස්වාමිවාක් ආරාධනාව, සාමය පැතීම හා පූප කැඩීම
3. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දානය කිරීම හා බොදුනෙන් පසු යැදුම

- ස්තෝත්‍ර යාගික යැදුම

  දිව්‍ය පූජාවේ ප්‍රධානතම යාච්ඤාව මෙය යි. සම්පූර්ණයෙන් ම දෙවියන් වහන්සේ වෙත යොමු වන යාච්ඤාවකි. පුත්‍රයාණන් වහන්සේ මගින් ශුද්ධාත්මයාණන් වහන්සේගේ සහභාගීකමෙන් කෙරෙන යාච්ඤාවකි.

- ස්වාමිවාක් ආරාධනාව

  අති උතුම් පළමුවන ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා විසින් මෙම යැදුම (ස්වාමිවාක් ආරාධනාව) ස්තෝත්‍ර යාගික පිළිවෙතේ වර්තමාන ස්ථානයට ගෙන එන ලදි.

- **සාමය පැතීම**

ක්‍රිස්තුන් වහන්සේ තමන් වහන්සේගේ උත්ථානයෙන් පසු ව තම ශ්‍රාවකයන්ට දර්ශනය වී උත්ථානයේ සදාතනික සාමය ප්‍රාර්ථනා කළ සේක. අපි එකිනෙකා ප්‍රාර්ථනා කරන්නේ ක්‍රිස්තුන් වහන්සේගේ උත්ථානයේ බලමහිමයෙන් පරිසමාප්ත වූ සාමය යි.

- **පූප කැඩීම**

පූප කැඩීමෙන් සංකේතවත් කරන්නේ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ තමන් වහන්සේ ව ම කඩා බෙදා දුන් බව යි.

- **දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනය**



23.5 රූපය - දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දානය කිරීම

දිව්‍ය සත්ප්‍රසාදීය භෝජනය අනුභව කිරීම නිසා එක ම සංඝයක, පවුලක සාමාජිකයන් බවට පත්වෙයි. යුගාන්තයේ මහා මංගල භෝජනයට මෙය පෙරහුරුවක් ලෙස ද සලකනු ලබයි. මෙම භෝජනය විශ්ව කතෝලික සභාව සමග සහභාගිකමේ සංකේතයක් සනිටුහන් කරයි.

## 5. ධර්මදූත කාර්ය සඳහා පිටත් කර යැවීමේ පිළිවෙත

අවසාන ආශිර්වාදයෙන් අප ව පිටත් කර යවන්නේ ධර්මදූත ක්‍රියාවලියකට ය. දේව වචනයට සවන් දී, ක්‍රිස්තුන් වහන්සේගේ ශ්‍රී ශරීරයෙන් පෝෂණය වී, ශුද්ධාත්මික ක්‍රිස්තු දේහයට සාංඝික වූ අපි, පිටත් ව යන්නේ, ක්‍රිස්තුන් වහන්සේගේ ප්‍රේමයේ පණිවුඩය අපගේ එදිනෙදා ජීවිතය තුළ ජීවත් කරන්නට ය.

දිව්‍ය පූජාවේ දී දක්නට ලැබෙන මූලසුනේ යැදුම් 3කි.

1. පොදු යැදුම
2. පඬුරු මත යැදුම
3. බොදුනෙන් පසු යැදුම

## ක්‍රියාකාරකම

1. දිව්‍ය පූජාවේ ප්‍රධාන කොටස් **දෙක** කවරේ ද?
2. දිව්‍ය පූජාවේ පිළිවෙත් නම් කරන්න.
3. ආරම්භක පිළිවෙතේ අනු කොටස් නම් කරන්න.
4. දිව්‍ය පූජාවේ ප්‍රධානතම යාච්ඤාව කුමක් ද ?
5. දිව්‍ය පූජාවේ පහත දක්වා ඇති අවස්ථාවල දී යොදා ගත හැකි ගීතිකා **දෙක** බැගින් සඳහන් කරන්න.
   අ) ඇතුළුවීමේ පෙරහැර
   ආ) පඬුරු පෙරහැර
   ඇ) දිව්‍ය භෝජනය අනුභව කිරීමේ දී
   ඈ) දිව්‍ය පූජාව අවසානයේ දී
6. පහත සඳහන් මාතෘකා යටතේ විශ්වාසකයින්ගේ යාච්ඤාව බැගින් නිර්මාණය කරන්න.
   (i) සාන්ත සභාවේ අවශ්‍යතා උදෙසා
   (ii) ලෝකයේ ගැලවීම හා ජන නායකයින් උදෙසා
   (iii) පීඩිත අය උදෙසා
   (iv) මීසමේ සැදැහැවත් ජනතාව උදෙසා
7. දිව්‍ය පූජා මෙහෙය අර්ථවත් කර ගැනීම සඳහා ඔබට කළ හැකි යෝජනා **පහක්** සඳහන් කරන්න.



*ජීවිතය සඳහා*

*නිසි සූදානමකින් හා බැති සිතින් දිව්‍ය පූජාවට සහභාගී වෙමු; දෙවියන් වහන්සේ ව මුණ ගැසෙමු. සුවය, සැනසුම, සතුට හා සාමය අත්දකිමු.*

# 24 උත්තම පූජක යාච්ඤාව



24.1 රූපය - ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ තම ශ්‍රාවකයන් පිරිවරාගෙන අන්තිම රාත්‍රී භෝජනය වළඳන අවස්ථාව

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ අන්තිම රාත්‍රී භෝනයේ දී කාර්යයන් කිහිපයක් කළ සේක:

1. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කිරීම
2. පූජකවරය ස්ථාපිත කිරීම
3. අපෝස්තුලුවරුන්ගේ පාද දෝවනය කිරීම
4. උත්තම පූජක යාච්ඤා භාවිත කරමින් දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කිරීම.

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ අන්තිම රාත්‍රී භෝජන අවස්ථාවේ දී තමන් වහන්සේගේ ශ්‍රාවකයන් ව ද පිරිවරා ගෙන ස්වර්ගීක පියාණන් වහන්සේට කළ යාච්ඤාව උත්තම පූජක යාච්ඤාව යි. එය ජොහන් 17හි සඳහන් වේ. එය තුළ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දූත මෙහෙවර කැටි කර ඇත. උත්තම පූජක යාච්ඤාව පුරා දිවයන එක් ප්‍රධාන තේමාවක් වන්නේ එකමුතුකම යි.

උත්තම පූජක යාච්ඤාව කොටස් 3කින් සමන්විත වේ.

## 1 කොටස : තමන් වහන්සේ වෙනුවෙන් යාච්ඤා කිරීම

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ පියාණන් වහන්සේ වෙතින් මෙලොවට පැමිණ තම දූත කාර්ය සමාප්තියට පමුණුවා ඇති නිසා පුත්‍රයාණන් වහන්සේ ව මහිමයට පමුණුවන ලෙස යාච්ඤා කරයි:

ජේසුස් වහන්සේ මේ දේවල් වදරා, ස්වර්ගය දෙසට ඇස් ඔසවා මෙසේ යාච්ඤා කළ සේක: "පියාණෙනි, දැන් නියමිත මොහොත පැමිණ තිබේ. පුත්‍රයාණන් විසින් ඔබ මහිමයට පමුණුවනු ලබන පිණිස, ඔබ ද පුත්‍රයාණන් මහිමයට පැමිණෙව්ව මැනව. මන්ද, ඔබ විසින් පුත්‍රයාණන්ට දෙන ලද සියල්ලන් හට සදතන ජීවනය දෙන පිණිස, සකල මනුෂ්‍ය වර්ගයා කෙරෙහි ආධිපත්‍යය ඔබ වහන්සේ පුත්‍රයාණන්ට දුන් සේක. සදතන ජීවනය මේ ය: එක ම සැබෑ දෙවියන් වන ඔබ ද, ඔබ විසින් එවන ලද තැනැත්‍ වහන්සේ වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ද, දැන ගැනීම ය. ඔබ වහන්සේ මට භාර දුන් මෙහෙය සම්පූර්ණ කරමින් මම මිහි පිට ඔබ මහිමයට පැමිණිවීමි. ඉතින් පියාණෙනි, ලොව ඇති වන්නට පෙර ඔබ හා සමඟ මට තිබුණු තේජශ්‍රීයෙන්, දැන් ඔබ ඉදිරියෙහි මා තේජශ්‍රීයට පැමිණෙව්ව මැනව.

(ජොහන් 17:1-5)

## 2 කොටස : ශ්‍රාවකයන් වෙනුවෙන් යාච්ඤා කිරීම

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ තෝරාගත් ශ්‍රාවකයන් අයිති දෙවියන් වහන්සේට ය. ඔවුන් ව ජේසුස් ක්‍රිස්තුන් වහන්සේට තෝරා දුන්නේ දෙවියන් වහන්සේ ය. ඒ නිසා එම ශ්‍රාවයන් ව ආරක්ෂා කරන ලෙස ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේට යාච්ඤා කළ සේක:

ඔබ වහන්සේ ලෝකයෙන් වෙන් කොට මට දුන් මිනිසුන් හට ඔබගේ නාමය මම ප්‍රකාශ කෙළෙමි. ඔව්හු ඔබට අයිති වූහ. ඔබ ඔවුන් මට දුන් සේක. ඔව්හු ඔබගේ දහම පිළිපැද්දහ. ඔබ මට දුන් සියල්ල ම ඔබගෙන් පැමිණි බව දැන් ඔව්හු දනිති. මන්ද, ඔබ මට පැවසූ වචන මම ඔවුන්ට පැවසීමි. ඔව්හු එය පිළිගෙන මා ඔබ වෙතින් පැමිණි බව සැබවින් ම දැන, ඔබ මා එවා වදාළ බව විශ්වාස කරති. මම ඔවුන් උදෙසා යාච්ඤා කරමි. ඔබ මට දුන් ඔවුන් උදෙසා මිස, ලෝකයා උදෙසා යාච්ඤා නොකරමි. මන්ද, ඔව්හු ඔබගේ ය. මා සන්තක සියල්ල ඔබගේ ය; ඔබ සන්තක සියල්ල මාගේ ය. ඔවුන් තුළින් මම තේජශ්‍රීයට පැමිණ සිටිමි. මම තවත් ලෝකයෙහි නොසිටිමි. එහෙත් ඔව්හු ලෝකයෙහි සිටිති. මම ඔබ වෙතට එන්නෙමි. සුවිශුද්ධ පියාණෙනි, අප මෙන් ඔවුන් ද ඒකත්වයක් වන පිණිස, ඔබ මට දුන් ඔබගේ නාමයේ අනුහසින් ඔවුන් ආරක්ෂා කළ මැනව. මම ඔවුන් සමඟ සිටිය දී ඔබ මට දුන් ඔබගේ නාමයේ අනුහසින් මම ඔවුන් ආරක්ෂා කෙළෙමි. මම ඔවුන් සමඟ සිටිය දී ඔබ මට දුන්

ඔබගේ නාමයේ අනුහසින් මම ඔවුන් ආරක්ෂා කෙළෙමි. මම ඔවුන් රැකබලාගතිමි. ශුද්ධ ලියවිල්ල සම්පූර්ණ වන පිණිස, විනාශයේ පුත්‍රයා හැර අන් කිසිවෙක් විනාශ නොවූහ. එහෙත් දැන් මම ඔබ වෙතට එමි. මා ලෝකයෙහි දී මේ දේවල් ප්‍රකාශ කරන්නේ, මාගේ ප්‍රීතිය ඔවුන් තුළ සම්පූර්ණයෙන් ම ඇති වන පිණිස ය. මම ඔවුන්ට ඔබගේ දහම දුනිමි. මා ලෝකයට අයිති නොවන සේ ම, ඔවුන් ද ලෝකයට අයිති නොවන බැවින්, ලෝකයා ඔවුන්ට ද්වේෂ කළහ. ඔබ ලෝකයෙන් ඔවුන් වෙන් කරන මෙන් මම යාච්ඤා නොකරමි; නපුරාගෙන් ඔවුන්ගෙන් ආරක්ෂා කරන මෙන් යාච්ඤා කරමි. මා ලෝකයෙන් නොවන්නාක් මෙන් ම ඔව්හු ද ලෝකයෙන් නොවෙති. සත්‍යයෙහි ඔවුන් කැප කළ මැනව; සත්‍යය නම් ඔබගේ ධර්මය ය. ඔබ මා ලෝකයට ඒවා වදාළාක් මෙන්, මම ද ඔවුන් ලෝකයට යැවීමි. ඔවුන් සත්‍යයට කැප වන පිණිස, මම ඔවුන් උදෙසා කැප වෙමි. (ජොහන් 17:6-19)

## 3 කොටස : අනාගත සභාවේ එකමුතු ව වෙනුවෙන් යාච්ඤා කිරීම

ශ්‍රාවකයන් මගින් අනාගතයේ දී ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ව තවත් බොහෝ දෙනෙක් හඳුනා ගනු ඇත. එහෙත් ඔවුන් අතර භේද හටගෙන ශුද්ධ වූ සභාව කොටස්වලට කැඩී යනු ඇත. එය ඔවුන් වහන්සේ දැන සිටි සේක. එබැවින් ඒ සියලු ම දෙනා එකමුතු කරන ලෙස ඔවුන් වහන්සේ පියාණන් වහන්සේට යාච්ඤා කළ සේක.

මොවුන් ගැන පමණක් නොව, මොවුන්ගේ වචනය කරණකොටගෙන මා අදහාගන්නා අය ගැනත් යාච්ඤා කරමි. පියාණෙනි, මා මෙසේ යාච්ඤා කරන්නේ ඔබ මා තුළ ද මා ඔබ තුළ ද සිටින්නාක් මෙන්, ඔවුන් ද අප තුළ ඒකත්වයක් වන පිණිසත්, ඔබ මා එවා වදාළ බව ලෝකයා විශ්වාස කරන පිණිසත් ය. අප ඒකත්වයක් ව සිටින්නා සේ ම, ඔවුනුත් ඒකත්වයක් වන පිණිස ඔබ මට දුන් තේජශ්‍රීය මම ඔවුන්ට දුනිමි. මෙසේ කෙළේ, මා ඔවුන් තුළ ද ඔබ මා තුළ ද සිටීමෙන්, ඔවුන් සම්පූර්ණ ලෙස ඒකත්වයට පැමිණෙන පිණිසත්, ඔබ මා එවා වදාළ බව ද, ඔබ මට ප්‍රේම කළාක් මෙන් ඔවුන්ටත් ප්‍රේම කළ බව ද ලෝකයා දැනගන්නා පිණිසත් ය"

"පියාණෙනි, ලෝකය මැවීමට පෙර ඔබ මට ප්‍රේම කළ නිසා මට පැවරූ තේජශ්‍රීය, ඔබ මට දුන් අය විසින් දකින පිණිස, මා සිටින තැන ඔවුනුත්

සිටිනවාට කැමැත්තෙමි"

"ධාර්මික පියාණෙනි, ලෝකයා ඔබ දැනගත්තේ නැත. එහෙත් මම ඔබ දැනගතිමි. තවද, ඔබ මා එවා වදාළ බව මොවුහු දනිති. ඔබ මට දැක් වූ ප්‍රේමය ඔවුන් තුළ වන පිණිසත්, මා ද ඔවුන් තුළ වන පිණිසත්, ඔබගේ නාමය ඔවුන්ට දන්වා වදාළෙමි. තවත් දන්වා වදාරන්නෙමි."

(ජොහන් 17:20-26)

## කිතුනු සභා එකමුතුව

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ දන සිටි ලෙස ම කාලයාගේ ඇවෑමෙන් ශුද්ධ වූ සභාව කොටස්වලට බෙදී වෙන් වී ඇත. එම කිතුනු සභා ප්‍රධාන වශයෙන් කොටස් දෙකකට බෙදිය හැකි ය.

1. පිළිගත් කිතුනු සභා
2. මූලධර්මවාදී සභා

**කතෝලික සභාව පිළිගත් සභා 7කි.** ඒවා නම්;

1. ලංකා සභාව (එංගලන්ත සභාව/ඇංග්ලිකන් සභාව)
2. මෙතෝදිස්ත සභාව
3. බැප්ටිස්ට් සභාව
4. ඕලන්ද රෙපරමාදු සභාව (ක්‍රිස්තියානි රෙපරමාදු සභාව)
5. ප්‍රෙස්බිටේරියන් සභාව
6. දකුණු ඉන්දියානු සභාව
7. ග්‍රීක ඕතඩොක්ස් සභාව

ගැලවීමේ සැලැස්ම මානව සංහතිය පුරා යුගාන්තය දක්වා සිදුවන පිණිස මිහිපිට ගැලවීමේ සළකුණක් ලෙස, ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ විසින් ශුද්ධ වූ පේදුරු අපෝස්තුලුතුමන්ගේ නායකත්වයෙන් ම ශුද්ධ වූ සභාව ස්ථාපිත කළ සේක. ඔවුන් වහන්සේ ස්ථාපිත කළේ එක් ශුද්ධ වූ සභාවකි, සභා කිහිපයක් නොවේ. මෙම ශුද්ධ වූ සභාවේ බෙදීම් ඇතිවීම ඔවුන් වහන්සේගේ අභිමතය නොවී ය. ඉතිහාසය පුරාවට සිදු වූ සභා බෙදීම් අධ්‍යයනය කරන කල විවිධ හේතූන් මත එම බෙදීම් සිදුවුණු බව පසක් වුව ද ඊට අදාළ පොදු සාධකය වන්නේ, මනුෂ්‍යයන්ගේ දුර්වලකම් හා පව්කාරී ස්වභාවය යි. උත්තම පූජක යාච්ඤාවේ දී ඔවුන් වහන්සේ පියාණන් වහන්සේට යාච්ඤා කළේ, අනුගාමිකයන් සැමගේ එකමුතුකම හා ඒකත්වය වෙනුවෙනි (ජොහන්17:20-21). එසේ නම්, වර්තමානයේ විවිධ සභාවලට හා කණ්ඩායම්වලට බෙදී වෙන්වී එක ම ක්‍රිස්තුන් වහන්සේ අදහමින් සුබාරංචියට සාක්ෂි දරණ ක්‍රිස්තු අනුගාමික අප සැමගේ වගකීම වන්නේ, "අපෝස්තුලුවරුන්ගෙන් පැවත එන එක ම ශුද්ධ වූ කතෝලික (විශ්ව) සභාවක්" ස්ථාපිත කිරීමට කටයුතු කිරීම යි.

ඒකත්වයෙන් ඔවුන් වහන්සේට සාක්ෂි දැරීම යි. එය කළ හැකි වන්නේ, "කිතුනු සභා සංවාදය" (Ecumenism) තුළිනි. කතෝලික සභාව දෙවන වතිකාන මන්ත්‍රණ සභාව මගින් කිතුනු සභා සමගිය වෙනුවෙන් ප්‍රකාශන 2ක් නිකුත් කර ඇත. ඒවා නම්,

1. පෙරදිග කතෝලික සභා පිළිබඳ නියෝගය
2. කිතුනු සභා ඒකත්වය නගාලීමේ නියෝගය

කිතුනු සභා සංවාදයේ ප්‍රතිඵලයක් ලෙස, කිතුනු සභා එකමුතුව සඳහා මෑත කාලයේ දී ගත් පියවර කිහිපයකිඃ

- සෑම වසරක ම ජනවාරි මාසයේ 18-25 දක්වා සභා සමගිය උදෙසා යැදුම් සතියක් (කිතුනු සභා සමගි සතිය) පැවැත්වීම
- ආගමික, සාමාජයීය කටයුතුවල දී සුහදතාවයෙන් කටයුතු කිරීම
- දේවධාර්මික එකඟතා මුල් කරගෙන සිදුවන ශාස්ත්‍රීය සහ ධාර්මික සාකච්ඡා හා සංවාදවලට සහභාගි වීම
- ශ්‍රී ලංකා කතෝලික රාජගුරු මණ්ඩලය සහ පිළිගත් කිතුනු සභා එකඟත්වයෙන් 1983 දී නව සිංහල ශුද්ධ බයිබලය දොරට වැඩීම.

**ක්‍රියාකාරකම**

1. ජොහන් 17:1-26 පාඨය දෙවරක් හොඳින් කියවා මෙනෙහි කරන්න. ඒ අනුව ඔබට අයිති වූ දේව පණිවිඩ **තුනක්** ලියා දක්වන්න.
2. උත්තම පූජක යාච්ඤාවේ ප්‍රධාන කොටස් **තුන** ලියා දක්වන්න.
3. කිතුනු සභා සමගිය සඳහා ක්‍රියාත්මක පියවර **දෙකක්** ලියන්න.



*ජීවිතය සඳහා*
*පිළිගත් සභා සාමාජිකයන් සමඟ සහජීවනයෙන් කටයුතු කරන්න*

# 25 මල් උයනේ යාච්ඤාව



25.1 රූපය - ජේසුස් වහන්සේ ගෙත්සෙමනෙ (මල්) උයනේ යාච්ඤා කිරීම

ඇග්නස් - ආනේ තෙරේසා! හරි ලස්සන පින්තූරයක්. මොකට ද මේක ගෙනාවේ?

තෙරේසා - අද අපේ පාඩම මල් උයනේ යාච්ඤාව නේ, ඒ නිසයි මේක ගෙනාවේ. ජේසු එදා මල් උයනේ යාච්ඤා කළ ආකාරයයි මේ පින්තූරයෙන් දැක්වෙන්නේ.

ඇග්නස් - එතකොට ජේසු තනියම ද මල් උයනේ යාච්ඤා කරන්නට ගියේ?

තෙරේසා - අපෝ නෑ, එදා ඔවුන් වහන්සේ අපෝස්තුලුවරුන් කැඳවාගෙන තමයි ගෙත්සෙමනෙ උයනට යාච්ඤා කරන්නට වැඩියේ. අපෝස්තුලුවරුන් අතරින් පේදුරු තුමා, ජාකොබ් තුමා හා ජුවාම් තුමා අනිත් අයට වඩා ජේසුස් ක්‍රිස්තුන් වහන්සේට ආසන්නයේ සිට යාච්ඤා කරන්නට ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ උපදෙස් දුන්නා. ඒත් ඒ අය කළේ හොඳට නිදි ගත්ත එක.

ඇග්නස් - අනේ ඇත්ත ද? මමත් ගොඩාක් දවස්වලට යාච්ඤා කරන්නේ නැති ව කම්මැලිකමට නිදා ගන්නවා, ඔයාත් එහෙම ද?

තෙරේසා - මම නම් හැමදාම කොන්තෙ අරගෙන ජපමාලය කියලා තමයි නිදා ගන්න යන්නේ. එදා ජේසුස් වහන්සේ මල් උයනේ දී තුන් වරක් යාච්ඤා කරන්නට කියලා ශ්‍රාවකයන් තුන් දෙනාට උපදෙස් දුන්නත් එම අවස්ථා තුනේ දී ම ඔවුන් යාච්ඤා නොකර නිදා ගත්තා.

ඇග්නස් - මමත් ඔයා වගේ අද ඉඳලා හැමදාම කොන්තේ කියන්න උත්සාහ කරනවා.

තෙරේසා - මතකද ඔයාට අපේ ආගම ටීචර් කිව්වා, සැම අවස්ථාවක දී ම අතපසු නොකොට යාච්ඤාවේ නිරත වීම දේව දරුවෙකුගේ ලක්ෂණයක් කියලා.

ඇග්නස් - අන්න ටීචර් එනවා පන්තියට....... අපි ටීචර්ගෙන් මල් උයනේ යාච්ඤාව ගැන තව දුරටත් ඉගෙන ගනිමු.

මල් උයනේ යාච්ඤාව (මාක් 14:32-42) මගින් අපට ඉදිරිපත් කරන ප්‍රබල පණිවිඩය වන්නේ, ජීවිතයේ සැම වැදගත් අවස්ථාවකට ම යාච්ඤාවෙන් සූදානම් විය යුතු බව ය. මල් උයන කියන්නේ, ගෙත්සෙමනෙට ය. එය ජෙරුසලම් නගරයට මුහුණලා ඔලීව කන්දෙහි බටහිර බෑවුමෙහි පිහිටා තිබිණි. ජේසුස් වහන්සේ උත්තම පූජක යාච්ඤාවෙන් පසු (ජොහන් 18:1) ශ්‍රාවකයන් සමඟ ගෙත්සෙමනි නම් වූ තැනට පැමිණ, ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ශ්‍රාවකයන් අමතා මෙසේ වදාළ සේක:

"මා යාච්ඤා කරන අතර, ඔබ මෙහි සිටින්න"
(මාක් 14:32)

"මැරෙන තරමට මාගේ සිත අතිශයින් ශෝකාකුල ය; මෙහි නැවතී අවදි ව සිටින්න"
(මාක් 14:34)

ඔවුන් වහන්සේ මඳක් පෙරට ගොස් මුණින් තලා වී දෙවි පියාණන් වහන්සේට මෙසේ යාච්ඤා කළ සේක:

"අබ්බා, පියාණෙනි, ඔබට සියල්ලක් ම හැකි ය; මේ කුසලාන මා කෙරෙන් ඉවත් කළ මැනව; එහෙත් මාගේ කැමැත්ත නොව, ඔබගේ කැමැත්ත වේවා"
(මාක් 14:36)

මල් උයනේ යාච්ඤාවෙන් පෙන්නුම් කරන කරුණු 3කි.

1. ජේසුස් වහන්සේගේ සැබෑ මනුෂ්‍යත්වය
2. දෙවියන් වහන්සේ හා ක්‍රිස්තුන් වහන්සේ අතර ඇති සබැඳියාව
3. ඔවුන් වහන්සේගේ දුක්ප්‍රාප්තිය

ජේසුස් වහන්සේ මල් උයනේ යාච්ඤාව තුළින් දේව සැලසුම ක්‍රියාත්මක කිරීමටත් ඒ සඳහා මුහුණ දීමටත් අවශ්‍ය ශක්තිය ලබා ගත් සේක. එහෙත් අපෝස්තුලුවරුන් යාච්ඤාවෙන් ශක්තිය ලබා නොගත් නිසා පරීක්ෂාවට වැටුණි. ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ව අත්අඩංගුවට ගැනීමට පැමිණි අවස්ථාවේ දී;

- ඔවුන් වහන්සේ ව අතහැර පලායාම
- උත්තම පූජකවරයාගේ දාසයා වූ මල්කුස්ගේ කණ කපාලීම
- පේදුරු තුමා තෙවරක් ඔවුන් වහන්සේ ව නාදුනන බව ප්‍රකාශ කිරීම

නිදර්ශන ලෙස දැක්විය හැකි ය.

ජේසුස් වහන්සේගේ දුක්ප්‍රාප්ති විස්තරයෙහි ඇති වැදගත් ස්ථානයක් ගෙත්සෙමෙනි අත්දැකීමට හිමි වේ.

දෙමාපියන් සමඟ දරුවන් කතා කරන්නා සේ, දෙවියන් වහන්සේගේ දරුවන් ලෙස අපට දෙවියන් වහන්සේ සමඟ කතා කළ හැකි ය. දේව පුත්‍රයාණන් වූ ක්‍රිස්තුන් වහන්සේ හැකි සෑම අවස්ථාවක දී ම පියාණන් වහන්සේට යාච්ඤා කළ සේක. යාච්ඤාව කිතුනු ජීවිතයේ අනිවාර්යය අංගයක් විය යුතු ය. කිතුනු ජීවිතය රඳා පවතින්නේ යාච්ඤාව මත ය. යාච්ඤාව සඳහා ම සුදුසු පරිසරයක් සහිත ස්ථානයක් තමන්ගේ නිවසේ, කාමරයේ සකස් කර ගන්නේ නම් අපගේ යාච්ඤාවේ ජීවිතයට එය හොඳ උදව්වක් වේවි.



25.1 රූපය - යාච්ඤා කිරීම

→ යාච්ඤාව මගේ ජීවිත පැවත්මේ දෛනික කාර්යයක්, පුරුද්දක් බවට පත්කර ගනිමි.

→ පවුලක් ලෙස එකට එකතු වී ජපමාලය දිනපතා උච්චාරණය කරමි.

→ ශුද්ධ වූ පැය හා යාච්ඤා මෙහෙයන් තුළ නිරත වීමෙන් මාගේ ආධ්‍යාත්මික ජීවිතය වර්ධනය කර ගනිමි.

→ සෑම දිනක ම නියමිත වේලාවකට යාච්ඤා කිරීමට පුරුදු වෙමි.

## ක්‍රියාකාරකම

1. "යාච්ඤාවෙන් සවිය ලබා දුර්පරීක්ෂාවෙන් ජය ගනිමු" යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.
2. මල් උයනේ යාච්ඤාවේ අන්තර්ගත කරුණු තුන කවරේ ද?
3. මාක් 14:36 පාඨය දෙවරක් හොඳින් කියවා මෙනෙහි කරන්න. ඒ අනුව ඔබට අයිති වූ දේව පණිවිඩය ලියා දක්වන්න.
4. දුර්පරීක්ෂාවලින් ජය ගැනීමට අවශ්‍ය ශක්තිය ඉල්ලා කිව හැකි යාච්ඤාවක් නිර්මාණය කරන්න.

*ජීවිතය සඳහා*

*දුර්පරීක්ෂාවෙන් ජයගැනීමට දිනපතා පවුලක් ලෙස එකට යාච්ඤා කරන්න*

23.1, 23.2, 23.3, 23.4, 23.5, 25.1 යන රූප සටහන් හැර අනිකුත් රූප සටහන් අන්තර්ජාලය ඇසුරින් ලබා ගන්නා ලදී.